සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2559ක් වූ උඳුවප් මස (ව්‍යවහාරික වර්ෂ 2015 දෙසැම්බර්)

51 වෙනි කලාපය



## යළි පහළ වූ ස්වයංජාත ඇල් සහලේ වටිනාකම පර්යේෂණයකින් හෙළි වෙයි...

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-



# සමනල පුරාණය...

මිහිඳු හිමි වැඩම කළ කාලයට පෙර
සුමන නමැති පාලකයෙකු කුළුණු බර
වැඩ විසූ වගයි යහ ගුණ දම් දියුණු කර
සමනල අඩවියයි මොහු විසූ දැහැමි පුර

සුමන මෙම උවසු කළ ඇරයුම පරිදි
බුදු හිමි සිරි පතුල එහි තැබූ බව පෙරදී
අදහති බොදුනුවෝ හෙළ වහරෙහි පැහැදී
එම අදහසට අන් හැම මතයම පරදී

මොහු මියගිය පසුව ජනයා සැදැහැ සිතින්
දෙවියෙකු විලස සලකා මොහු පිරුණු මෙතින්
සුමන සමන් දෙවි ලෙස ගරු කරති බැතින්
එපරිදි පිහිට යැද සිරි පද වඳිති නිතින්

සමන් දෙවිඳු මෙත් කරුණා ගුණ රැන්දූ
සමනල රකිති සත හට සුව සෙත කැන්දූ
ගිරි කුළ සමන් විසිතුරු මන දොල බැන්දූ
ගරු සරු කරති බොදු කිතු යෝනක හින්දූ

සැම දෙන හඟිති සිරි පද තම මුනිඳුන්ගේ
බුදු සිරි පතුල බව හැඟුමයි බොදු වන්ගේ
මහ අසිරියකි සැලකිලි හැම මිනිසුන්ගේ
මෙය හුදු හාස්කම විය හැක දෙවියන්ගේ

මහවැලි කැළණි වැනි ගංගා ඇද හැලෙන
ගහ කොළ සතා සිව්පාවා දිවි ගෙවන
වියතුන් දෙස් විදෙස් ගරු සැළකිලි පුදන
ලොව උරුමයකි අද සිරි පද කඳු මුදුන



පබැඳුම - පානදුරේ එස්.ඒ.එස්. පෙරේරා

# ධම්ම පදය තුලින් නිවන් මග

**18 වන කොටස**



ධම්ම පදයේ ක්‍රෝධ වර්ගයේ එන ගාථාවන් ගැන තමයි මේ විග්‍රහ කරන්න යන්නෙ. මේ කොටසට අයිති වෙන්නෙ, කෙනෙකුට ඇතිවන ක්‍රෝධය, එහෙම නැත්නම් අධික තරහ නිසා කරන කියන දේවල්වලින් ඇති වෙන නරක විපාකත්, ඒ තරහ වළක්වා ගන්න පුළුවන් වුනාම ඇති වෙන හොඳ විපාකත් ගැන.

මේ වර්ගයේ එන පළමු ගාථාව දේශනා කරන්න හේතුවක් තිබුණා. ඒකට මුල් වුනේ අනුරුද්ධ තෙරුන් වහන්සේගෙ නැගණියක්. ඇය නමින් රෝහිණී. ඇයට වැළඳී තිබුන කුෂ්ඨ රෝගයක් නිසා කිසිම කෙනෙක් ඉදිරියේ පෙනී හිටින්න ආවෙ නෑ. දාන මාන දෙන තැනකට පවා ඇය ආවෙ නෑ. ඇගේ රෝගය දැනගත් අනුරුද්ධ තෙරුන් වහන්සේ, ඇයට උපක්‍රමයෙන් මහ කුසලයක් කරගන්න පුළුවන් තැනට ගෙනාවා. ඒ කියන්නෙ ඇය සතුව තිබ්ච්ච වටිනා ආභරණ විකුණල ඒ මුදලින් භික්ෂූණ් වහන්සේලාට ආසන මන්දිරයක් තැනෙව්වා. ඒ මන්දිරය ඇය ලවා දිනපතා අතුගාන්නත් සැලැස්සුවා. මේක මහා කුසලයක්. ඒ බලයෙන් ඇගේ රෝගය සනීප වුනා.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, එහෙම රෝගයක් සනීප වෙන්න පුළුවන්ද කියල. සමහර විට හිතෙන්න පුළුවන්, ඇයි අපි එහෙම කළාට අපිට හොඳක් වෙන්නෙ නැත්තෙ, අපිට දෙයක් හරියන්නෙ නැත්තෙ කියල. කුසලයක් කරන කොට ඒ කුසලය කිරීමට මූලික වන සිතක් තියෙනවා. මේ මූලික සිතේ බලය අනුව තමයි ඒ කුසලයේ බලය තීරණය වෙන්නෙ. හරියට, හරි මැද කැරකෙන්න පුළුවන් විදිහට හයි කරල තියෙන රෝදයකට අතින් දෙන බලය වගේ. දෙන බලයේ ප්‍රමාණය අනුව කැරකෙන වාර ගණන තීරණය වෙනවා. කුසල් කරන හිතත් ඒ වගේ. මූලිකවම එන්නෙ සතුටු සිතක්. සතුටු නොවී කුසල් කරන්න බෑ. මේ සතුටින් කරන, එහෙම නැත්නම් සතුටින් තියෙන සිතට කියනවා සෝමනස්ස සහගත සිත කියල. ඒ සතුටේ ප්‍රමාණය තීරණය වෙන්නෙ ඊළඟට ඒ සිතට එකතු වෙන දේ අනුව. ඒ සතුටට නුවණ එකතු වෙන්න පුළුවන්. නුවණ නැතුව වෙන්නත් පුළුවන්. මෙතනදි නුවණ කියල අදහස් කළේ මොකක්ද?

මම මේ මේ තරග විභාගවලින් සමත් වෙලා තියෙනවා, මට මෙච්චර උපාධි තියෙනවා, මමත් හොඳ නුවණ තියෙන කෙනෙක් .... ආදී වශයෙන් හිතෙන්න පුළුවන්. ඒ නුවණ ගැන නෙවෙයි මේ කියන්නෙ. ඔය ලෞකික නුවණ ඊළඟ තත්පරෙන් පැත්ත වැටුනම ඉවර වෙන්න පුළුවන්. එහෙම නැත්නම් එක පාරට පණ ගියාම ඉවර වෙන්න පුළුවන්. මෙතනදි නුවණ කියල කිව්වෙ දහම් අවබෝධය තුලින් එන නුවණ. එහෙම නැත්නම්, බුදුන් වහන්සේ කියන්නෙ කවුද, උන්වහන්සේ දේශනා කළ දහම මොකක්ද, ඒ දහම අනුගමනය කරල පූර්ණත්වයට පත්වුන සංඝයා වහන්සේලා කියන්නෙ කවුද කියන කාරණය යම් මට්ටමකින් හෝ තේරුම් ගන්න පුළුවන් නම් ඒකට තමයි මේ නුවණ කියල කියන්නෙ. ඒ නුවණ මරණින් කෙළවර වෙන එකක් නෙවෙයි. ඒ නුවණ එක එක මට්ටම්වලින් තියෙන්න පුළුවන්. අනේ ඒ උතුමන්ගෙන් කිසිම පවක් වෙන්නෙ නෑ කියන තැන ඉඳන්, සැරියුත් මහ රහතන් වහන්සේ නුවණින් දැක්ක තැනට යනකල් වෙන්නත් පුළුවන්. ඉතින් ගුණයක් දැකල, ගුණයක පිහිටල සතුටින් ඉන්න සිතට කියනවා සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත කියල. ඒ වගේ සිතකින් දෙන දෙයක් හරිම බලවත්. ඒ බලයත් එක් එක් පුද්ගලයා අනුව වෙනස් වෙන්න පුළුවන්. ඔය ක්‍රමයට තමයි පිනක හෝ කුසලයක බලය නැගෙන්නෙ.

ඉතින් මේ සිද්ධිය බුදුන් වහන්සේටත් දැනගන්න ලැබුණා. ඒ කුෂ්ඨ රෝගයට හේතුව, පෙර කරපු කර්ම විපාකයක් බවත් රෝහිණී කුමරියට බුදුන් වහන්සේ පෙන්වා දුන්නා. ඒ තමයි වෙනත් රූමත් කාන්තාවකට ක්‍රෝධයෙන් ඇගේ වස්ත්‍රවලට කහඹිලියා දැමීම. ඒ නිසා ඒ කාන්තාවගේ ශරීරය පුරාවට බිබිලි මතු වෙලා වේදනා විඳින්න වුනා. ඒ කර්මයේ විපාකය තමයි ඇයට ලැබුනෙ. ඉතින් මේ සිද්ධිය මුල් කරගෙන උන්වහන්සේ මේ ගාථාව දේශනා කළා.

> කෝධං ජහේ විප්පජහෙය්‍ය මානං
> සංයෝජනං සබ්බමතික්කමෙය්‍ය
> තං නාමරූපස්මිං අසජ්ජමානං
> අකිංචනං නානුපතන්ති දුක්ඛා

සරල සිංහල තේරුම,

යමෙක් යම් කිසි කරුණක් නිසා උපන් ක්‍රෝධය දුරු කරයිද, නව විධ මානය පහකරයිද, සියළු සංයෝජන ඉක්මවයිද ''මගේ රූපය, මගේ වේදනාව'' කියල නාම, රූප දෙකේ නොලැගගෙන, රාගාදී කෙලෙස් නැති ඒ පුද්ගලයා කෙරෙහි චෛතසික දුක් නො පවතියි.

කෙටියෙන් කියනව නම්, අරිහතුන් වහන්සේගෙ සුවය තමයි මේ ගාථාවෙන් උන්වහන්සේ ☞

විස්තර කරන්නෙ. මොකක් හරි හේතුවක් නිසා කෙනෙකුට තරහක් ආවොත්, අන්න ඒ ආපු තරහ දුරු කරන්න පුළුවන්නම්, ඊට පස්සෙ ලැබෙන ප්‍රතිඵල ගැන තමයි ගාථාවෙ ඉතුරු කොටසින් පෙන්වා තියෙන්නෙ. එක එක පුද්ගලයට එක එක විදිහට තරහ එන්න පුළුවන්. කෙනෙකුට තරහ එන දෙයක් තවත් කෙනෙකුට විනෝදයක් වෙන්න පුළුවන්. කොහොමද එහෙම කියන්නෙ? සාමාන්‍යයෙන් ඕනම කෙනෙකුට තියෙන්න පුළුවන් අත්දැකීමක් තමයි මේ විස්තර කරන්නෙ.

කුඩා ළමයි ටිකක් පාසැල් ඇරිල ගෙදර යන පාරෙ ලොකු ගෙයක් තියෙනවා. මේ ගෙදර ලොකු ගේට්ටුවක් දාල තියෙනවා. ඒ ගේට්ටුව එහා පැත්තෙ ලොකු නපුරු බල්ලෙක් ඉන්නවා. ඌ යන එන හැමෝටම බුරනවා. දැන් අර ළමයි යනකොටත් බුරනවා. ඒ ළමයි දන්නවා, මේ බල්ලට මෙහා පැත්තට ඇවිත් අනතුරක් කරන්න බෑ කියල. ඒ නිසා කිසි බයකුත් නෑ. ඉතින් මේ ළමයි මොකද කරන්නෙ, කෝටු කෑල්ලක් අරන් අර බල්ලට ගහන්න හදනවා, උසුළු විසුළු කරනවා. දැන් ඒ බල්ල තරහින් තව තවත් බුරනවා. ඒ සිද්ධිය දකින බල්ලගෙ ස්වාමියාටත් තරහ යනවා. හැබැයි ඒ ළමයින්ට කිසි තරහක් නෑ, හිනා වෙවී ඒ වැඩේම කරගෙන යනවා. එක් කෙනෙකුට විනෝදයක් ගෙන දෙන දෙයක් තවත් කෙනෙකුට තරහක් ගෙනාවා.

ඇයි අපිට තරහ යන්නෙ? මොකක්ද හේතුව? සරල පරීක්ෂණයක් කරල බැලුවොත්, අල්ලපු ගෙදර මනුස්සය ඇවිත් කියනවා, බලන්නකො අපේ ගෙදරට ගෙනාපු අලුත්ම රූපවාහිනිය මේ ළමයි සෙල්ලම් කරන්න ගිහින් ඇගේ වද්දල බිම වැට්ටුවනෙ කියල. ළමයින්ට දෙස් තිය තියා පුපුර පුපුර තමයි එහෙම කියන්නෙ. ඒකෙ කෑලි හැම තැනම විසිරිලා. දැන් අල්ලපු ගෙදර මනුස්සය පුපුර පුපුර හිටියට අපිට එහෙම වෙනවද? සමහර විට අපි උපදෙස් දෙන්නත් යනවා. රූපවාහිනිය වගේද ළමයි, හොඳ වෙලාවට ඒ ළමයින්ට අනතුරක් නොවුනෙ කියල උපදෙස් දෙන්නත් පුළුවන්. ඒත් රූපවාහිනිය අයිතිකාරයා එහෙම කියයිද? ඒ වෙනකොට අර ළමයින්ට හොඳටම ගහල තියෙන්නත් පුළුවන්.

රූපවාහිනිය කැඩුනා. ඒත් දෙන්නගෙ සිතිවිල්ල දෙවිදියක්. එහෙම වුනේ කොහොමද ? දෙන්නගෙන්ම ඇහුවොත්, කාගෙද රූපවාහිනිය කියල, අර ළමයින්ට ගහපු කෙනා කියයි ඒක මගේ රූපවාහිනිය කියල. අනෙක් කෙනාගෙන් ඇහුවොත්, අපෝ නෑ ඒක මගේ නෙවෙයි කියයි. එතකොට එකම රූපවාහිනිය කැඩීම සම්බන්ධයෙන්, මගේ කියපු කෙනාට තරහ ගියා, මගේ නෙවෙයි කියපු කෙනාට කිසි ගානක් නෑ. තවත් කෙනෙක් කියන්න පුළුවන්, ඒ රූපවාහිනිය වැඩක් නැති එකක් නෙ කැඩුනට මොකද කියල. දැන් අර දෙන්නගෙන් නැවතත් තරහ යන්නෙ කාටද? අර මගේ කියපු කෙනාට තරහ යනවා. මොන පිස්සුද ඔය රූපවාහිනිය කොච්චර වටින එකක්ද, මම පොළියට සල්ලි අරගෙනයි ඒක ගත්තෙ... ඔය වගේ දේවල් ඕන තරම් කියන්න පුළුවන්. දැන් අර තරහෙ ප්‍රමාණය ඒ වස්තුවට දීපු වටිනාකම අනුව, මගේ කියල අල්ල ගත්තු තරම අනුව තමයි තීරණය වෙන්නෙ. අනෙක් මනුස්සයට ඒක එයාගෙත් නෙවෙයි, ඒකට දීල තිබුන වටිනාකමකුත් නෑ. ඒ නිසා තරහකුත් නෑ. ඔය කිව්වෙ සරල උපමාවක්. ඒ අනුව තේරුම් ගන්න ඕන, මගේ කරගන්න, මම කරගන්න ගිහින් ඒ දේට විරුද්ධව යමක් ආවොත් තමයි තරහ හටගන්නෙ කියන කාරණය. 100% ක්ම මගේ කරගත්තොත්, ඒ මට්ටමට විරුද්ධව එන දේට ගැටෙනවා, තරහ එනවා.

දැන් එහෙම තරහ ගත්ත හෝ නොගත්ත කියල, ඒ ''මම'' කරගත්ත ''මගේ'' කරගත්ත දේවල් දිගටම ඒ විදිහටම තියෙනවද? අර රූපවාහිනිය කැඩුනෙ නෑ කියල හිතුවොත්, මිලදී ගත්ත දවසෙ හොඳ ලස්සනට තිබ්බ්ච රූපවාහිනිය මාස 6 ක් විතර යනකොට දූවිලි බැඳිල, සමහර විට වටේ තිබුන දිලිසෙන ගතිය පවා ටික ටික අඩු වෙනවා. අවුරුද්දක් දෙකක් තුනක් ගියාම ඊට වඩා ලාබෙට, ඊට වඩා හොඳ රූපවාහිනී යන්ත්‍ර වෙළඳපොළට ඇවිත් තියෙන්න පුළුවන්. දැන් අලුත් එක දැක්කම පරණ එකේ වටිනාකම අඩු වෙනවා. ඒ අලුත් එකක් ගත්තත්, ඒකටත් ඒකමයි වෙන්නෙ. මේක නවත්වන්න බෑ. ඒක තමයි ලෝක ධර්මතාවය. කොච්චර ''මගේ'' කිව්වත් ඒක නවත්වන්න පුළුවන්ද? එතකොට මේ දේවල්වලට පොදු ලක්ෂණයක් තියෙනවා. කොච්චර ආරක්ෂා කළත්, කවුරු හරි කඩල බිඳල දාන්න පුළුවන්. එහෙම නැත්නම් කාලයාගේ ඇවෑමෙන් ඉබේම කැඩිල බිඳිල යන්න පුළුවන්. මේ ක්‍රියාදාමය හරියට අවබෝධව තේරුම් ගත්ත දාට ඔය බාහිර භෞතික දේවල්වලට දීල තියෙන වටිනාකම් අඩු වෙනවා.

උදාහරණයක් විදියට 100% ක් වටිනාකම දීල තිබුන දෙයක්, අනේ ඇත්ත නේද කියල සත්‍යය දකල තේරුම් අරගෙන 99% කට අඩු වුනා කියල හිතමු. දැන් ඒ බාහිර දේට තිබ්බ්ච වටිනාකමින් 1% ක් අඩු වෙලා. එහෙම නැත්නම් ක්ෂය වෙලා ගිහින්. ඒත් එක්කම දැන හෝ නොදැන විශේෂ දෙයක් සිද්ධ වෙනවා. කලින් 100% ක් වටිනාකම තිබුන වෙලාවෙ, ඒ දේට විරුද්ධව යමක් ආවොත් ඒකට එන ද්වේශය හෝ ක්‍රෝධය හෝ තරහත් 100% ක්. ඒකෙ වෙනසක් නෑ. නමුත් දැන් 99% ක් වටිනාකම තියෙන දේකට එන ක්‍රෝධයත් 99% යි. ඊට වඩා එන්න හේතු නෑ. ඒ කිව්වෙ 1% ක් ක්‍රෝධයත් ක්ෂය වෙලා. ඒ වෙනුවට 1% ක ශාන්තියක්, සැනසීමක් හිතට එකතු වෙලා. 1% ක් දුක තුනී වෙලා.

ඉතින් මේ සැනසීම ගැන හිත හිතා ඒකටම හිත තියල, නිතර නිතර වටිනාකම දුන්නොත් ඒ අනුව එච්චර දුකක් එනවා. වටිනාකමක් නොදුන්නොත් ඒ දුක නෑ. ඔහොම විදර්ශනා කරගෙන යන ගමනෙදි ඒ වටිනාකම, දුක 80% - 70%... ආදී වශයෙන් ටික ටික ක්ෂය වෙලා ගිහින් බින්දුවටම බහිනවා. ඒ තමයි අරිහතුන් වහන්සේගෙ ස්වභාවය, උන්වහන්සේ විඳින සුවය. ඔය ටික තමයි ලොව්තුරා බුදුන් වහන්සේ රෝහිණී කුමරියට පෙන්වා දුන්නෙ. ඒ ගාථා අවසානයේ ඇය සෝවාන් වුනා.

මේ ක්‍රෝධය, තරහ පාලනය කරන්න පුළුවන් කෙනෙක් ඉන්නව නම් හරිම වටිනවා. කොටින්ම ඒ වගේ කෙනෙකුට ලොව්තුරා බුදුන් වහන්සේ පවා සාදු කාර දුන්න අවස්ථාවක් ධම්ම පදයේ සඳහන් වෙනවා. ඒ එක්තරා දේවතාවියකට වුන විපත්තියක් නිසා ඇතිවුන සිද්ධියක්. එදා බුදුන් වහන්සේ වැඩ හිටපු කාලයේ, සාසනයේ පැවිදි වුන භික්ෂුන් වහන්සේ නමක්, තමන් වහන්සේට ආවාසයක් හදාගන්න හොඳ ගහක් හොය හොය ඇවිද්දා. උන්වහන්සේ එක්තරා ගහක් ළඟ නැවතිලා, මේ ගහ නම් මගේ වැඩේට හොඳයි කියල පොරව අරන් කපන්න ගියා. ඒත් එක්කම ඒ ගහේ හිටපු දේවතාවියක් විලාප තියාගෙන වැඳ වැටුනා, අනේ මේ ගහ නම් කපන්න එපා මට යන්න තැනක් නෑ, මගේ මේ දරුවත් අරන් කොහේ යන්නද කියල. ඉතින් මේ දේවතාවිය අර දරුවව ගහේ අත්තක තියල තමයි එහෙම කිව්වෙ. නමුත් අර භික්ෂුන් වහන්සේ ඒක ඇහුවෙ නෑ, ගහේ අත්ත කපල දැම්මා. ඒත් එක්කම අර පොරෝ පහරින් දේවතාවියගෙ දරුවගෙ අතත් වෙන් වෙන්න කැපුනා.

මේ අවස්ථාවෙදි දරු සෙනෙහසත් එක්ක මහා කෝපයක් ඒ දේවතාවියට හටගත්තා. මම මේකව

මරනවා කියල අත උස්සන කොටම මතක් වුනා, මේ නම් බුද්ධ සාසනයේ භික්ෂූන් වහන්සේ නමක්, උන්වහන්සේගෙ ජීවිතය තොර කළොත් මට මේ මොහොතෙම අපාගත වෙන්න සිද්ධ වෙයි, ඊටත් එහා අනෙක් දෙවියන්ට මේ කාරණය දැන ගන්න ලැබුනොත් ඒ අයත් ගස් කපන ගානට මේ භික්ෂූන් වහන්සේලාව මරන්න ගනියි, ඒක නම් හොඳ වැඩක් නෙවෙයි කියල. ඒ නිසා මම මේ නඩුව උන්වහන්සේගෙ ගුරුවරයට කියනව කියල හිතාගෙන, හැඬූ කඳුලින් බොහොම ඉවසීමෙන් දරුවත් අරගෙන ලොව්තුරා බුදුන් වහන්සේ හමුවෙලා වෙච්ච සිද්ධිය මුල ඉඳන්ම කිව්වා. ඉතින් මේ කාරණය අහපු ලොව්තුරා බුදුන් වහන්සේ, සාදු සාදු ඔබ යහපතක්මයි කරගත්තෙ කියල ප්‍රසංසා කරල පහත ගාථාව දේශනා කළා.

යෝ වේ උප්පතිතං කෝධං
රථං භන්තංව ධාරයේ
තම්හං සාරථිං බ්‍රෑමි
රසමිග්ගාහෝ ඉතරෝ ජනෝ

සරල සිංහල තේරුම,

යමෙක් යම් කිසි කරුණක් නිසා තම සිතෙහි හටගත් ක්‍රෝධය, ඉතා වේගයෙන් දුවන රථයක් වළකා තමා කැමති තැනට හරවන දක්ෂ රියදුරකු මෙන් මැඩ පවත්වා ගනී ද, ඔහු නියම රියැදුරෙක් යැයි මම කියමි. රිය එළවන අන් ජනයා හුදෙක් තෝන් ලණුව අල්ලන්නෝය.

ලොව්තුරා බුදුන් වහන්සේ මෙතනදි ක්‍රෝධයට දුන්න උපමාව තමයි, කිසිම පාලනයක් නැතිව යන රථයක් වගේ කියල. එතනදි රථය කියල අර්ථ දැක්වුවෙ එදා තිබුන අශ්වයන් හෝ ගවයන් බඳින රථ. ඒ රථවල තෝන් ලණුව අල්ල ගෙන යන අය දක්‍ෂ රථාචාර්යවරු වෙන්න ඕන. වේගයෙන් යන්න ඕන වෙන කොට ලණුව වේගයෙන් උස් පහත් කිරීමත්, දකුණට හෝ වමට හරවන්න ඕන වෙන කොට ඒ පැත්තට ලණුව ගැස්සීමත් හරියට දැන ගෙන දක්‍ෂතාවයෙන් කරන්න ඕන. ඒක නොදන්න, එහෙම දක්‍ෂතාවයක් නැති අය තෝන් ලණුව අල්ල ගෙන හිටියට නිකං ලණුව පටලවා ගෙන ඉන්නව විතරයි.

අපට තේරන උපමාවක් ගත්තොත්, ඉතාම වේගයෙන් යන මෝටර් රථයක් ගැන හිතන්න පුළුවන්. එකපාරටම ඒකෙ පාලනය නැතුව යනවා. රියදුරාට කරගන්න කිසිම දෙයක් තේරෙන්නෙ නෑ. එතකොට මොකද වෙන්නෙ? ඒ මෝටර් රථය, ඉදිරියට එන සියලු දේ විනාස කරගෙන අවසානයේ ඒ රථයත් විනාසය කරා ගිහින් තමයි නවතින්නෙ. ක්‍රෝධයෙන් පිරුණු හිතත් අර මෝටර් රථය වගේ. රියදුරා දක්ෂ නැත්නම් කොහෙන් ගිහින් නවතියිද දන්නෙ නෑ. ඉතින් දක්ෂ රියදුරෙක් නම් මොකද කරන්නෙ, අර මෝටර් රථයෙන් ගිලිහී ගිය පාලනය ඉක්මනට සුක්කානම කරකවල, තිරිංග තද කරල තමන්ගෙ පාලනයට අරගෙන අවශ්‍ය තැනට ගෙනියනවා. තමන්ට ආපු ක්‍රෝධය වහා මැඩ පවත්වගන්න පුළුවන් කෙනා, අන්න ඒ දක්ෂ රියදුරාට සමාන කළා. කොහොමද ඒක කරන්නෙ? ඒකට අර දේවතාවිය වගේ දක්ෂ වෙන්න ඕන. උස්සපු අතින් නොගහ, නොමරා පහත දැම්මා. ඇයි ඒ ? දන්නව කාටද අත ඉස්සුවෙ කියල. මේ මහා ගුණයක් තියෙන කෙනෙක්, සංඝයා වහන්සේ නමක්. ඉක්මනටම මතක් වුනා, නිකං හරි මැරුම් කෑව නම්, මට කොච්චර කල් නිරයෙ ඉන්න වෙයිද දන්නෙ නෑ කියල. එතකොට විඳින්න තියෙන මහා දුක් කන්දරාව ඔළුවට ආවා.

ඒ වගේම තවත් විශේෂයක් හිතුවා. ඒ දේ කළොත් මම ලෝකයට, අනෙක් අයට නරක ආදර්ශයක් නේද දෙන්නෙ කියල හිතුවා. මම මේක කළොත් අනෙක් දෙවිවරුත්, ''ඇයි අර දෙවියත් මැරුවනෙ! අපි මැරුවම මොකද වෙන්නෙ'' කියල හිතයි කියල බය හිතුනා. ඒ කාරණා සේරම සිහි බුද්ධියෙන් හිතල තමයි තීරණයක් ගත්තෙ, මම මේකට මැදිහත් වෙන්නෙ නෑ, මම මේ අවනඩුව ගිහින් ඒ අයගෙ නායකයට කියනව කියල. අපටත් ඒක හොඳ ආදර්ශයක්. මුලින්ම ඒ කරන්න යන වැඩේ තමන්ට අවැඩක්ද, අසාධාරණයක්ද කියල හිතුවා. ඊට පස්සෙ ඒ කරන වැඩෙන් අනෙක් අයට නරක ආදර්ශයක් ගිහින් අවැඩක් අසාධාරණයක් වෙයිද කියල හිතුවා. එහෙමම වෙනව කියල සිහි බුද්ධියෙන් තීරණය කරපු නිසා ඒ වැඩේ නැවැත්තුවා. එහෙම කරන්න පුළුවන් අය, දක්ෂ රියදුරෙක් වාහනය ඕන අතට පාලනය කරනව වගේම, එහෙම බැරි අයට දුන්න උපමාව තමයි නිකන් තෝන් ලනුව අල්ලන් ඉන්න අය වගේ, එහෙම නැත්නම් නිකං සුක්කානම අල්ලගෙන ඉන්න අය වගේ කියල. වාහනය ඕන ඕන අතට ගිහින් අනුනුත් විනාස කරගෙන තමනුත් විනාස වෙනවා. ක්‍රෝධය පාලනය කරගන්න බැරි අයත් අන්න ඒ වගේ, අනුන්වත් විපතට පත් කරනවා, තමනුත් අවසානයේ විනාස වෙනවා.

ඒ වගේ බැරි වෙලාවත් අර ගහ කපන වෙලාවෙ ඒ දේවතාවිය සාප කළා නම් ඒ භික්ෂූන් වහන්සේට විනාසයක් වෙන්න තිබුණා. ඉතින් මේ කාරණය භික්ෂූන් වහන්සේලාට විතරක් නෙවෙයි කාට වුනත් එහෙමයි. ඒ නිසා ගිහි අය වුනත් ගස් කපන කොට ඒකට ක්‍රමවේදයක් තියෙනවා. ඒ වගේ ක්‍රම මීට පෙරත් මේ සඟරාවෙ පළ කරල තියෙනවා. ඒවා අනුගමනය කරලයි ගහක් වුනත් කපන්න ඕන. ඒ කියන්නෙ දෙවි දේවතාවුන් ඉන්න ගහක්ද කියල හොයල බලල ඒ අයගෙන් අවසර අර ගෙන, ඒ අයට වෙන ගහක් වෙන් කරල දීල, ස්තෝත්‍ර හෝ යාතිකා හෝ මොනව හරි ක්‍රම මගින් ඒ බව ඒ අයට දැනුම් දීල, ඒ ගහ ඒ අයට විමානයක් වේවා කියල පවරලයි තමන්ට අවශ්‍ය ගහ කපන්න ඕන. විශේෂයෙන් නුග, බෝ, නා, කුඹුක් වගේ ගස්වලට අධි ගෘහිත දේවතාවුන් බොහොමයක් ඉන්න නිසා ඒවා කපන්නෙ නෑ. යම් කිසි විදිහකට කපන්නම ඕන වුනොත් ඒ වගේ ගුප්ත ක්‍රම අනුගමනය කරන්න ඕන. නැත්නම් මහ සාපයක් වෙනවා.

විශේෂයෙන් මොනව හරි යෝගී භාවනා ක්‍රම හෝ සාස්තර ක්‍රම දන්න කෙනෙක්ගෙන් එහෙම දේවතාවුන් ඉන්නවද කියල දැන ගන්න පුළුවන්. එහෙම නැත්නම් සංඥා තුළින් තමන්ටම දැනෙනව නම් ඒ ක්‍රමයට දැන ගන්නත් පුළුවන්. එහෙම නැත්නම් ඉස්සර තවත් ක්‍රමයක් තිබුණා, ගහක් කපන කොට ගහට ගහක් හිටවල තමයි ගහ කපන්නෙ. විශේෂයෙන් පොල් ගහක් කපන්න ඕන නම් ඒ වෙනුවෙන් පොල් පැළයක් හිටවල පැළය පූදිනකල් ඉඳල තමයි ගහ කැපුවෙ. නමුත් ඉතින් අද ඉන්න හුගක් අය ඒව දන්නෙ නැති නිසා තමයි විවිධ විපත්වලට මුහුණ දෙන්නෙ. හැබැයි ඒකෙන් විපත් වුනයි කියල පිළිගන්නෙ නෑ.

ඉතින් මේ ගාථාව අවසානයේ අර දේවතාවිය සෝවාන් වුනා. බුදුන් වහන්සේ භික්ෂූන් වහන්සේලාට ගස් කපන්න තහනම් කරල විනය සික්ෂාවකුත් පැනෙව්වා. අවසානයේ අර විමාන නැති දේවතාවියට බුදුන් වහන්සේ වෙනත් ගහක් පෙන්වල, එතැන හිටිය දෙවියා මේ ළඟදි චුත වුනා, ඔබ එතැන ගන්න කියල විමානයක් දුන්නා. ලොව්තුරා බුදුන් වහන්සේ නමක් දුන්න විමානයක් නිසා, ඒ දේවතාවියගෙ විමානය මහේශාක්‍ය දෙවියකුටවත් හොල්ලන්න බැරි වුනා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්ම පද පාළිය - ක්‍රෝධ වග්ගය ඇසුරින් සකස් කළේ :*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# සක්මන් භාවනාවේ අනුසස්

බුද්ධ දේශනාවේ එන සතිය ඉතා වැදගත් කරුණක්. සත් තිස් බෝධි පාක්ෂික ධර්මවල කීප තැනකම ඒ ගැන සඳහන් වෙනවා. ''සත්‍යය තුළ වාසය කිරීම සතියයි. යමෙක් ලෝභ සහගතව, දෝස සහගතව, මෝහ සහගතව වාසය කරයි නම් ඔහු බොරුව තුළ ජීවත් වන්නෙකි. ඒ මහා බොරුවෙන් වෙන්වීම සත්‍යය හෙවත් සතියයි. සතර සතිපට්ඨානය යනු සත්‍යය තුල වාසය කරන ක්‍රම හතරයි.''

දීඝ නිකායේ මහා සතිපට්ඨාන සූත්‍රයේ ''සම්පජානකාරී'' යන වචනයෙන් පෙන්වා තියෙන්නෙ සතියෙන් වාසය කරන ආකාරය. විභංගප්‍රකරණයේ ඤාණ විභංගයේ මේ සම්පජානකාරී යන වචනය තෝරල තියෙන්නෙ මේ විදිහට. ''තත්ථ කතමං සම්පජානෝ, යා පඤ්ඤා, පජානනා, අමෝහෝ, ධම්ම විචයෝ, සම්මා දිට්ඨි, ඉදං වුච්චති, සම්පජානං'' යම් ප්‍රඥාවක්, දැන ගන්නා ආකාරයක්, අමෝහයක්, ධර්ම විමර්ශනයක්, සම්මා දිට්ඨියක් වේද එය සම්පජානයයි.

අංගුත්තර නිකායේ ඒකක නිපාතයේ, නූපන් කුසල් ඉපදීමටත්, උපන් කුසල් දියුණු වීමටත් සම්පජඤ්ඤය තරම් වෙන එකම ධර්මයක්වත් තමා නොදකින බව බුදුන් වහන්සේ සඳහන් කරනවා. ඒ වගේම නූපන්නා වූ අකුසල ධර්මයෝ ඉපදීමට, උපන්නා වූ කුසල ධර්ම පිරිහීමට ''අසම්පජඤ්ඤය'' තරම් වෙනත් ධර්මයක් නැති බවත් තථාගතයන් වහන්සේ දේශනා කරල තියෙනවා.

''සම්පජානකාරී'' (සං + පජාන + කාරී) යන වචනයේ ''සං'' කියන්නෙ එකතුව. ඒ කියන්නෙ සත්වයා අවිද්‍යාව සහ තණ්හාව නිසා ලෝකය හොඳයි, ප්‍රියයි, මනාපයි, ආස්වාදනීයයි, සාරයි කියල ඇලීම් වශයෙන් හෝ නරකයි, අප්‍රියයි, අමනාපයි කියල ගැටීම් වශයෙන් හෝ මුලාවට පත් වීම. මේ මුලාව ප්‍රඥාවෙන් දැන ගැනීම තමයි ප්‍රජානනය. ඒ විදිහට හඳුනා ගත් කෙනා ඇලීම්, ගැටීම්, මුලාවන් අත්හැරී, නොඇලී, මිදී යන ආකාරයට ක්‍රියාත්මක වීම ''කාරී'' නම් වෙනවා. මේ කාරණය කෙටියෙන් සඳහන් කරනව නම්, අවිද්‍යාවෙන් තණ්හාවෙන් රැවටීම දැන ගෙන එයින් මිදීම සඳහා සතිය පිහිටුවා ගැනීම තමයි සම්පජානකාරී වීම කියන්නෙ.

''සතිමා විනෙය්‍ය ලෝකේ අභිජ්ඣා දෝමනස්සං'' කියල ඇලීම්, ගැටීම් දෙකෙන් හික්මීම සතිය විදිහට සතිපට්ඨාන සූත්‍රයේ දක්වල තියෙන්නෙ මේ සම්පජානකාරීව වාසය කරන ආකාරය පිළිබඳ සත්‍යය වැටහීම. සප්පාය සම්පජාන, සාර්ථක සම්පජාන, ගෝචර සම්පජාන, අසම්මෝහ සම්පජාන කියල මේ කාරණය කොටස් 4 කට විස්තර කරල තියෙනවා. තමන් හිතන, කියන, කරන දේවල් නිවනට සප්පාය (ගැලපීම) වේද,



එසේ නොවේද, සසරින් මිදීමට ගෝචර වන දෙයක්ද, එසේ නොවන දෙයක්ද, කෙලෙස්වලින් නිදහස් වීමට සාර්ථක දෙයක්ද, අසාර්ථක වැඩ පිළිවෙලක්ද, ඒ වගේම තමන්ගෙ ක්‍රියා කලාප මෝහයට හේතු වන දෙයක්ද, එයින් මිදීමට උපකාර වන දෙයක්ද කියල සති සම්පජඤ්ඤයෙන් (සතියෙන් හා ප්‍රඥාවෙන්) දැක දැන ගනිමින් සසර වැඩීමට හේතු වන සිතිවිලි, ක්‍රියා, වදන් දුරු කරමින් නිවනට හේතු වන සිතිවිලි, ක්‍රියා, වදන් වැඩි දියුණු කර ගැනීම ඉහත සම්පජාන 4 න් පෙන්වා තියෙනවා.

සතිපට්ඨාන සූත්‍රයේ ඉරියාපත පබ්බය තුල සම්පජානකාරීව කටයුතු කරන ආකාරය විස්තර සහිතව පෙන්වා තියෙනවා.

''අභික්කන්තේ පටික්කන්තේ සම්පජානකාරී හෝති'' ආර්ය මාර්ගය වඩන තැනැත්තා ඉදිරියට යන විටත්, ආපසු එන විටත් සම්පජානකාරී විය යුතුය. **ඒ කියන්නෙ ඉදිරියට ගමන් කරමින් සිටින විට, ආපසු එන විට, සසර වැඩෙන සිතිවිලි, ක්‍රියා, වදන් තමන් තුළ ක්‍රියාත්මක වෙනවද කියල ප්‍රඥාවෙන් දැක දැන ඒවා දුරු කර ගන්න කටයුතු කරන්න ඕන.**

හැබැයි මෙතනදි අභික්කන්තේ කියන කාරණය ඉරියව් වශයෙන් ගත්තට, අභික්කන්තං හෝ ගෝතම අභික්කන්තං හෝ ගෝතම කියන කොට, ස්වාමීනි අභික්කාන්තයි මනස්කාන්තයි මනහරයි කියලත් තෝරනවා. එතනදි පෙන්වන්නෙ නුවණින් ඉදිරිය දැක්කා, යථාර්ථය දැක්කා කියන එක. අන්න ඒ දැකීමටත් අභික්කන්ත කියල කියනවා. ඒ වගේම පටික්කන්ත කිව්වම ඉරියව් වශයෙන් පසුපසට ගමන් කිරීම විතරක් නෙවෙයි, කලින් කිව්ව ආකාරයට, ඊට විරුද්ධ දෙයක්, නොගැළපෙන දෙයක් කියල දැක්ක නම් ඒකෙන් පසු බැසීමටත් පටික්කන්ත කියල කියනවා.

යමක් ලෝභ, දෝස, මෝහ සහගත නම් ඒකෙන් පසු බහින්න ඕන. අලෝභ, අදෝස, අමෝහ සහගත නම් ඉදිරියට යන්න ඕන. ඒ කියන්නෙ පරමාර්ථ වශයෙන් ඒ දැකීමෙන් මේක හරි, මේක වැරදියි කියල තෝරා ගැනීමත් එක ක්‍රමයක්. තවත් පැහැදිලි කරනව නම්, මේක මෙහෙම ගියොත් අනාගතයේ කොහොම වෙයිද, කෙබඳු ප්‍රශ්නවලට මුහුණ දෙන්න වෙයිද, කෙසේ විසඳෙයිද ... ආදී වශයෙන් නුවණින් බලන්න ඕන. එතකොට එල්ල කරල පරමාර්ථය වෙන්නෙ රාග, ද්වේශ, මෝහ ක්ෂය කිරීම. ඒ එල්ලය තියෙන කොට එතැනට එනකල් මග වැඩෙනවා. ඊළඟට ඉරියව් වශයෙන් ඉදිරියට, පිටුපසට ගමන් කිරීම තව ක්‍රමයක්.

''ආලෝකිතේ විලෝකිතේ සම්පජානකාරී හෝති'' වට පිට බලන විට සම්පජානකාරී විය යුතුය. මේ කාරණයෙත් ගැඹුරු පැත්ත ගත්තොත් ප්‍රඥාලෝකයේ ස්වභාවය තමයි කියවෙන්නෙ. විලෝකිතය කියන්නෙ ප්‍රඥාලෝකයෙන් වෙන්වුනාම ඇති වන ස්වභාවය දැකීම. ඒ දෙකම නුවණින් දැක

ගන්න පුළුවන්. ඒකත් සම්පජානකාරී වන ක්‍රමයක්. අනික තමයි ඉරියව් වශයෙන් ඉදිරියට සහ පසුපසට බැලීම.

සම්මිඤ්ජිතේ පසාරිතේ සම්පජානකාරී හෝති'' අත පය හකුලන විට, දිග හරින විට සම්පජානකාරී විය යුතුය. මේකෙත් ගැඹුරු පැත්ත ගත්තොත්, පරමාර්ථ වශයෙන් තමන්ගෙ ගමන මනසින් හැකිලීමයි විවෘත වීමයි කියල ප්‍රඥාවෙන් දකින්න ඕන. ඒ කියන්නෙ ලෝභ, දෝස, මෝහ පැත්ත හකුලන්න ඕන. අලෝභ, අදෝස, අමෝහ පැත්ත විවෘත කරල ප්‍රසාරණය කරන්න ඕන. ඒ විදිහට හැකිළුම් හිතයි, ප්‍රසාරණ හිතයි දකින්න ඕන. සමහරු රාගයට ප්‍රසාරණය වෙලා ධර්මයට ඇකිලෙනවා. එතකොට වැඩේ කෙරෙන්නෙ නෑ. ඒ නිසා අකුලන හිතයි, ප්‍රසාරණ හිතයි හරියට දැන ගන්න ඕන. ඒ විදිහට දැන ගන්න කොට ඇකිලීම මොකක්ද, ඒ ඇකිලීමට හේතුව මොකක්ද, ඒ ඇකිලීම වැදගත්ද නැත්ද, ඒක නිරෝධ කරනව නම් ඒකට මග මොකක්ද ... ආදී වශයෙන් මේ හැම පැත්තක්ම දකිනවා. සම්පජානකාරී කියන්නෙ ඒකයි. එතකොට මේ අවස්ථාවලදී කායානුපස්සනාව, ධම්මානුපස්සනාව ඇතුළු සතර සතිපට්ඨානයම වැඩෙනවා. ඒ හතරම එකිනෙකට බැඳිල තියෙන්නෙ. ඒ නිසා ඒ සතර සතිපට්ඨානයන් වෙන වෙනම වඩන්න අවශ්‍ය නෑ. අතපය හකුළනවා, දිග හරිනවා කියන්නෙ කායික ක්‍රියාවලියක් වශයෙන් සම්පජාන වීම.

''සංඝාටි පත්ත චීවර ධාරෙන සම්පජානකාරී හෝති'' භික්ෂුවක් නම් පාත්‍ර සිවුරු දරන විට, ගිහියෙක් නම් ඇඳුම් පැළඳුම් ආදිය පරිහරණය කරන විට සම්පජානකාරී විය යුතුය. ''අසිතේ, පීතේ, ඛායිතේ, සායිතේ සම්පජානකාරී හෝති'' භෝජන වැළඳීම, පැන් පානය කිරීම, කැවිලි ආදිය සපා කෑම, රස විඳීම යන අවස්ථාවලදී එය සිහි නුවණින් කළ යුතුය. ඒ කියන්නෙ, සතර සති පට්ඨානයෙන් යුක්තව රාග, ද්වේශ, මෝහවලට අහු වෙන ඒවා තියේ නම් ඒවා ඉවත් කර ගන්න ඕන. ඒ පරමාර්ථය නොදැක මේක වඩන්න බෑ. පරමාර්ථ පැත්ත දකින කොට ඉබේම හික්මෙනවා. ''උච්චාර පස්සා ව කම්මේන, සම්පජානකාරී හෝති'' මළ මුත්‍ර පහ කරන විටත් සම්පජානකාරී විය යුතුයි. ඒ කියන්නෙ ඒ සඳහා සුදුසු ගැලපෙන තැනක්ද කියල තැන නොතැන බලන්න ඕන. ඒ පරිසරයත් උපනිශ්‍රය වෙනවා. ඒ වගේම මළ මුත්‍ර වගේ දේවල් පහ කළ යුතුයි කියන කාරණයත් පරමාර්ථ වශයෙන් තේරුම් ගන්න ඕන. ඒ කියන්නෙ පංච දුශ්චරිත, දස අකුසල් කියන්නෙත් මළ මුත්‍ර වගේ පහ කළ යුතු දේවල්. ඒවා අසූචි කියලත් පෙන්වා තියනෙවා. බුදුන් වහන්සේ ආමගන්ධ කියන බමුණට, ආමගන්ධ හෙවත් අසූචි කියන්නෙ දස අකුසල් කියලත් පෙන්වා තියෙනවා.

''ගතේ, ඨිතේ නිසින්නේ, සුත්තේ, ජාගරිතේ, භාෂිතේ, තුණ්හීභාවේ සම්පජානකාරී හෝති'' යාමෙහි, සිටීමෙහි, හිඳීමෙහි, නිදා ගැනීමෙහි, ඇවිදීමෙහි, කතා කිරීමෙහි, නිහඬව සිටීමෙහි යන මේ සියළු ඉරියව්වලදී සසර බැඳීමට හේතු වන සියළු සිතිවිලි, ක්‍රියා, වදන්වලින් සිත නිදහස් කර ගෙන රාගක්ෂයට, ද්වේෂක්ෂයට, මෝහක්ෂයට හේතු වන ආකාරයෙන් සතිය පැවැත්වීම සම්පජානකාරී වීම හෙවත් සතිපට්ඨානයෙන් යුක්තව කටයුතු කිරීම කියල හැඳින්වෙනවා.

''ගච්ඡන්තෝවා ගච්ඡාමීති පජානාති, ඨිතෝවා ඨිතෝම්හීති පජානාති, නිසින්නෝවා නිසින්නෝම්හීති පජානාති, සයානෝවා සයානෝම්හීති පජානාති, යථා යථා වා කායෝ පණිහිතෝ, සෝ තථා තථානං පජානාති'' - යන්නෙහි යන බව, සිටින්නෙහි සිටින බව, හිඳින්නෙහි හිඳින බව, සයනය කරන්නේ සයනය කරන බව දැන ගත යුතුය. යම් යම් ක්‍රියා කලාපයන් තුල ප්‍රණීතයි කියා ලෝකයට සිත බැඳෙන ස්වභාවයක් පවතීද ඒ ඒ තැනම එය ප්‍රඥාවෙන් දැක දැන අත්හල යුතුය. මේ විදිහට කිරීම සම්පජානකාරී හෙවත් සතිය පැවැත්වීම කියල හැඳින්වෙනවා. මෙතනදි එතැන එතැනම ප්‍රඥාවෙන් දකින්න කියන්නෙ, බද්දේකරත්ත සූත්‍රයේ පෙන්වා තියෙන වර්තමාන මොහොතක විදර්ශනා කරන්න කියන කාරණයමයි. එතකොට මේ විනයේ හික්මවීම කියන්නෙ කය, වචනය දෙක විතරක් හික්මවීම නෙවෙයි. මේ මූල ධර්මය නොදැක ඒ දෙක විතරක් හික්මෙව්වට හරි යන්නෙ නෑ. ත්‍රිවිධ සික්ෂාවෙන් තොරව කය, වචනය දෙක විතරක් බාහිරින් හික්මවා යන කෙනා, කොටළුවෙක් මමත් අජානීය අශ්වයෙක් වගෙයි කියල කියන කාරණය හා සමානයි කියල පෙන්වනවා. ඒ කියන්නෙ කය, වචනය දෙකෙන් විතරක් විනය රැකගෙන හික්මවා යන කෙනා නියම භික්ෂුව නෙවෙයි. මෙතනදි විනය කියන්නෙ රාග විනය, ද්වේශ විනය, මෝහ විනය කියන තුන මිසක් කය වචනය දෙකෙන් හික්මීම නෙවෙයි.

මේ ''පජානාති'' යන වචනයෙන් කියවෙන නියම දහම් අර්ථය යටපත්වීම නිසා, ඒ ඒ ඉරියව්ව මෙනෙහි කිරීම සතිය පැවැත්වීමයි කියල වර්තමානයේ වරදවා පිළිපදින බව පෙනී යනවා. පජානාති කියන්නෙ දැන ගැනීම. දැන ගන්න ඕන මොකක්ද? රාගාදී කෙලෙස්වලට සිත බැඳෙනවද කියල දැන ගැනීම. එහෙම නැතිව ඉරියව්ව දැන ගෙන කිරීම නෙවෙයි. මේ නිසාම වර්තමානයේ යෝගාවචරයන් ඉරියව් පවත්වන කොට, ''යනවා යනවා, සිටිනවා සිටිනවා, වාඩි වෙනවා වාඩි වෙනවා, දකිනවා දකිනවා, ඇසෙනවා ඇසෙනවා...'' ආදී වශයෙන් ඒ ඒ ඉරියව්, ඇසෙන පෙනෙන දේවල් මෙනෙහි කිරීම සතිපට්ඨාන භාවනාව කියල ලංකාවේ ප්‍රසිද්ධ භාවනා මධ්‍යස්ථානවල පවා පුරුදු පුහුණු කරනවා.

බුරුම රටින් ආනයනය කරපු ධර්මානුකූල නොවන සාවද්‍ය භාවනා ක්‍රමවල තියෙන මේ වගේ වැරදි ක්‍රම භාවිතා කරමින් ඒවා සතිය පැවැත්වීමයි කියල සමාජය මුලාවකට ඇද දමන බව පෙනී යනවා. මේ විදිහට ඉරියව් සිහි කිරීම සතිය පැවැත්වීමක් නෙවෙයි. ඒක මනසිකාරයක් විතරයි. මනසිකාරය පාප සිත්වලත් යෙදෙනවා. නමුත් සතිය යෙදෙන්නෙ කුසල සිත්වල විතරයි. වර්තමානයේ මනසිකාරයට සතිය කියල රැවටිලා තියෙන බව මෙයින් පැහැදිලි වෙනවා.

ධර්මානුකූල නොවන මේ වගේ සාවද්‍ය ක්‍රම නිසා ආර්ය මාර්ගයෙන් ප්‍රතිඵල නොලැබෙන තත්ත්වයක් වර්තමානයේ උදා වෙලා තියෙනවා. භික්ෂූන් නිවැරදිව මාර්ගය වඩන තාක් ලොව අරිහතුන් වහන්සේලාගෙන් හිස් නොවන බව බුද්ධ දේශනාවේ සඳහන්ව තිබුණත්, වර්තමානයේ අරිහතුන් වහන්සේලාගෙන් නෙවෙයි, ඉන් මෙහා මගඵල ලාභීන්ගෙනුත් සසුන බොහෝ කොටම හිස් වෙලා තියෙනවා. ඒකට හේතුව වෙන්න ඕන, වරදවා අනුගමනය කරන මාර්ග ප්‍රතිපදාව මිසක් වෙන දෙයක් නෙවෙයි. වරදවා පිහිටුවන ලද හැල් නන්ඩුව පාදයේ ඇනිල තුවාල සිද්ධ වෙන්නෙ නෑ වගේ, ධර්මානුකූල නොවන ප්‍රතිපදාවක් අනුගමනය කිරීමෙන් ධ්‍යාන, මග ඵල නිවන් සාක්ෂාත් කරන්න බෑ.

සක්මන් භාවනාව අයිති වෙන්නෙ යෑමේ ඉරියව්වට. ''ගතේ සම්පජානකාරී හෝති, ගච්ඡන්තෝවා ගච්ඡාමීති පජානාති'' යන සතිපට්ඨාන සූත්‍ර දේශනා පාඨවලින්, ගමන් කරන ඉරියව්ව සතියෙන් කළ යුතු ආකාරය පැහැදිලි කරල තියෙනවා. සක් + මන කිව්වම මනසේ සුද්ධ තාවය ඇති කිරීමට හේතු වන්නා වූ ක්‍රියාවලියක් තමයි කියන්නෙ.

සක්මන් භාවනාව සතිපට්ඨාන සූත්‍රය ඇතුළු තවත් බුද්ධ දේශනාවල සඳහන් වුනත්, වර්තමානයේ ☞

බොහෝ අය ඒක සිද්ධ කරන ආකාරය කොහෙත්ම ධර්මානුකූල නෑ. ඉහතින් විස්තර කළ ආකාරයට සම්පජානකාරී, පජානාති යන වචනවල නිවැරදි දහම් අර්ථය යටපත්වීම නිසා, ක්‍රියාවලිය විතරක් සිහි කරමින් දනට සක්මන් භාවනාව කරන බව පෙනී යනවා. වර්තමානයේ ඒ විදිහට කරන භාවනා ක්‍රම කීපයක් මේ විදිහට හඳුන්වා දෙන්න පුළුවන්.

''ඔසවමි තබමි'' යන ක්‍රමය තමයි දනට කරන සක්මන් භාවනාවල පළමු පියවර. සක්මන් කිරීමේදී පාදය එසවෙන කොට ''ඔසවමි'' කියලත්, බිම තබන කොට ''තබමි'' කියලත් සිහි කරමින් භාවනා කරනවා. දෙවනි පියවර විදිහට ''ඔසවමි, ගෙන යමි, තබමි'' යන ක්‍රමය අනුගමනය කරනවා. පාදය ඉස්සෙන කොට ''ඔසවමි'' කියලත්, පාදය ඔසවා බිම තැබීමට පෙර ඉදිරියට යාම ''ගෙන යමි'' කියලත්, බිම තබන කොට ''තබමි'' කියලත් සිහි කරමින් සක්මන් කරනවා.

තුන් වෙනි පියවර වශයෙන් ''තද කරමි, ඔසවමි, ගෙන යමි, පහත් කරමි, තබමි'' යන ක්‍රමය භාවිතා කරනවා. පාදය එසවීමට පෙර පාදය බිමට තදවීමත්, උඩට එසවීමත්, ඉදිරියට ගෙන යාමත්, පහතට පහත් කිරීමත්, බිම තැබීමත් සිහි කරමින් මේ ක්‍රමයට සක්මන් කරනවා. සරඹ සංදර්ශනවලදි වම - දකුණ කියමින් පාදවලට අවධානය යොමු කරමින් ගමන් කිරීමත්, ඉහත ක්‍රම අනුගමනය කිරීමත් අතර වෙනසක් නෑ.

ඉරියව් සිහි කරමින් සක්මනේ එහාට මෙහාට ගියාට සතිය, ප්‍රඥාව වැඩෙන්නෙ නෑ. බුද්ධ දේශනාවට අනුකූලව දනගෙන සක්මන් භාවනාව නිවැරදිව වැඩුවොත් සති, සමාධි, ප්‍රඥා වැඩිල ඉතිරි මග ඵල අවබෝධ කර ගන්න පුළුවන්.

සක්මන් භාවනා කිරීම ආර්ය මාර්ගය පූර්ණ කර ගන්න උපකාර වෙනව වගේම විමුක්තිය සාක්ෂාත් කළ බුදු, පසේ බුදු, මහරහතන් වහන්සේලාත් සක්මන් ඉරියව්ව පවත්වල තියෙනවා. තථාගතයන් වහන්සේ කොතැනක වැඩ සිටියත් දවස කොටස් පහකට බෙදල ඒ කාල පහේ හැටියට පෙර බත් කිස, පසු බත් කිස, ප්‍රථම යාම කෘත්‍යය, මධ්‍යම යාම කෘත්‍යය, පශ්චිම යාම කෘත්‍යය කියල බුද්ධ කෘත්‍යය පස් වැදෑරුම් ආකාරයකට සිදු කරනවා.

පශ්චිම යාමය කොටස් තුනකට බෙදල ඒකෙන් ප්‍රථම කොටසේ, තථාගතයන් වහන්සේ සක්මනේ යෙදීම අනිවාර්ය කාර්යක්. එහෙම කරන්නෙ ශරීර විඩාව සංසිඳුවා ගන්න. රහතන් වහන්සේලාත් සක්මන් ඉරියව්ව පවත්වනවා. ඒ බව සංයුක්ත නිකායේ ධාතු සංයුක්තයේ චංකම සූත්‍රයේ මේ විදිහට සඳහන් වෙනවා.

තථාගතයන් වහන්සේ රජගහ නුවර ගිජුකුළු පව්වේ වැඩ වාසය කරද්දි සැරියුත් මහ රහතන් වහන්සේ බොහෝ භික්ෂූන් වහන්සේලා සමග බුදු රජාණන් වහන්සේට නුදුරින් සක්මන් කරනවා. මහා මොග්ගල්ලාන, මහා කාශ්‍යප, අනුරුද්ධ, පුණ්ණ මන්තානි පුත්ත, උපාලි, ආනන්ද, දේවදත්ත තෙරුන් වහන්සේලාත් බොහෝ භික්ෂූන් වහන්සේලා සමග තථාගතයන් වහන්සේට නුදුරෙන් සක්මන් කරනවා.



බුදු පියාණන් වහන්සේ භික්ෂූන් අමතල මහණෙනි, ඔබලා බොහෝ භික්ෂූන් සමග සක්මන් කරන සාරිපුත්ත දැක්කද කියල විමසනවා. එහෙමයි ස්වාමීනි කියල උත්තර දුන්නම, මහණෙනි මේ සියළු භික්ෂූන් ප්‍රඥාවන්තයෝය කියල උන්වහන්සේ ප්‍රකාශ කරනවා. ඊළඟට මහණෙනි, ඔබලා බොහෝ භික්ෂූන් සමග සක්මන් කරන මහා මොග්ගල්ලාන දක්කද කියල අහල, ඒ සියළු භික්ෂූන් මහත් සෘද්ධි ඇති අය බව වදාරනවා. ඊළඟට බොහෝ භික්ෂූන් සමග සක්මන් කරන කස්සප දක්කද කියල අහල, ඒ සියලු භික්ෂූන් ධූතාංගධාරී කියල පෙන්වනවා.

මහණෙනි, බොහෝ භික්ෂූන් සමග සක්මන් කරන අනුරුද්ධ දක්කද කියල අහල, ඒ සියලු භික්ෂූන් දිව්‍ය ඇත්තන් බව ප්‍රකාශ කරනවා. බොහෝ භික්ෂූන් සමග සක්මන් කරන පුණ්ණ මන්තානි පුත්ත දක්කද කියල අහල, ඒ සියලු භික්ෂූන් ධර්ම කථිකයෝ බව ප්‍රකාශ කරනවා. බොහෝ භික්ෂූන් සමග සක්මන් කරන උපාලි දක්කද කියල අහල, ඒ සියලු භික්ෂූන් විනයධරයන් බව ප්‍රකාශ කරනවා. මහණෙනි, බොහෝ භික්ෂූන් සමග සක්මන් කරන ආනන්ද දක්කද කියල අහල, ඒ සියලු භික්ෂූන් බහුශ්‍රැතයෝය කියල දේශනා කරනවා. මහණෙනි, බොහෝ භික්ෂූන් සමග සක්මන් කරන දේවදත්ත දක්කද කියල අහල, ඒ සියලු භික්ෂූන් පාපී අදහස් ඇති අය කියල දේශනා කරනවා.

''මහණෙනි, සත්වයෝ අදහස් වශයෙන්ම ගැලපෙනවා, එකතු වෙනවා. අතීතයේත්, අනාගතයේත්, වර්තමානයේත් සත්වයෝ අදහස් වශයෙන්ම එකතු වෙනවා. පහත් අදහස් ඇති අය පහත් අදහස් ඇත්තන් සමගත්, උසස් අදහස් ඇති අය උසස් අදහස් ඇති අය සමගත් එකතු වෙනවා.'' මේ තමයි බුද්ධ දේශනාව.

චක්ඛුපාල හාමුදුරුවො අරිහත්වයට පත් වෙනවත් එක්කම, පෙර සංසාරික කර්ම විපාකයක් අනුව ඇස් දෙක අන්ධ වුණා. උන්වහන්සේට සෘද්ධි බල, දිව්‍ය ආදී අභිඥා බල තිබුණෙ නෑ. දවසක් වැසි කාලයේ සක්මනේ යෙදෙද්දි පොළොවෙ පනුවන් මතු වෙලා ඉන්න අවස්ථාවක, සතුන් ඉන්න බව නොදක උන්වහන්සේ සක්මන් කළා. මතු වෙලා හිටපු සතුන් පෑගිලා මරණයට පත් වෙලා සක්මන පුරා ලේ තැවරී ගියා. චක්ඛුපාල රහතන් වහන්සේ ඇස් අන්ධ වෙලා හිටපු නිසා සතුන් ඉන්න බව හෝ සක්මන් කිරීමෙන් සතුන් මැරුණ බව දනගෙන හිටියෙ නෑ. සක්මනේ බොහෝ සතුන් මැරිල ඉන්නව දකපු භික්ෂූන් වහන්සේලා, චක්ඛුපාල හාමුදුරුවන්ට දෝෂාරෝපණය කරමින් ඒ බව තථාගතයන් වහන්සේටත් දන්වා සිටියා. චක්ඛුපාල තෙරුන් සක්මනේ සතුන් සිටින බව නොදන්න නිසාත්, චේතනාත්මකව සත්ව ඝාතනයක් සිදු නොකළ නිසාත් පාපයක් නොවන බව බුදු පියාණන් වහන්සේ භික්ෂූන් වහන්සේලාට කරුණු පැහැදිලි කරල දුන්නා.

එක් අවස්ථාවක මුගලන් හාමුදුරුවො අරිහත් වෙන්න පෙර සක්මන් භාවනාවෙ යෙදිල ඉන්න කොට, නිදිමත අධික වෙලා සක්මනේ ඇද වැටුන බවත්, ඒක දනගත්තු බුදු රජාණන් වහන්සේ, භාවනා කරන කොට නිදිමත නැති කර ගන්න ක්‍රම කීපයක් මුගලන් හිමියන්ට පැහැදිලි කර දුන් බවත් සඳහන්

වෙනවා.

අංගුත්තර නිකායේ පංචක නිපාතයේ සක්මන් කිරීමේ ආනිසංස 5 ක් ඇති බව ''චංකමානිසංස'' සූත්‍රයේ පැහැදිලි කරල තියෙනවා.

මහණෙනි, සක්මන් කිරීමෙහි ආනිසංස පහකි. එයින් පළවෙනි එක ''අද්ධානක්ඛමෝ හෝති'' - දුර ගමන් ඉවසිය හැකි කෙනෙක් වෙනවා. නිතර සක්මන් කරන භික්ෂුවට බොහෝ දුර ගමනක් පයින් ගියත් සක්මන් නොකරන අයට වගේ වෙහෙසට පත්වීම අඩුයි. දෙවෙනි ආනිසංසය විදිහට සඳහන් වෙන්නෙ ''පධානක්ඛමෝ හෝති'' - පධන් (ප්‍රධාන) වීර්ය වැඩීමට දක්ෂයෙක් වීම. වීර්ය කියන්නෙ නිවන් දැකීමට අත්‍යවශ්‍ය ධර්මතාවක්. සම්මා වායාමය, විරිය සම්බොජ්ඣංගය, විරිය ඉන්ද්‍රිය, විරිය බල... ආදී වශයෙන් වීර්ය වැඩීම ගැන බෝධි පාක්ෂික ධර්මවල අනිවාර්ය අංගයක් විදිහට දක්වල තියෙනවා. වීර්ය අඩු වෙලා නිදිමත, අලස ගති ඇතිවීම ලෞකික ජීවිතය දියුණු කර ගැනීමටත් බාධාවක්. ඒ නිසා සක්මන් භාවනාව වීර්ය දියුණු කර ගෙන නිර්වාණාවබෝධයට අතිශය උපකාරී වන ධර්මයක්.

ලෙඩ රෝග අඩු කෙනෙක් වීම සක්මන් භාවනාවේ එන තුන් වෙනි ආනිසංසය. ඒ කාරණය ''අප්පාබාධො'' කියල ඉහත සූත්‍රයේ සඳහන් වෙනවා. ලෙඩ රෝග අඩුවීම ලෞකික, ලෝකෝත්තර දෙපැත්තටම මහත් උපකාරයක්. ලෙඩ රෝග බහුල වෙච්ච කෙනෙකුට ලෞකික ජීවිතයේ කටයුතු කර ගන්න බාධාවක් වෙනව වගේම, නිවන් අවබෝධය කරා යන ගමනටත් මහත් බාධාවක්. ඒ නිසා කායික මානසික දෙකෙන්ම නිරෝගිවීම උතුම් ලාභයක්.

සක්මන් කිරීමෙන් ඊළඟට ලැබෙන ආනිසංසය තමයි ''අසිත පිත ඛායිත සායිතං සම්මා පරිනාමං ගච්ඡති'' ඒ කියන්නෙ කන බොන ආහාර පාන පහසුවෙන් ජීර්ණ වෙනවා. ආහාර ගත්තු හැටියෙම වාඩි වෙලා සිටීම, නිදා ගැනීම වගේ දේවල් ශරීර සෞඛ්‍යයට එච්චර හොඳ දේවල් නෙවෙයි. ආහාර ගැනීමෙන් පසු ටික වෙලාවක් හරි සක්මනේ යෙදෙනව නම් ඒක භාවනාවක් වගේම ආහාර ජීර්ණයටත් පහසුවක්.

සක්මන් කිරීමේ පස් වෙනි ආනිසංසය විදිහට <u>චංකමානිසංස සූත්‍රයේ</u> දක්වල තියෙන්නෙ ''චංකමාධිගතෝ සමාධිස්ස චිරට්ඨිතිකෝ හෝති'' - සක්මනෙන් ලැබෙන සමාධිය බොහෝ කාලයක් පවතින බව. සමාධිය දියුණු කර ගැනීම ධ්‍යාන මගඵල අවබෝධයට අත්‍යවශ්‍ය කාරණයක්. සම්මා සමාධිය, සමාධි සම්බොජ්ඣංගය, සමාධි ඉන්ද්‍රිය, සමාධි බල... ආදී වශයෙන් බෝධි පාක්ෂික ධර්මවල ප්‍රධාන අංගයක් විදිහට දේශනා කරල තියෙනවා.

මජ්ඣිම නිකායේ <u>චූල්ල වේදල්ල සූත්‍රයේ</u> විසාඛ උපාසකතුමා, ධම්ම දින්නා රහත් මෙහෙණියගෙන් සමාධිය පිළිබඳ මේ විදිහට ප්‍රශ්න කීපයක් අහනවා.

ආර්යාවෙනි, සමාධිය යනු කුමක්ද, සමාධියට ඇති නිමිති මොනවද, සමාධි පරිෂ්කාරයෝ කවරෙක්ද, සමාධි භාවනාව යනු කුමක්ද ? මේවාට පිළිතුරු පැහැදිලි කරන ධම්මදින්නා මෙහෙණිය, ඇවැත්නි කුසල් සිතේ ඇති වන ඒකාග්‍රතාවය, එකඟ බව සමාධියයි, සතර සතිපට්ඨානය සමාධි ලැබීමට නිමිතියි, සතර සම්‍යක් ප්‍රධාන වීර්ය සමාධියට පරිෂ්කාරයි, මේ ධර්මතාවයන්ම ඇසුරු කිරීම, දියුණු කිරීම, බහුල වශයෙන් වැඩීම සමාධි භාවනාවයි කියල උත්තර දෙනවා. සමාධියේ තියෙන වටිනාකම කොච්චරද කියල මේ චූල්ල වේදල්ල සූත්‍රයෙන් මනා කොට පැහැදිලි වෙනවා.

සමාධිය දියුණු කර ගන්න සක්මන් භාවනාව අතිශයින් උපකාරී වෙනවා. සක්මන් කරන අවස්ථාවල බොහෝ භික්ෂූන් මගඵල නිවන් සාක්ෂාත් කර ගෙන තියෙනවා. ධර්ම භාණ්ඩාගාරික ආනන්ද හාමුදුරුවො, බුදුහාමුදුරුවො පිරිනිවන් පාන කල් අරිහත්වයට පත් වෙලා හිටියෙ නෑ. තථාගතයන් වහන්සේ පරිනිර්වාණ සූත්‍රයෙදි ''කත පුඤ්ඤෝසි ත්වං ආනන්ද'' ආනන්දය, ඔබ බොහෝ කුසල් දහම් ඇති කෙනෙකි. කල් නොයවාම අරිහත්වයට පත්විය හැකිය කියල වදාරනවා.

ආනන්ද හාමුදුරුවො තථාගත පරිනිර්වාණයෙන් පස්සෙ පළවෙනි ධර්ම සංඝායනාවට පෙර දින රාත්‍රියෙදි අරිහත්වයට පත් වුන බව සඳහන් වෙනවා. එදා රාත්‍රියේ බොහෝ වෙලාවක් සක්මන් භාවනාවේ යෙදිල, කයේ වෙහෙස නිවා ගන්න සැතපෙන්න ගිහින් සයනයට ඇල වෙන අතර තුර සතර ඉරියව්වෙන් තොරව අරිහත්වයට පත් වුනා. බොහෝ වෙලාවක් සක්මන් භාවනාවේ යෙදිල ලැබිච්ච සමාධිය ආනන්ද හිමියන්ට අරිහත්වය ලබන්න උපනිශ්‍රය වෙලා තියෙන බව මෙයින් පැහැදිලි වෙනවා. ඒ නිසා සක්මන් භාවනාවේ යෙදීම සමාධිය දියුණු කර ගන්නත්, සමාධිය බොහෝ කලක් නොකැඩී පවත්වා ගන්නත් හේතු වෙනවා.

මේ ආකාරයට සක්මන් භාවනාවෙන් ආනිසංස පහක් ලැබෙන බව චංකමානිසංස සූත්‍ර දේශනාවෙන් පෙන්වා තියෙනවා.

ඒ වගේම සක්මන් කරමින් පිරිනිවන් පාපු රහතන් වහන්සේ නමක් ගැනත් දහම් කතාවක සඳහන් වෙනවා. උන් වහන්සේ පිරිනිවන් පාන වෙලාව කලින්ම දැන ගෙන තිබුණා. මොකද සතර ඍද්ධි පාද වඩපු අයට එහෙම දකින්න පුළුවන් ක්‍රම තියෙනවා. ඉතින් උන් වහන්සේ තමන්ගෙ ආයු කාලය ඉවර බව, පිරිනිවන් පාන දිනය ළඟ බව දැන ගත්තා. ඒ නිසා කුටියෙන් කුටියට ගිහින් අනෙක් භික්ෂූන් වහන්සේලාගෙන් ඇහුවා, ඔබ වහන්සේලා මොන විදිහෙ ඉරියව්වලින් පිරිනිවන් පාන අයද දැකල තියෙන්නෙ කියල. අපි ආකාසයේ ඉඳන් පිරිනිවන් පාන අය දැකල තියෙනවා, සැතපිලා ඉඳන් පිරිනිවන් පාන අය දැකල තියෙනවා, එරමිණිය ගොතාගෙන පිරිනිවන් පාන අය දැකල තියෙනවා ... ආදී වශයෙන් ප්‍රකාශ කළා. එතකොට උන් වහන්සේ අහනවා, සක්මන් කරමින් පිරිනිවන් පාන කෙනෙක් දැකල තියෙනවද කියල. එහෙම කෙනෙක් නම් දැකල නෑ කිව්වම, එහෙනම් අද දැක ගන්න පුළුවන් අහවල් වෙලාවට සක්මන් කරමින් පිරිනිවන් පාන හාමුදුරුවො නමක් කියල, භික්ෂූන් වහන්සේලා කැඳවල උන් වහන්සේ පොළවෙ ඉරක් ඇන්දා. ඊට පස්සෙ සක්මන් කරමින් එක පැත්තකට ගිහින් නැවතත් අනික් පැත්තට ගිහින්, තුන් වෙනි වතාවෙදි හරියටම ඉර පාගනවත් එක්කම පිරිනිවන් පෑවා.

ඊළඟට සක්මන් මළුවක තිබිය යුතු දිග විදිහට රියන් 60 ක් හෝ අඩු ගණනෙ රියන් 30 ක් කියල දක්වෙනවා. 30 ට වඩා අඩුවෙන් තිබුණොත්, පොඩි දුරකින් හැරෙන්න වෙන නිසා ඒක භාවනාවට බාධාවක් කියලත් දක්වෙනවා. ඒ වගේම සක්මන් භාවනාව ඕනෑම කර්මස්ථානයක් වඩමිනුත් සිද්ධ කරන්න පුළුවන්. බුදු ගුණ, දහම් ගුණ, සඟ ගුණ වගේ කර්මස්ථානයක් හෝ ලෝකයේ අසාරත්වය හා නිවනේ ශාන්තිය සිහි කරමින් විදර්ශනා වඩමිනුත් සක්මන් භාවනාවේ යෙදෙන්න පුළුවන්. මේ විදිහට බොහෝ ආනිසංස ලැබිය හැකි සක්මන් භාවනාවේ වටිනාකම වටහගෙන ආර්ය මාර්ගය වඩන සියලු දෙනාම තමන්ට පුළුවන් විදිහට සක්මන් භාවනාවේ යෙදීමට අදිටන් කර ගන්න.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නීග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**

# ලොව සැමට එක සේ පොදු අනිච්චතාව

අනිච්ච කියන වචනයේ පද නිරුක්තිය විග්‍රහ කරල එයින් මතු කෙරෙන ලෝක ධර්මතාවයේ ස්වභාවය මීට පෙරත් මේ සඟරාවෙන් පැහැදිලි කරල තියෙනවා. ඒ වචනය ඔස්සේ ලෝක පැවැත්මේ ස්වභාවයත්, ඒ කාරණය සියලු ලෝ වැසියන්ට බලපාන ආකාරයත් සම්බන්ධයෙන් වැඩිදුර විග්‍රහ කිරීමක් තමයි මේ ලිපියෙන් සිද්ධ කරන්නෙ.

මේ ලෝකයේ යම් ප්‍රිය මධුර ස්වභාවයක් ඇත්ද ඒවා බලා ඉඳෙද්දීම ගෙවිල යනවා. නමුත් ඒවා ගෙවෙනවට අපි කැමති නෑ. ඒ වගේම අප්‍රිය අමධුර දේවල් අපි කරා එනවා. ඒකටත් කැමති නෑ. නමුත් කරන්න දෙයක් නෑ එනවා. එහෙනම් අපි මේ ජීවත් වෙන ලෝකය කියන්නෙ මොකක්ද? අපි කරා එන ප්‍රිය මධුර දේවල් ගෙවිල යනවා, අකමැති අප්‍රිය දේවල් එනවා. මේ දෙකෙන් තමයි ලෝකය පිරිල තියෙන්නෙ. මේ එකක්වත් අපේ කැමැත්තට පවත්වන්න බෑ. එහෙනම් කැමති සේ නැති පැවැත්මකින් පිරිල තියෙන ලෝකය ඉච්ඡ සේ නැති නිසා දුකයි. දූන් මේ කාරණය නෑ කියල කාටවත් තර්ක කරන්න බෑ. මේ තමයි ''යද නිච්ඡං තං දුක්ඛං'' කියන දැනගත යුතු කාරණය. යද් + අනිච්චං - යද නිච්චං - යම් ඒ අනිච්චතාවයක් ඇත්ද ...

එහෙනම් ඉච්ඡ සේ නැති හෙවත් අනිච්ච බවින් පිරිලමයි ලෝකයේ හැම තැනම තියෙන්නෙ. ආස්වාද විඳින්න කැමතියි. ඒත් කැමැති සේ නෑ. ආස්වාදයන් ඇසුරු කරන්න පටන් ගත්තම ඒවා ඒ විදිහට පවතිනවට කැමතියි. නමුත් කැමති සේ පවතින්නෙ නෑ ගෙවිල යනවා. දුකක් එනවට අකමැතියි. නමුත් අපි කැමති සේ දුක නැවිත් තියෙන්නෙ නෑ. දුක අපි කරා එනවමයි. ඒක විඳින්නත් සිද්ධ වෙනවා. ඒකත් කැමති සේ නෑ. එහෙනම් කැමති නැති දේවල්වලින් ලෝකය පිරිලා. කැමති නැති දේවල්වලින් පිරිච්ච ලෝකය ඒ හේතුවෙන් දුකයි.

''දු'' කියන්නෙ යම් කිසි තැනක දුවනවා කියන එක. එහෙම නැත්නම් සැරිසරනවා. ''ක'' කියන්නෙ පහතට වැටෙනවා, ක්ෂය වෙනවා කියන එක. මේ තමයි දුකේ නිරුක්තිය. ඒකයි දුක්ඛ කිව්වෙ. ආදරයෙන් වෙළෙනවා, ආදරයෙන් පසුපස යනවා, ඇල්මෙන් පසුපස යනවා. මේ තමයි ''දූ'' කියන ධාතුව. කෝ දූ? පොඩි දුව කෝ? ලොකු දුව කෝ? ඇයි මේ දූ කිව්වෙ? කොච්චරවත් යන යන තැන පස්සෙන් අරන් යනවා. ආදරයෙන් වෙළිල ඉන්නවා. මේ තමයි ''දූ''. ඕකට ගියාම ක්ෂය වෙනවා, පහත් බවට වැටෙනවා, තත්ත්වය පහත් වෙනවා. ආස්වාදයන්ගෙන් වෙළි වෙළී යන්න ගියාම කාමයන්ට අහුවෙලා ක්ෂය වෙලා



යනවා. නැත්නම් පහත් බවට පත් වෙනවා. මේ තමයි දුක්ඛ වෙන හැටි. මේ කාරණය තෝර ගන්න පදයෙන් කියවෙන පද නිරුක්තිය දකින්න ඕන. එතකොට වචනයේ යථාර්ථයෙන්ම නිවන් දකින්න අවශ්‍ය කරන අර්ථය එනවා.

මෙතනදි හේතුවට අනුකූලව ඵලය ඇති වන ධර්මතාවයක් තියෙනවා. නමුත් ඒ ධර්මතාවයට නෙවෙයි ලෝක සත්වයා කැමති වෙන්නෙ. හැම තිස්සෙම ඉෂ්ට ප්‍රිය මනාපයකටම කැමතියි. අනිෂ්ට අප්‍රිය දෙයක් එනවට කැමති නෑ. ඉෂ්ට ප්‍රිය මනාප දේකටම කැමති වෙලා ඒක තමන්ට ඕන විදිහට නොවුනොත් ගැටෙන්න ගිහින් දුක් වෙනවා. එතකොට තමන් කැමති දේවල් ඉෂ්ට වෙන්නෙම නෑ කියන එක නෙවෙයි මේ කියන්නෙ. සමහර දේවල් ඒ ඒ මොහොතට ඉෂ්ට වෙනව වගේ පේනවා. එහෙම නොවෙනව නම් ලෝක සත්වයා මේ සසර සැරි සරන්නෙ නෑ. හැබැයි ඒ වගේ මොහොතකට හරි තමන් බලාපොරොත්තු වෙච්ච දේ ඉෂ්ට වෙනව කියන්නෙ, කැමති නිසා ඒ විදිහට සිද්ධ වෙනව කියන එක නෙවෙයි. ඒකට අදාල හේතු ගොඩ නැගුන නම් ඵලය ඊට අනුකූලව ක්‍රියාත්මක වෙනව මිසක් අපි කැමති නිසා සිද්ධ වෙනව නෙවෙයි. ඒ වගේම කැමති විදිහට සියල්ල සිදු වෙනව නම් ලෝක සත්වයා මේ සසරින් මිදෙන්නෙත් නෑ. මේ කාරණා දෙකම ලෝකයේ තියෙනවා. ඒ දෙකම තේරුම් ගන්න ඕන.

ඒ වගේම මේ ලෝක සත්වයෝ බලාපොරොත්තු වෙන දේවල් ඉෂ්ට වෙන්නෙත් කැමති විදිහට නෙවෙයි. ඉෂ්ට වීමට කැමති වුනත් ඒකත් කැමති විදිහට නෙවෙයි සිද්ධ වෙන්නෙ. උදාහරණයක් විදිහට පැළයක් හිටවල ගහක් හැදෙන කොට අපේ කැමැත්තට හැදෙනව නෙවෙයි. හැදෙන ගහ දැකල අපි සතුටු වෙනවා. නමුත් අපි කැමති නිසා නෙවෙයි ගහ හැදෙන්නෙ. ඒ ගහේ වර්ධන ශක්තියට අපි බාහිරින් ජලය, පොහොර එකතු කිරීමේ හේතු විදිහට ගහ හැදෙනවා. ගහ ඉක්මනට හැදිල ඉක්මනට මල් ඵල හට ගන්නව නම්, කිසිම උපද්‍රවයක් නැත්නම් අපි කැමතියි. නමුත් හැදෙන ගහත් ඒ විදිහට, අපි කැමති විදිහට හැදෙන්නෙ නෑ. හැබැයි ගහ හැදීම අපේ බලාපොරොත්තුව නිසා, හැදෙන කොට අපි හිතනවා අපේ බලාපොරොත්තුව ඉෂ්ට වුනා කියල. නමුත් හොඳින් කල්පනා කරල බැලුව නම් අපි කැමති විදිහටද ගහ හැදුනෙ කියල එහෙම හැදිල නෑ. හැදිච්ච ටිකත් හේතු ඵල මිසක් කැමැත්ත නිසා වුනා නෙවෙයි.

ඒ වගේම යමෙකුට අවශ්‍ය දේවල් හොයල බලල ඉෂ්ට කර දීමේ ගති ලක්ෂණයක් අපිට තිබුණොත් ඒකෙ හේතු ඵලයක් වශයෙන් අපිටත් කවද හරි එහෙම ක්‍රමයක් ලැබෙනවා. උදාහරණ විදිහට භික්ෂූන් වහන්සේ නමකට ආර්ය මාර්ගය පූර්ණ කර ගන්න චීවර, පිණ්ඩපාත, සේනාසන, ගිලාන ප්‍රත්‍ය කියන සිවුපසය තිබුණ නම් කියල උන් වහන්සේ හිතන කොට,

සුදුසු ආකාරයට හොයල බලල කවුරු හරි වෙලාවට ඒවා සපයල දෙනවා. ඒ පුද්ගලයට ඒක පිනක්. අන්තිමට ඒක පුණ්‍ය ඵලයක් බවට පත් වෙලා ඒ කාරණය මුල් කර ගෙන තමන්ටත් කවද හරි හේතු ඵල විදිහට බලාපොරොත්තු වෙච්ච වෙලාවක සම්පත්තියක් / ලැබීමක් එන්න පුළුවන්. එතකොට ඒ පුද්ගලය හිතනවා, තමන්ගෙ කැමැත්ත ඉෂ්ට වුනයි කියල. නමුත් තමන් කැමති නිසා ඉෂ්ට වුනා නෙවෙයි. අර කලින් උත්සාහයෙන් වීර්යයෙන් ගොඩ නගපු පුණ්‍යමය හේතුවේ ඵලයක් විදිහට දැන් ඒ ලැබීම් එනවා. නමුත් ලෝකයා ඒක දකින්නෙ නෑ. අමුතු දෙයක් ලැබුනයි කියල උඩ පනිනවා. මොකද ලැබිච්ච ක්‍රමය දන්නෙ නැති නිසා.

එතකොට ලෝකයේ ප්‍රිය මධුර ස්වභාවයක් තියෙනවා. ඒක කැමැත්තට නෑ. නමුත් හේතු ඵලයක් විදිහට ලැබෙන්න පුළුවන්. එහෙම ලැබුනම, ඒ මොහොතේ බලාපොරොත්තුව ඉෂ්ට වුනාම, ඒක කැමැත්තට අනුව සිද්ධ වුනයි කියල හිතනවා. නමුත් එහෙම වෙලා නෑ. කැමති දේ සිද්ධ වෙනව කියන එක ඇත්ත නම් මේ ලෝකයේ සතර අපායක් තියෙන්න විදිහක් නෑ. මොකද දැන් මේ සතර අපායෙ දුක් විඳින සත්තු මුල ඉඳන්ම සතර අපායෙ හිටපු අය නෙවෙයි. බ්‍රහ්මත්වයේ පටන් මනුස්ස විදිහට ක්‍රමයෙන් පල්ලම් බැහැල දස අකුසල් නිසා ඒ සුගති අත්බැව්වලින් චුත වෙලා ගිහින්මයි සතර අපායෙ ඉපදුනේ. එතකොට මේ බ්‍රහ්මයින් අතර හෝ දෙවියන් අතර හෝ මනුස්සයින් අතර හෝ ඉන්න කිසිම සත්‍වයෙක් සතර අපායට යන්න කැමති නෑ. නමුත් ගිහිල්ල නැත්ද? එදත් ගියා, අදත් යනවා, හෙටත් සතර අපාගත අත්බැව් ලබන සත්වයෝ කොච්චර නම් ඉඳීද? සත්‍වයා විඳින ලොකුම දුක තමයි සතර අපාගත වීම. නමුත් සසර සැරි සරන සත්‍වයා මහ ගෙදර වගේ යන්නෙම අපායට.

ඒ වගේ එදා හිටපු බමුණොත් යාච්ඥා කරල මැරිච්ච අය දිව්‍ය ලෝකයට යවන්න බලාපොරොත්තු වුනා. ඒ වගේම ඒ අයට විරුද්ධ නම් යාච්ඥා කරල අපායට යවන්නත් බලාපොරොත්තු වුණා. ඉතින් ඒ අය යාච්ඥා කළාට ඒක එහෙම වුණාද? එහෙම එක එක්කෙනාගෙ කැමැත්තට අනුව තව කෙනෙක්ගෙ උප්පත්තියක් තීරණය වෙන්නෙ නෑ. ඒ නිසා පින්වත් ගල උඩ මතු වේවා උඩ මතු වේවා කියල ගලක් දියට දැම්මොත් උඩ මතු වේවිද කියල අහනවා. පින්වත් ගිතෙල යට යාවා යට යාවා කියල ගිතෙල් ටිකක් දියට දැම්මොත් යට යයිද කියල අහනවා. එතකොට ගලේ ස්වභාවයක් තියෙනවා, ගිතෙල්වල ස්වභාවයක් තියෙනවා. ගල යට යනවා, ගිතෙල් උඩ පාවෙනවා. ඒක ධර්මතාවයක්.

ලෝකයේ යම් ප්‍රිය මධුර ස්වභාවයක් විද්‍යමාන වෙන්නෙ නැත්නම් ලෝකයට සත්‍වයෙක් ඇළුම් කරන්නෙ නෑ. ඒ වගේම ලෝකයේ දුක් ස්වභාවය දකින්නෙ නැත්නම් මිදෙන්නෙත් නෑ. ප්‍රිය මධුර සැප ස්වභාවය පෙන්නුවට ඒකෙ අවසානය ඒකාන්තයෙන්ම දුකෙන් කෙළවර වෙන එකක් බව දකින්න ඕන. ඒක තමයි යථාර්ථය. ප්‍රිය මනාපයක් බිඳෙනව නම් ඒ බිඳෙන්නෙත් දුකෙන්මයි. ප්‍රිය මනාපය අත් හරින්න කැමති නෑ. සම්මතයේ තියෙන දුක් ස්වභාවය, අප්‍රිය අමනාප ස්වභාවය අත් හරින්න කැමති වුනාට, ඒක අත් හැරුණ කියල අමුතු සැපක් එන්නෙත් නෑ. කලින් තිබිච්ච දුක නැති වීම විතරයි වෙන්නෙ. එතකොට ප්‍රිය ස්වභාවයෙන් මිදෙන කොටත් දුකක්මයි එන්නෙ. මොන දේක හරි අවසානය දුකෙන්මයි කෙළවර වෙන්නෙ. මහා ධනස්කන්ධයක් තිබුණත්, මොන තරම් ලස්සන රූපයක් තිබුණත්, කවද හරි ගෙවිල වැනසිලා යන කොට ඒ සියල්ලෙ අවසානය දුකක්මයි. ඒක ඒ විදිහට පවත්වගන්න ගියත් දුකක්. ප්‍රිය මනාපයක් කොච්චර ගන්න හැදුවත් අවසානය දුකින්මයි කෙළවර වෙන්නෙ. ඒ වගේම කෙළවර වෙන්නෙ අප්‍රිය අමනාප දෙයක් නම් ඒකෙන් අමුතු සැපක් එන්නෙත් නෑ. දුකක් තමයි කෙළවර වෙන්නෙ. හැබැයි කලින් කියල සැපක් තිබුණෙත් නෑ. අමුතුවෙන් සැපක් ආවෙත් නැත්නම්, තිබිච්ච දුක කෙළවර වුනා නම් අපි සතුටු වෙන්නෙ මොකක් ලැබිලද? ලැබුන ස්පර්ශයකින් නෙවෙයි. තිබිච්ච දුකක් නැති වුනා කියල, දුක් ස්පර්ශයකින් එන දුක් වේදනාව නැති වුනා කියල සතුටු වෙන්න පුළුවන්. එච්චරයි.

උදාහරණයක් විදිහට මනුස්සයෙකුට යම් කිසි විවාහයක් කර ගන්න ඕන කියල බලාපොරොත්තුවක්, කැමැත්තක් තිබුණොත් ඒක කර ගන්න බැරිද? පුළුවන් වුනොත් කැමැත්ත ඒ මොහොතට ඉෂ්ට වුනයි කියල ඔහු හිතනවා. දැන් ඒ පුද්ගලය ආස්වාද විඳිනවා. ඒ මනුස්සය විවාහ වුනේ යම් කිසි බලාපොරොත්තුවකින් නම් ඒකෙ සුව විඳිනවා. ඒක නෑ කියන්න බෑ. නමුත් එතනින් පස්සෙ ඒක කැමති විදිහට පවත්වගන්න පුළුවන්ද කියන එකයි, අවසාන ප්‍රතිඵලයයි බලන්න ඕන. එතනින් පස්සෙ ඒක කැමති විදිහට තියෙන්නෙ නෑ. ඒ සියල්ල කරල අවසානය බැලුවම නිකං හුළං බැස්ස වගේ ඉවර වෙනව මිසක් පවතින දෙයක් නෑ. ගෙවිල ඉවර වුනාට පස්සෙ ඒ විඳපු ආස්වාදය නැවත අදින්න බෑ. ඒ නිසා තව එකක් ඉදිරියට හඹා යන්න ඕන. මේ අත්බවයෙ බැරි නම් ඉදිරි අත්බවයට හරි යනවා. ඒක තමයි ඊළඟට කරන්නෙ. හැබැයි ඒ ගිහින් ඒකෙ අවසාන ප්‍රතිඵලයත් ඒකම තමයි. ගෙවිච්ච එක ගෙවුනා, ඒ ගැන හිත හිතා ඒ වගේම අලුත් එකක් හොයා ගෙන යනවා. හැබැයි එහෙම හෙව්ව පළියට තමන් කැමති එකක් ලැබෙන්නෙත් නෑ. එතකොට හඹා යාමක් තියෙනවා. හඹා යන්නෙත් එහෙම ආස්වාද මාත්‍රයක් මතු වෙලා ගෙවිල යන නිසා. ඒක කර්ම වේගයත් එක්ක එන උත්සාහයේ වීර්යයේ ප්‍රතිඵලයක්. ඒක නැවත ගන්න බෑ.

එතකොට ලෝකයේ වෙනස්වීම කියන එක තියෙනවා. ඒ වෙනස්වීමට තමන් අකමැති නම් එතැන එන්නෙ දුකක්. ඒ නිසා කැමැත්ත තියෙන්නෙ ඒක නවත්වගන්න, යම් කැමති ස්වභාවයක් තියෙනව නම් ඒ ස්වභාවය එසේ පවත්වන්න. ලෝකයේ යම් ප්‍රිය මධුර ස්වභාවයක් ඇත්ද තණ්හාව එහි උපදිනවා, එහි පවතිනවා කිව්වෙ ඒකයි. තණ්හාව පවතින්නෙ, උපදින්නෙ ලෝකයේ යම් ප්‍රිය මධුර ස්වභාවයක් තිබුණොත් තමයි. මේ ලෝකයේ ප්‍රිය මධුර ස්වභාවයෙන් යුක්ත වෙන්නෙ මොනවද? ඇස, රූප, චක්ඛු විඤ්ඤාණය, චක්ඛු සම්පස්සය, චක්ඛු සම්පස්සජා වේදනා.... ඔය විදිහට එකින් එකට යනවා. කන, නාසය, දිව, ශරීරය, මන කියන ඒවත් ඔය විදිහටම යනවා. ඒ සියල්ලෙම ප්‍රිය මධුර ස්වභාවයක් තියෙනවා. ඒ නිසා තමයි තණ්හාව හට ගන්නෙ. ප්‍රිය මධුර ස්වභාවයක් ඒවායේ නැත්නම් ලෝක සත්වයෝ සැරි සරන්නෙත් නෑ. නමුත් ඒ ප්‍රිය මධුර ස්වභාවය තමන් කැමති විදිහට නෑ. කැමැත්ත සම්පූර්ණ කරන්නෙත් නෑ. එතැනයි දුක එන්නෙ. අන්න ඒ නිසා අල්ලන්න වටින එකක් නෙවෙයි කියල ප්‍රඥාවෙන් දකින්න ඕන. ඒක තමයි විදර්ශනාත්මකව සිහි කරන්න ඕන.

ඊළඟට පෙළ දහමෙ පෙන්වා තියෙනවා ''අසාරකට්ඨේන අනත්ථා'' කියල. අනත්ථා කියන එක අනාත්මයි කියල තෝරන්න ගත්තෙ මේ මෑත ලියපු පොත්වල. ඒක ඉතා මෑතකදි හදා ගත්තු කතාවක්. මේ වෙනකොට බුදු දහම අනාත්ම වාදයක් කියලත් හදාගෙන තියෙනවා. ආත්ම කියන්නෙ ඇත කියන එක. ඇත කියන්නෙ එක අන්තයක්.

එතකොට නැත කියන්න පාවිච්චි කරල තියෙන්නෙ අනාත්ම කියන වචනය, ආත්ම නෑ කියන්න පාවිච්චි කරපු වචනය. මේ තව අන්තයක්. මේ අන්ත දෙකට බැස්සොත් නිවන නෑ. එහෙනම් මොකක්ද ගන්න කිව්වෙ? ඇත නැත කියන දෙකම අයින් කරල යථාර්ථය තුළින් සත්‍යය දකින්න ඕන.

බුදු දහම සාස්වත හෝ උච්ඡේද වාදයට වැටෙන්නෙ නැතිව, හේතු ඵල ධර්මතාවය හරහා සත්‍යය දකින හැටි පෙන්වනවා. උදාහරණ විදිහට අවිද්‍යා පච්චයෙන් සංඛාර වේ කියන ධර්මතාවයක් ඇත. ඒක වෙනස් වෙන්නෙ නෑ. තථාගයන් වහන්සේ පහළ වුණත් නැතත් ඒක එහෙමයි. ඒ වගේම අවිද්‍යා නිරෝධයෙන් සංඛාර නිරෝධ වේ කියන ධර්මතාවයක් ඇත. ඒක කාටවත් නෑ කියන්න බෑ. නමුත් ආත්මයක් ඇත්ද නැත්ද කියන කතාවක් එතන නෑ. ධර්මතාවය වෙනස් වෙන්නෙ නෑ. එතකොට ඒ ධර්මවල සරන්න සුදුසු දෙයක් නෑ, හරයක් නෑ, අනත්ථයි කියල දකින මානසිකත්‍වය එක කාරණයක්. ඒක ප්‍රඥාවෙන් දකින විමුක්ති ස්වභාවයක්. සබ්බං රසං ධම්ම රසෝ ජිනාති. සියලු රසයන්ට වඩා ධර්ම රසය දිනනවා, ශ්‍රේෂ්ඨයි කිව්වෙ ඒකයි. එතකොට මොකක්ද දකින්නෙ? යමක් කැමති සේ නැත්නම් ඒක දුකයි. එහෙනම් මේ යමක් කියන සියල්ලමත්, හොඳයි කියපු දේත්, අපි කැමති විදිහට පවතින්නෙ නෑ. නරකයි කියන දේවල් අපි ළඟට එනවට කැමතිත් නෑ. නමුත් හොඳ ගෙවිල යනවා, නරක එනවා. දුක එනවා, සැප කියන ඒවා ගෙවිල යනවා, ඇත කියල පවත්වන්න දෙයක් නෑ. මේ තමයි ලෝක ධර්මතාව. එහෙනම් කැමති සේ නැති සියල්ලම මේ හේතුවෙන් දුකයි.

ඉතින් යමක් කැමති සේ නැත්නම්, ඒ ආකාරයෙන් දුකට සම්බන්ධ වෙනව නම්, දුකෙන් යුක්ත නම් ඒවා අත්ථද අනත්ථද? අර්ථ සහිත ද අනර්ථ සහිතද? ''හීනෝ ගම්මෝ පෝථුජ්ජනිකෝ අනරියෝ අනත්ථ සංහිථෝ'' මේ විදිහට පෙළ දහමෙ තියෙන්නෙ අනත්ථ සහිතයි කියල. අනර්ථ කියන්නෙ සංස්කෘත භාෂාවෙන්. අනත්ථ කියන්නෙ පාලි වචනය. සිංහල වචනය තමයි අනාථ. යමක් කැමති සේ නැත්නම් ඒ නිසාම ඒක දුකයි, අනාථයි. දැන් මෙතන ඇති නැති කතාවක් නෑ. ඇත්ත දැක්කම යථාර්ථයෙන්ම අනාථයි කියල අවබෝධ වෙනවා. ලෝකයේ සැරිසරන තාක්කල් අපි අනාථයි. මොකද හේතුව කැමති සේ පවතින එකක්වත් ලෝකයේ නෑ. ඒ පසුපස යන්න යන්න දුක එනවා. එහෙනම් එබඳු වන්නා වූ වැඩපිළිවෙළම අනාථයි.

මේ කාරණය දැක්ක නම් දහම් දැක්කා. ලෝකය අනාථයි කියල දැක්කම ලෝකය ඇතුළෙ නම් නාථ තැනක් නෑ, හොඳයි කියන්න තැනක් නෑ, ප්‍රිය මනාපයි, යහපතයි කියල ගන්න තැනක් නෑ. එහෙනම් මොකක්ද කරන්න තියෙන්නෙ? මේ ලෝකෙට බැඳිල තියෙන වාන සහිත තණ්හා බැම්මෙන් නික්මුණා නම් එදාට ලෝකයත් සමග සම්බන්ධය ඉවරයි. නිවන නාථයි, ලෝකය අනාථයි කියල දකිනවා. දැන් මේ කාරණය ගැන සැක හිතන්න දෙයක් හෝ ඒක වැරදියි කියල නිගමනය කරන්න පුළුවන් ක්‍රමයක් හෝ තියෙනවද? මේ කාරණය මොන පණ්ඩිතයෙකුටවත්, මොන දාර්ශනිකයෙකුටවත් හේතු සාධක ඇතිව බොරු කරන්න පුළුවන්ද? ලෝකය අනාථයි, අතහැරීම, මිදීම, නොඇල්ම, නිවනම නාථයි කියන මේ කාරණය ආගම් පිළිගන්න කෙනෙකුට හෝ නොපිළිගන්න කෙනෙකුට හෝ කාට



හෝ බොරු කරන්න පුළුවන්ද?

මේ තමයි ඥානවන්තයන් විසින් දකින ඇත්ත. 'පච්චත්තංවේදි තබ්බෝ විඤ්ඤූ' - යම් කිසි ප්‍රතිඵලයක් එන ආකාරයේ ප්‍රත්‍යය විද්‍යානුකූලව දැන ගෙන ඒ පිළිබඳව ඥානයෙන් තහවුරු කරනවා. ඒ කියන්නෙ යම් කිසි ඵලයක් හට ගන්නෙ මෙහෙමයි කියල විද්‍යානුකූලව තහවුරු කර ගන්න පුළුවන් ඥානයක් තියේ නම් ඒ ගැන තමයි මේ කියන්නෙ. ඥානවන්තයන් විසින් විද්‍යාත්මකව දැකිය යුතු දේ දැක ගත්තා. මේ තමයි ලෝකෙන් මිදෙන හැටි. ලෝකය අනාථ නම්, ඇසුරු කළ යුතු ද පහ කළ යුතුද? අනාථයක් දැක්කොත් ඊට පස්සෙ හිතෙන්නෙ මොකක්ද? ඒක ඇසුරු කළ යුත්තක් කියල නිගමනය කරනවද, නැත්නම් පහ කළ යුත්තක් කියල නිගමනය කරනවද? නැත්නම් ඒක ආස්වාස කළ යුතුයි කියල නිගමනය කරනවද, ප්‍රස්වාස කළ යුතුයි කියල නිගමනය කරනවද? ප්‍රස්වාස - පහ කරනවා. ආස්වාස - ඇසුරු කරනවා.

ලෝකය අනාථයි කියල හේතු සාධක ඇතිව දැක්ක නම් ඒක ආස්වාස කළ යුත්තට අයිතිද ප්‍රස්වාස කළ යුත්තට අයිතිද? 'හන්දා මයං ආනන්ද සබ්බේ සංඛාරා අනස්සාසිකා' ආනන්ද මේ සියලු සංඛාරයෝම අනාස්සාසිකයි, ආස්වාස කරන්න වටින්නෙ නෑ. හැබැයි මේ කියන්නෙ නාසයෙන් ගන්න හුස්ම හෝ වායුව ගැන නෙවෙයි. මේ තමයි බුදුන් වහන්සේ දේශනා කළ ආස්වාසය සහ ප්‍රස්වාසය. මේ ලෝකයේ තියෙන ස්වභාවය තේරුම් අරගෙන, කැමති සේ නැති නිසාම දුකයි, ඒ නිසාම සාරයි කියල ගන්න වටින්නෙ නැත්නම් අසාරයි, අනාථයි. එහෙනම් ඒ වැඩපිළිවෙළම අනාථයි කියල නිගමනය කළා නම්, එයින් පිටස්තර පැවැත්මක් නෑ කියල දැන ගත්ත නම්, තවදුරටත් ඒකෙ සැරිසරන්න වටින්නෙ නෑ කියල නිගමනය කරනවා.

මේ සියලු පැවැත්ම කියන එක තමයි සියලු ලෝක කිව්වෙ. පවතින සියලු ලෝකම අනාථයි. එහෙනම් මොකක්ද නාථ? අතහැරීම නාථයි, නොඇල්ම නාථයි, මිදීම නාථයි, නිවනම නාථයි. මේ විදිහට කර්මස්ථානයකුත් එනවා. දැන් අනාථ දැක්කම පහ කරනවා, ප්‍රස්වාස කරනවා. එහෙනම් අස්වැසිල්ල මොකක්ද? අතහැරීම, නොඇල්ම, මිදීම, නිවන. මේවායින් තමයි අස්වැසිල්ල ගන්නෙ, ආස්වාස කරන්නෙ. අතහැරිය යුතුයි, නොඇලිය යුතුයි, මිදිය යුතුයි, නිවිය යුතුයි. මොකකින්ද? ලෝකාස්වාදයෙන්, ලෝකය අල්ලා ගැනීමෙන්. එහෙනම් සියලුම ලෝක අනාථයි, නිවනම නාථයි. අනාථ නාථ, ධර්මය තුළින් දැක්කා. දැන් බුදුන් දැකල නැත්ද? බුද්ධ රූපය නෙවෙයි, ධර්මය තුළින් දැකිය යුතු බුදුන් දැක්කා, ලෝක ධර්මතාවය දැක්කා. ලෝකෙ ඇතුළෙ කොතැනකවත් නාථ තැනක් නෑ. කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන තුන් ලෝකයම අනාථයි. කොහේ උපන්නත්, කොහේ මම, මගේ කියල ගොඩගහ ගත්තත්, කැමති සේ නැති එකක්ම ගොඩගහගත්ත මිසක් කැමති සේ පවතින මමෙක්, කැමති සේ පැවැත්විය හැකි මගේය කියන දෙයක් මෙච්චර කල් සැරිසරපු ලෝකයේ දෙවියෙක් අතරවත්, බ්‍රහ්මයෙක් අතරවත්, මනුස්සයෙක් අතරවත්, තිස් එක් තලයේ කවුරු අතරවත් තිබිල නෑ. දැනුත් නෑ. මතුත් නෑ.

එහෙනම් අපි ගන්න තීරණය මොකක්ද? තුන් ලෝකයම අනාථයි. කාම ලෝකයේ ''මම'' කිව්ව කයක් තිබුණ නම් අනාථයි, ''මගේ'' කියල යමක් තිබුණ නම් ඒකත් අනාථයි. රූපාවචර ලෝකයේ බ්‍රහ්මයෙක් වෙලා උපන්නත් ''මම'' කියල ගත් කයත් ''මගේ'' කියල ගත් ඒවත් අනාථයි. ''අසාරකට්ඨේන අනත්ථා'' - සාරත්වයක් නෑ. කැමති සේ පැවැත්මක් නැතිව ගෙවිල යනව නම්, මම, මගේ කියපු ඒවා ඒ විදියට පවත්වන්න බැරි නම්, ''මමයි, මගෙයි'' කියන ඒවා මට ඕන විදිහට පවත්වන්න බැරි නම්, අපි අල්ල ගෙන දඟලන මේ මුළු වැඩපිළිවෙළම අනාථයි. එහෙනම් අරූප ලෝකයේ කොච්චර කල් හිටියත්, මහා කල්ප 84,000 ක් නේවසඤ්ඤානාසඤ්ඤායතනයේ අරූපී බ්‍රහ්මයෙක් වෙලා හිටියත්, මහා කල්ප 84,000 අවසානයේ ඒකත් ගෙවිල ඉවර වෙලා අනාථ වෙනවා. නැවතත් ආපසු එන්න වෙනවා. නැවත සසර සැරි සරල සතර අපායෙත් යන්න වෙනවා. එහෙනම් ඒ අත්බවත් අනාථයි. ඉතින් ලෝකෙ කොහෙද නාථ තත්ත්වයක්. මේ තුන් ලෝකයේම කවුරු කොතැන හොඳයි කිව්වත් අනාථ වෙනව මිසක් නාථ එකක් නම් ලෝකය ඇතුළෙ කොතැනකවත් හමුවෙලා නෑ. හමුවෙන්න හේතුත් නෑ. එහෙනම් සියලු ලෝක අනාථයි.

එතකොට ආන කළ යුතු හෙවත් ආශ්වාස කළ යුතු දේ තමයි අතහැරීම, නොඇල්ම, මිදීම, නිවන. මේවා නාථයි කියල සිහි කළා නම් ඒ තමයි අස්වැසිල්ලට ආශ්වාස කළ යුතු දේ. එහෙනම් මොකක්ද ප්‍රශ්වාස කරන්නෙ ? මෙච්චර කල් අවිද්‍යාවෙන් තෘෂ්ණාවෙන් මුළා වෙලා බඳාගෙන ඉන්න හඳපු මේ මුළා වැඩපිළිවෙළම අනාථයි කියල දකින කොට, සිහි කරන කොට මුළාව පහවෙලා යනවා. මුළාවෙන් අල්ල ගත් යම් අවිද්‍යාවක් තෘෂ්ණාවක් තිබුණ නම් ඒක ගෙවිල යනවා. ප්‍රශ්වාස වෙලා යනවා. මේ නිසා සංයුක්ත නිකායේ (4)-478 පිටුවේ එන <u>අස්සාස සූත්‍රයෙත්, පරමස්සාස සූත්‍රයෙත්</u> දේශනා කරල තියෙනවා ස්පර්ශ ආයතන හය පිළිබඳව. ඇස, කන, දිව, නාසය, ශරීරය, මන කියන මේවායින් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන මේවා ස්පර්ශ කරමින් ඒවායේ අවිද්‍යාවෙන් තෘෂ්ණාවෙන් බැඳි බැඳී, රැඳි රැඳී යන ගමනක් ඇත්ද, මේ ස්පර්ශ ආයතන හයෙන් කෙරෙන වැඩපිළිවෙළ ගැන මෙහෙම විග්‍රහ වෙනවා.

උදයංගම - ඒවා උදා වෙන හැටි, ඒ ඒ මොහොතේ ඒ ඒ ස්පර්ශයන් නිසා අල්ල ගන්න ඒවා. අත්තංගම - ඒවායේ පැවැත්මේ ස්වභාවය. ආස්වාද - ඒවායේ ඇති වන ප්‍රිය මනාප ස්වභාවය. ආදීනව - ඒ නිසා විඳින්න සිදුවන දුක්ඛිත ස්වභාවය. ඊළඟට වැඩක් නැති බව දැනගෙන අත්හැරී යන නිස්සරණය. මේ කාරණාවන් තතු සේ දකිනවද ඒ වෙලාවට ආශ්වාස සහිතයි. ඇත්ත ඇති හැටියෙන් දැකල මිදුනොත් අස්වැසිල්ල පූර්ණයි. මොකද එතකොට අත්හැරී, නොඇලී, මිදී පහවෙලා යන නිසා ලෝකය ප්‍රශ්වාස වුණා. සත්‍යය ආශ්වාස වුණා. දැන් අස්වැසිල්ල ලැබුණා. ඒක පූර්ණත්වයෙදි ලැබෙන්නෙ අරිහත් ඵලය. අස්සාස සහ පරමස්සාස සූත්‍රවලින් බුදුන් වහන්සේ මෙහෙමයි පෙන්වා තියෙන්නෙ. අපි දකින්නෙ නැතුවට ලෝකයේ හැම දේකටම මේ පහ ක්‍රියාත්මක වෙනවා. හටගත් හැම දෙයක්ම මේ පහ තුළින් නවත්වන්න බැරි ගංගා ප්‍රවාහයක් වගේ ගලාගෙන ගිහින් අවසානයේ නිස්සරණයට යනවා. නිස්සරණය කිව්වම, එතනදි ඒ සම්මතයෙන් තවදුරටත් කතා කරන්න බෑ, ගෙවිල ගියා, සරන්න බෑ. ඒ විදියට දකින නුවණ තමයි නිස්සරණ ප්‍රඥාව.

අපි ප්‍රිය මනාප වශයෙන් හිත බැඳ ගෙන ඉන්න ලෝකය තුළ යම් වස්තුවක් හට ගන්න කොට සත්ව, පුද්ගල, ද්‍රව්‍ය වස්තු කියන මේවා අනාදියේ පටන් තිබිච්ච ඒවා නෙවෙයි. යම් යම් හේතූන් නිසා හටගත් ඵල ධර්ම. මේවා හට ගන්න කොට කවදා හෝ උදාවීමක් හෙවත් හට ගැනීමේ ආරම්භයක් තියෙනවා. ඊළඟට ඒ සම්මතය සම්පූර්ණ වුණාට පස්සෙ ඒ සම්මත නාමයෙන් භාවිතා කරන්න පුළුවන්. එතකොට, ඇති බවක් විද්‍යමාන වෙනවා. ඊළඟට ඒකෙ ප්‍රගුණ කාලය, තරුණ කාලය හෙවත් ආස්වාද කාලය. දැන් ඒක මොහොතක්වත් එකාකාරීව පවතින්නෙ නැතිව එකින් එක ගෙවිල යනවා. ලෝක ප්‍රවාහය ගෙවිල යන හැටි තමයි මේ පෙන්වන්නෙ. ආස්වාද කාලයෙන් පසු වැහැරිලා යන ආදීනව කාලය එනවා. ඊළඟට මැරිල යනවා, නිස්සරණයි. දැන් ඒ තුළ සරන්න බෑ. මේ කාරණා පහට අයිති නැති ලෝකයක් නෑ. ලෝකයේ මේ පැත්තයි අපි දකින්න ඕන.

දරුවෙක් බඩට උප්පත්ති වශයෙන් ආවම කළල රූපයේ පටන් දරුවගෙ වැඩීම ආරම්භ වෙලා උදයංගම අවස්ථාව ගෙවා ගෙන එනවා. පිරිපුන් වයසෙදි අවුරුදු 16 ක තරුණයෙක් හෝ තරුණියක් බවට පත් වෙන කොට වැඩෙන කාලයෙදි වැඩි වැඩී එනවා. ඒ උදයංගම අවස්ථාව. ඒක නැවතිච්ච වෙලාවක් නෑ. අත්තංගමයට ආවට පස්සෙ තරුණයා හෝ තරුණිය. ඊළඟට ආස්වාද විඳගෙන කාමාස්වාද, රසාස්වාද පසුපස දුවනවා. ඒ ආස්වාද කාලය. හැබැයි ඒකත් ගෙවිල අවුරුදු පනහක් හැටක් යනකොට ආදීනව කාලය ළං වෙනවා. දැන් ඉස්සර කරපු හපන්කම් කරන්න බෑ. ලස්සනට තිබුණු කය රැළි වැටිල ගිහින්, හොඳයි කියල හිතන් හිටපු ඔක්කොම දේවල් වැහැරිලා ගිහින්. බල දුබල වෙලා. කොන්දෙ අමාරුව, වා පිත් සෙම් දොස, ලෙඩ රෝග මතු වෙලා ආදීනව කාලය ඇවිත්. මෙහෙම ගිහින් මනුස්සයා මළා. දැන් සරන්න බෑ. මනුස්සයා කියන එක ඉක්මෙව්වා. නිස්සරණය.

ගහක් කොළක් අරන් බැලුවත් ඒ වගේ. කොස් ගහක් ගත්තොත් පළමුවම කොස් ඇටය හිටවනවා. ඒක කොන්ඩි වෙලා උදයංගම අවස්ථාව ආරම්භ කරනවා. කොස් ගහ යම් තරමකට උස මහත යනකල් වැඩිල උදයංගමය පූර්ණ වෙනවා. හැබැයි උදයංගමයෙන් නවතින්නෙ නෑ. දැන් අත්තංගම අවස්ථාව ආවම කොස් ගහ පිරිල සම්පූර්ණයි. ඊළඟට ආස්වාද කාලය ඇවිත් ගෙඩි හැදිල පල දරල හොඳට ලස්සනට තියෙනවා. දැන් ක්‍රමයෙන් මෝරල මෝරල ගෙඩි හැදෙන්නෙ නැති අවස්ථාවක් එනවා. ගහේ කොළත් පුංචි වෙලා අන්තිමට පුංචි පුංචි කොළ කැලි ටිකක් ඉතුරු වෙලා එහෙන් මෙහෙන් අතු මැරිල වැහැරිලා ගිහින් කොස් කඳත් තැනින් තැන පුපුරල ඕජස ගලනවා. දැන් මේ මැරෙන්න යන කාලය. වැහැරෙන කාලයෙන් කොස් ගහේ ආදීනව කාලය තමයි මේ එන්නෙ. යම් දවසක කොළ ටික ඔක්කොම හැලිල ගහ මැරිල යනවා. දැන් තියෙන්නෙ කොස් ගහක් නෙවෙයි මළ කොටයක්. නිස්සරණයි. කොස් ගහට විතරක් නෙවෙයි හැම ගහකටමත් මේ ඉරණම තමයි. සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු ඔක්කෝටමත් පොදුයි. මෙයින් තොර දෙයක් ලෝකය ඇතුළෙ හොයන්න නෑ. මේ ධර්මතාවය මෙහෙමයි කියල තතු සේ දැක්ක දාට, මේ ලෝකයේ මොනවද අපිට අල්ල ගන්න තියෙන්නෙ?

මේ විදියට වර්තමාන මොහොතකටත් මේ කාරණය යොදල ඒ ඒ වර්තමාන මොහොතෙ තියෙන ස්වභාවය දකින්න ඕන. බද්දේකරත්ත සූත්‍රයෙන් පෙන්වන්නෙ ඒ විදියට ආස්වාද, ආදීනව, නිස්සරණ කියන කාරණා වර්තමාන මොහොතකට ගලපල බලන හැටි. අර කාරණා පහ කැටි කරල තමයි තුනක් විදිහට දක්වන්නෙ. එතකොට ඒ කාරණා තුන දැක්ක

නම් නිවන් දකිනවා. ඒ කියන්නෙ වර්තමාන මොහොතක තමයි නිවන් දකින්නෙත්. එතකොට වැටහෙනවා, මේ ආස්වාදයන් එකක්වත් අපේ කැමැත්ත ඉෂ්ට කරන්නෙ නෑ කියල. ලෝකයේ හැම සත්වයෙකුටම පොදු ධර්මතාව තමයි මේ.

දැන් මේ වර්තමානය කියන කාරණය විග්‍රහ කරල දැන ගන්න ඕන. වර්තමානය කියන එකත් විවිධාකාරයි. වර්තමානය කියල ගත්තම කාල සීමාවෙන් මිම් වෙන් කරන්න බෑ. ඒ කාරණය උදාහරණයකින් මේ විදිහට පහදන්න පුළුවන්. අනාගත බුදුන් වහන්සේ තමයි මෛත්‍රී බුදුන්. අතීත බුදුන් වහන්සේ තමයි කාශ්‍යප බුදුන්. වර්තමාන බුදුන් වහන්සේ තමයි ගෞතම බුදුන්. දැන් එතකොට මේ කියන වර්තමාන කාලය කොච්චරද? බුද්ධාන්තරයක්. ඒ කියන්නෙ ගෞතම බුදුන් වහන්සේ බුදු වෙච්ච දවසෙ පටන් මේ බුද්ධ සාසනය පවතින කල්. ඒ නිසා වර්තමානය කිව්වම හරියටම කාල නිර්ණයක් කරන්න බෑ. ඊයෙයි, අදයි, හෙටයි. හෙට කියන්නෙ අනාගතය. ඊයෙ කියන්නෙ අතීතය. අද කියන්නෙ වර්තමානය. ඒ අවස්ථාවෙදි වර්තමානය දවසකට සීමා වුණා. ඒ එක ක්‍රමයක්. නවීන විද්‍යාව ගත්තත් එහෙමයි. යම් කිසි කාලයක තිබ්බ විද්‍යාවට පැරණි විද්‍යාව කියල කියනවා. දැන් තියෙන විද්‍යාවට නවීන විද්‍යාව කියනවා. මතු පහළ වෙන විද්‍යාවට අනාගත විද්‍යාව කියනවා. එතකොට වර්තමාන නවීන විද්‍යාවට කාල පරාසයක්, මිම්මක් කියන්න පුළුවන්ද?

අපි ''දවස'' කියල වචනයක් භාවිතා කරනවා. එකල රජ දවස කියලත් කියනවා. හැබැයි පැය 24 ක දවස නෙවෙයි ඒ කියන්නෙ. පැරණි රජ දවස කිව්වම මහා දීර්ඝ කාලයක්. ඊළඟට මෙදවස කියනවා, මතු දවස කියනවා. ඒත් අර වගේ දීර්ඝ කාලයක්. හැබැයි මිම්මක් දෙන්න බෑ. එතකොට වචනයේ නිරුක්ති අර්ථයෙන් බැලුවොත් දවස කියන්නෙ යම් කිසි දවා හරින දේවල් ඇසුරු කරන කාල සීමාව. යමක යම් සම්මතයක් අරගෙන ඒ සම්මතය දව දවා ඇසුරු කරනවා. දැවිල ඉවර වෙන්නෙ නෑ. එකක් ඉවර වෙන කොට තව එකක් එනවා.

අමු දෙල් ගෙඩියක් අරගෙන ගිනි ගොඩක් ගහල ඒකට දාල පුච්චනවා. දැන් පිච්චෙන දිහා බලාගෙන ඉන්නවා. ඉස්සෙල්ලම පේන්නෙ හොඳ ඔප මට්ටමක් තියෙන දෙල් ගෙඩියක්. දැන් ඒක එහෙන් මෙහෙන් ඉස්ම වැක්කෙරි වැක්කෙරී පෙන දදා තැම්බෙනවා. කවුරු හරි ඇහුවොත් මොකක්ද කියල දෙල් ගෙඩියක් කියල පේනවා. තව ටික වෙලාවක් යන කොට තැනින් තැන පුපුරල දුම් දානවා. තවත් ටික වෙලාවකින් උඩින් පිච්චිලා නැට්ට හරිය ටිකක් කර වෙලා ගිහින් ඇතුළෙනුත් පුපුර පුපුර යනව පේනවා. හැබැයි තවමත් කියන්නෙ දෙල් ගෙඩිය කියල. තවත් ටික වෙලාවක් යන කොට අඟුරු වෙන්න පටන් ගන්නවා. ඒත් දෙල් ගෙඩිය කියන සංඥාව තියෙනවා. ඔහොම ගිහින් අන්තිමට කෑලි හැලිල විසිරිලා අඟුරු වෙලා දෙල් ගෙඩියද කියන්න බැරි තත්ත්වයක් එනවා. හැබැයි ඒක ගින්නට දාපු කෙනා දන්නවා ඒ දෙල් ගෙඩිය බව. ඔහොම ගිහින් අළු බවට පත් වෙනවා.



දැන් දෙල් ගෙඩිය කියල දැවීම ඇසුරු කරන්න එකක් නෑ. දැවි දැවී ඇසුරු කළේ යම් තාක් දුරටද, ඒ තාක් කල් දෙල් ගෙඩිය කියන සම්මතය භාවිතා කළා.

අන්න ඒ වගේ තමයි දවසත්. දෙල් ගෙඩිය පිච්චෙන්න ගිය දවස, දැවීම ඇසුරු කරපු කාලය. මළ මිනියක් වුනත් ඔච්චරයි. දවස කියන වචනයේ අදහස දෙන්නයි මේ උදාහරණය ගත්තෙ. යමක් යම් කාල සීමාවකට සම්මත කර ගත්ත නම් ඒක තමයි දවස. ඒක අවස්ථානුකූලව වෙනස් වෙනවා. ඇසුරු කරල දවල ඉවර වෙන කල් එදවස කියන එකයි යන්නෙ. රැයක් එළි වෙලා නැවත වතාවක් රෑ වෙලා ඊළඟට නැවතත් එළි වෙන්න යන කොටත් ඒ කිව්වෙ දවසක් නම්, ඒ දවස ඇසුරු කර ගෙන ගෙවී ගෙවී යනවා. ඒ විදිහට මාසයක් ගත්තත් ඒක අවසානයේ කැටි කරල දවසක් කියල ගන්න පුළුවන්. ඒ විදිහට අවුරුද්දක් කැටි කරල ගත්තත් දවසක් කියල ගන්න පුළුවන්. පෙර රජ දවස කැටි කරල ගත්තොත් සම්මතයෙන් නම් අවුරුදු ගණනාවක්. ඒත් දවස. ඒ නිසා මේ වචනයේ අර්ථය නිරුක්තියෙන් මේ විදිහට දකින්න ඕන.

ඊළඟට මොහොත කියන එකත් විවිධාකාරයි. ඒ මොහොත, මුහුර්ථය, වෙලාව, කාලය, මාත්‍රාව ... ආදී වශයෙන් විවිධ නම්වලින් හඳුන්වනවා. ඒ හැම වචනයක්ම තැනට ඔබින විදිහට තමයි ගන්න ඕන. නැකැත් සාස්ත්‍රයක මොහොත කියන වචනය ගන්නෙ ඇහිපිය ගහන මොහොතක්, අසුරු සැණක් පෙන්වන්න. ඒ මොහොත වෙනයි. චිත්තක්ෂණ මොහොතක් ගත්තොත් උත්පාද, ඨිති, භංග අවස්ථා තුන තමයි පෙන්වන්නෙ. එතකොට විදර්ශනා කරන මොහොත වෙන එකක්. ඒ නිසා මොහොත කියන්නෙ පොදු වචනයක්. ඒක අවස්ථානුකූලව ගන්න ඕන. උදාහරණයක් විදිහට ගුරුවරයා කියල කිව්වොත් මොන ගුරුවරයාද? විද්‍යා, ගණිත, කලා, සංගීත .... මේ ආදී වශයෙන් විවිධ ගුරුවරු ඉන්නවා. ඒ නිසා මොහොත කියන එකත් ඒ ඒ අවස්ථාවත් එක්කයි බලන්න ඕන. උදාහරණයක් විදිහට මිනිහගෙ හොඳ වෙලාව, නරක වෙලාව කියල කියනවා. මේ කාලය හොඳ කාලයක් කියල කියනවා. හැබැයි එතන කාල සීමාවක් වෙන් කරන්න බෑ, ඒකීය මිම්මක් පෙන්වන්න බෑ. ඒ නිසා ඒ ඒ මොහොත කියන එක ඒ ඒ දේවල් අනුව වෙනස් වෙනවා.

දැන් මේ හැම එකකම උදයංගම, අත්තංගම, ආස්වාද, ආදීනව, නිස්සරණ කියන අවස්ථා 5 අනුපිළිවෙලින් තියෙනවා. උදාහරණයක් විදිහට අපි තේ එකක් බොන්න පටන් ගන්නවා. තේ එකක් ළඟට ගෙනාවම ඒක බොන්න අවස්ථාව උදා වෙනවා, උදයංගම. ඊළඟට පටන් ගෙන බොනවා. අත්තංගම. ඒකෙ රසයක්, විවේකයත්, පිපාසය සංසිඳීමක් තියෙනවා. ඒක තමයි ආස්වාදය කියල ගන්නෙ. දැන් ඉතින් බීල අහවර වුනාම ඒක අහක් කරන්න කටයුතු කරන්න ඕන. හිස් කෝප්පය අතේ තියාගෙන ඉන්න බෑ. ගෙනිහින් හෝදන්න ඕන. ඒ අතර දාඩිය ටිකක් එහෙම දාන්නත් පුළුවන්. ඒ සියල්ලම දුක් කරදර. ඒව තමයි ආදීනව. දැන් ඒ කටයුත්ත සම්පූර්ණයෙන්ම ඉවරයි. තවදුරටත් තේ බීමේ ක්‍රියාවලිය සිද්ධ වෙන්නෙ නෑ. ඒ තමයි නිස්සරණය.

අපි යමක් මේ විදිහට තිබුණ නම් කියල බලාපොරොත්තු වෙනවා. උදාහරණයක් විදිහට පිපාසයක්, පීඩාවක් ඇවිත් තේ එකක් බොන්න ලැබෙනවා. දැන් තේ එක බිව්වට පස්සෙ නැවතත් තේ ඉල්ලන්නෙ නෑ. එහෙම අවශ්‍යතාවයක් නෑ. හැබැයි ඒ තත්වය දිගටම තියෙනවද? ඒ තේ එක බීපු තත්වය දිගටම තිබුණොත් අපි නැවතත් කවදාවත් තේ ඉල්ලන්නෙ නෑ. මොකද ඒ ආස්වාදය තෘප්තිමත්. ඒ තෘප්තිය දිගටම තියෙනව නම් නැවතත් තේ බොන්න ඕන නෑ. නමුත් ඒක එහෙම නැති එකමයි ගැටළුව. මොකද යම් තෘප්තියක් එන්නෙ අසහනයක්, දාහයක් නිසා. ඒ අසහනයට දාහයට ප්‍රතිකර්ම කරන කොට තෘප්තියක් එනවා. දාහයට හේතුව මොකක්ද? රූපය මුල් කර ගෙන වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ ගොඩ නැගීම. ඒ කියන්නෙ පංචස්කන්ධයක් ගොඩ නැගීම. දැන් පංචස්කන්ධය දුක්ඛස්කන්ධයක්ද කියල ඇහුවම නෑ කියන්නද? මේ මුළු පංචස්කන්ධයම කියන්නෙ දාහයෙන් පීඩිත එකක්. ඒකට තමයි මේ සියලු අවශ්‍යතාවයන් ඕන වෙන්නෙ.

එතකොට මේ හැම එකකම දුක තියෙනවා. ඒක දකින්න ඒ හැම මොහොතක්ම අනු කොටස්වලට බෙදල බලන්න ඕන. ඒ ඒ මොහොතෙ විදර්ශනා කරල ඒක දකින්න ඕන. මේ හැම එකකම ක්ෂණික මොහොතක් තියෙනවා. වේදනා චෛතසිකයෙන් එන වින්දනයක් ගත්තත් මේ කියන කාරණා 5 ඒක ඇතුලෙ තියෙනවා. සැප වේදනාව කියන එක ආස්වාදයක් ගෙන දෙනවා. හැබැයි ඒ සමගම දුක් වේදනාවකුත් එනවා. ඒකත් අයින් කළාට පස්සෙ දැන් වේදනා චෛතසිකය කිය කියා ඒ තුල සරන්නෙ නෑ. නිස්සරණයි. එතකොට මේ ආස්වාද මාත්‍රයට තමයි ලෝක සත්වයා රැවටෙන්නෙ. ඒ නිසා ආදීනව දහසක් විඳිනවා.

උදයංගම කිව්වම උදා කරන කොටත් වෙහෙසක් තියෙනවා. එක එක කොටස් ගත්තම ඒ හැම එකක්ම අනු කොටස්වලට බෙදල බලන්න පුළුවන්. උදාහරණ විදිහට උදයංගමේ උදයංගම, උදයංගමේ අත්තංගම, උදයංගමේ ආස්වාද, උදයංගමේ ආදීනව, උදයංගමේ නිස්සරණ. මේ විදිහට හැම අවස්ථාවක්ම කෙළවරක් නැතිව බෙදන්න පුළුවන්. එතකොට තේ එකක් බොන කොට පිපාසය සංසිඳීමක්, රසයක් එනවා. ආස්වාදයක් තියෙනවා. හැබැයි තේ එක හදන වෙලාවට වෙහෙසක්. ඒක හරියට හැදෙනව නම්, වෙලාවට අවශ්‍ය උපකරණ, අමුද්‍රව්‍ය, විදුලිය තියේ නම් සතුටුයි. ඒ තමයි ඒ ඒ මොහොතෙ එන උදයංගම සතුට.

සැරීමෙන් නික්මීම නිසා වෙහෙස නොවී ඉදීම සතුටක්. ඒ තමයි නිවන් සුවය. එතකොට ආස්වාදය ආස්වාදය විදිහට දකල, ආදීනව ආදීනව විදිහට දකල, නිස්සරණය නිස්සරණය විදිහට දකින්න ඕන. ඒ තව ක්‍රමයක්. නිස්සණය හරියට දකින්න නම් හැම තිස්සෙම වර්තමාන මොහොතක් හැදෙන හැටි බලන්න ඕන. ඒ කියන්නෙ ක්ෂණය කියන එක ඉක්මවා යන්නෙ නැතිව ඒ අවස්ථාව දකින්න ඕන. ක්ෂණයත්, ක්ෂණයට හේතුවත්, ක්ෂණ නිරෝධයත්, ක්ෂණ නිරෝධ කරන මාර්ගයත් දකින්න ඕන. නමුත් අද ඒක නෙවෙයි කරන්නෙ. ඇහි පිය ගහන මොහොතක් කෝටි ගණනකට බෙදල බලන්න කියනවා. නමුත් ඒක කරන්න බැරි දෙයක්. මොකද චිත්ත විෂය අචින්ත්‍යයි. ඒක සර්වඥගෝචර විෂයක්. ඒ නිසා එහෙම බලන්න ගියොත් පිස්සු හැදිල තමයි නතර වෙන්නෙ. එහෙම දෙයක් කරන්න ගියොත් ඒක කරන්න බෑ කියලත් බුදු දහමෙ පෙන්වනවා.

එතකොට රහතන් වහන්සේලා ප්‍රඥාවෙන් නිස්සරණය කරනවා. ඒක වෙනම එකක්. සම්මත නිස්සරණය වෙනම එකක්. අවස්ථා 5 ක සම්පිණ්ඩනයේ ස්වභාවය දකල ඒකෙ ගන්න හරයක් නෑ කියල ප්‍රඥාවෙන් දකල, මට ඔහොම ඒවා වැඩක් නෑ කියල ඒ පහෙන් මනස ඉක්මවා ගියොත් ඒ තමයි නිවන් නිස්සරණය. ලෝක සම්මත නිස්සරණය කියන්නෙ අසහනයට තාවකාලික සහනයක් දීම. ඒක නිස්සරණය කියල හිතාගෙන හිටියත් ටික වෙලාවක් ගියාට පස්සෙ ඒ අවස්ථාවත් ඉක්මවා යනවා. එතකොට නැවතත් සහනයක් හොයනවා. උදාහරණ විදිහට බඩගින්නට බත් කනවා. කෑවට පස්සෙ නැවත කන්න බෑ. ඒ වෙලාවට ඒ ක්‍රියාවලිය නිස්සරණයි. නමුත් නැවත බඩගිනි හැදෙන කොට නැවතත් බත් ඕන වෙනවා. හැබැයි මේ කාරණය ප්‍රඥාවෙන් දැක්කොත්? මෙහෙම කයක් නොතිබුණා නම් සදහටම බත් කන්න ඕන නෑ කියල දකිනවා. ඒ තමයි ප්‍රඥාවෙ නිගමනය. එතකොට මේ කය නැත්නම් මේ ප්‍රශ්න ඔක්කොම ඉවරයි.

ඉතින් ඒක නම් ධර්මතාවය, ඒ ධර්මතාවය තුළ පැවත ගෙන යන වැඩපිළිවෙළක් තුළ ඒ ඒ අවස්ථාවන්ට රැවටිලා මේක ''මම, මගෙ'' කිව්වට, ''මගේ ආත්මය'' කියල මුලාවට පත් වුණාට ඒවා කවදාවත් අපි කැමති විදියට අල්ල ගෙන තියාගන්න පුළුවන්කමක් නෑ කියල දකිනවා. ඇත්ත ඇති ආකාරයෙන් දකින්න දකින්න ඒවාට තිබ්බිච්ච බැඳීමෙන්, ආසාවෙන්, ඇලීමෙන් අත්හැරී යනවා, නොඇලී යනවා, මිදී යනවා. මේ තමයි ඇත්ත දැක්කම සිද්ධවෙන දේ. දැන් ආශ්වාස පූර්ණයි. මේ තමයි ආර්ය විනයේ පෙන්වන ආශ්වාසය. හුළඟ නෙවෙයි මේ කියන්නෙ. ධර්ම ආශ්වාසය, සත්‍යය දැක්කම ලබන සත්‍යාවබෝධය තමයි ආශ්වාස වෙන්නෙ. එතකොට මිත්‍යා දෘෂ්ඨියයි, අවිද්‍යාවයි පිට වුනේ. ඒවා ප්‍රාශ්වාස වුනා, පහ වුනා. අවිද්‍යාව පහ කරමින් සත්‍යය ඇසුරු කරමින් යන වැඩ පිළිවෙලට කියනවා ආනාපාන සති වැඩ පිළිවෙල කියල. ඒක වැඩීමට ආනාපාන සති භාවනාව කියල කියනවා. නමුත් අද වෙනකොට හුස්මකට සීමා වෙච්ච ආනාපාන සතියක් අරගෙන උදේ ඉඳන් රෑ වෙනකල් කොහාට හරි මුල්ලකට වෙලා උඩටයි පහළටයි හුස්ම ඇද ඇදා නිවන් දකින කල් බලාගෙන ඉන්නවා. නමුත් නිවන ලැබෙයිද? කෝ යථාවබෝධය? මොන ධර්මයක් දැකලද යථාවබෝධය ලැබෙන්නෙ? කෝ හේතු ඵල? ධර්මයට බහා බලන කොට බහා හිටිනවද? මොන විනයටද සැසඳෙන්නෙ?

ඉතින් මේ වගේ රැවටෙන්නෙ නැතිව ඇත්ත දකින්න ඕන. මේවා කාලයක පටන් අපිව රවටන වැඩ පිළිවෙලවල්. ඥානවන්තයින්ගෙ වටිනා කාලය සහ ශ්‍රමය, ලෝකයේ ඇත්ත දකින්න වෙන් කළ යුතු අවස්ථාව, මේ වගේ පටු තැනකට සීමා කරල හිර කරල තියෙනවා. ඒකෙන් අපිට නිවන් මග වැහුනා. ඉතින් මේ ලෝකය නිස්සාරයි කියල කොහොමද දකින්නෙ, වැටහෙන්නෙ? අපි ආසාවෙන් අල්ලගත් දේවල් දිහා බැලුවද? ඒවා නිසරුයි කියල බැලුවද? ඒක දකින්නෙ නැතිව, ඇත්ත පේන්නෙ නැතිව, මේ නිස්සාර ලෝකයක අපි මොනවා හොයාගෙන සැරිසරන්නද? වැඩක් නෑ, හරයක් නෑ කියන අදහස ආවෙ නැත්නම් කොහොමද අත් හැරීමට හිත තියන්නෙ? බලෙන් අත් හරින්න පුළුවන්ද? මේ මුලාව තියාගෙන අත් හැරීමක් ගැන හිතන්නත් බෑ. එහෙනම් වෙන වෙන විකාර සම්මා දිට්ඨියයි කියල පෙන්වන කාලයක මේ කියන ආර්ය වූ සම්මා දිට්ඨිය තේරුම් ගත්ත නම් එදාට නිවන වැටහිලා ඉවරයි.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැගවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 51**

# විවිධ වූ පුණ්‍ය සෘද්ධි සම්බන්ධයෙන් සත්‍ය අත්දැකීම්...



*(පසුගිය කලාපයෙන් - කාශ්‍යප බුදුන් වහන්සේ මුණ ගැසී ලබාගත් ආශීර්වාදය ....)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

ගුප්ත ලෝකයේ සිටින විවිධ වන්නා වූ අමනුස්සයින්ට තියෙන සෘද්ධි බල සම්බන්ධයෙනුත්, මනුස්සයින්ට පහළ වෙන විවිධ පුණ්‍ය සෘද්ධි ගැනත්, ඒවා උපයෝගී කර ගෙන නූතන විද්‍යාවට හසු නොවන යම් යම් දේවල් මැවීම්, අතුරුදන් කිරීම් සම්බන්ධයෙනුත් තොරතුරු රැසක් මීට පෙර මේ සඟරාවෙන් හෙළිදරව් කළා. ඒ වගේම මේ කියන පුණ්‍ය සෘද්ධීන් ගැන බුද්ධ කාලයේ සිදු වූ, අද හිතාගන්නත් බැරි සිදුවීම් පොත්පත්වල සඳහන් වුනත්, වර්තමානයේ ඉන්න හුඟක් උදවිය භෞතිකවාදී තර්ක මත පිහිටල ඒවා ප්‍රතික්ෂේප කරන්නත්, ඒවාට අභියෝග කරන්නත් පුරුදු වෙලා ඉන්නවා. ඒකට එක හේතුවක් තමයි එදා වගේ මහ බලවත් පුණ්‍ය සෘද්ධි තියෙන අය අද බොහෝ කොටම දකින්න හිඟ වීම. ඒව ඉතින් කාලයත් එක්ක මිනිස්සුන්ගෙ දස අකුසල් නිසා සිද්ධ වෙන දේවල්. එහෙම නැත්නම් මේ පුණ්‍ය සෘද්ධි ලබාගන්න ධර්මානුකූල ක්‍රමය පිළිබඳව නොදනුවත් භාවයත් ඒකට හේතු වෙලා තියෙනවා. කොහොම හරි මේ පුණ්‍ය සෘද්ධි සම්බන්ධයෙන් ත්‍රිපිටකයේ එන කරුණු සනාථ කරන්න, අභයරතනාලංකාර හිමියන් මේ අත්බවයේ ලබපු සත්‍ය අත්දැකීම් කිහිපයකුත් තියෙනවා. මේ තමයි උන්වහන්සේගෙ ඒ අත්දැකීම්.

මේ පුණ්‍ය සෘද්ධි සම්බන්ධයෙන් කතා කරන කොට යම් යම් කන බොන ආහාර හෝ වෙනත් මොනව හරි ජීවත් වෙන්න ප්‍රයෝජනවත් දෙයක් යම්කිසි පිරිසකට මදි නොකියන්න නිර්මාණය වෙන / මැවෙන ක්‍රම තියෙනවා. ඒ කියන්නෙ ඒ භෞතික ආහාරය හෝ ද්‍රව්‍යය කොච්චර ගත්තත්, තිබුණ වගේම භෞතික වශයෙන්ම නැවතත් නිර්මාණය වෙනවා. එතකොට කිසිම අඩුවක් පේන්නෙ නෑ. හැබැයි ඒ ක්‍රමවේද අද තියෙන නවීන විද්‍යාවට අහු වෙන්නෙ නෑ. මොකද මේ ලෝක විෂය කියන එක අචින්ත්‍යයි. ඉතින් නවීන විද්‍යාවට හසු නොවුනත්, එහෙම දෙයක් මස් ලේ ඇස් දෙකටම දැක බලා ගන්න පුළුවන් වුනොත් ඒක පිළිගන්න වෙනවා. එහෙම ක්‍රමවේද බුදු දහමෙත් සඳහන් වෙනවා. හැබැයි ඒවා නිකම්ම අහේතුකව ලැබෙනවත් නෙවෙයි. අතීතයේ පුරපු යම් කිසි වතක්, පාරමිතාවක්, අධිෂ්ඨානයක් පරිදිම සිද්ධ වෙන දේවල්. ඒ නිසා ඒවා අධ්‍යාපනය වගේ ඉගෙන ගෙන ක්ෂණිකව කරන්න පුළුවන් දේවල් නෙවෙයි. යම් කිසි ගුණයක් මුල් කර ගෙන නැගෙන දේවල්.

බුදු දහමේ පෙන්වන සාරාණීය වත කියන්නෙ ඒ වගේ පුණ්‍ය සෘද්ධි ලබන එක ක්‍රමයක්. සරුසාරත්වය උපරිමයෙන් ලබාදෙන වැඩ පිළිවෙල කියන එකයි ඒකෙන් අදහස් කරන්නෙ. ඒ කියන්නෙ යම් කිසි භික්ෂූන් වහන්සේ නමක් නොකඩවා එක දිගට අවුරුදු 12 ක් පිණ්ඩපාතෙම කරල ඒකෙන්ම දන් දීල තමයි ඒ වත පුරන්න ඕන. මොකද පිණ්ඩපාතෙ දානෙ තමයි සම්පූර්ණම සුද්ධ දානෙ වෙන්නෙ. ඒක කලින් බලාපොරොත්තුවෙන් ලබන එකක් නෙවෙයි. කවුරුවත් ගෙනත් දෙන එකක් නෙවෙයි. ඒක ලැබෙන්නෙත් උන් වහන්සේගෙම හේතු සම්පත්තියට. ඒ නිසා හැම අතින්ම පාරිසුද්ධයි. ඒ හේතුවෙන් තමයි ඒ දානෙ විශේෂත්වයක් ගන්නෙ. එතකොට උන් වහන්සේ විසින්ම කරගත්තු පුණ්‍ය කර්ම ඵලයෙන් ලැබිච්ච දේ තමයි උන් වහන්සේ විසින්ම දන් දෙන්නෙ.

එතනදි ඒ භික්ෂූන් වහන්සේ පිණ්ඩපාතෙ කරගෙන නැවත තමන් වැඩ වාසය කරන ස්ථානයට ඇවිත්, ඒ ස්ථානයේ කොච්චර භික්ෂූන් වහන්සේලා වැඩ හිටියත්, ආගන්තුක භික්ෂූන් වහන්සේලා වැඩියත්, ඒ සියලු දෙනාටම අර පිණ්ඩපාතෙ දාන පාත්‍රය වටේටම අල්ලගෙන යන්න ඕන, ඔබ වහන්සේට කැමති දෙයක් ගන්න කියල. ඒක ඇහෙන්නම කියන්න ඕන. හැබැයි වත පූර්ණ කරන්න පටන් ගත්තට පස්සෙ ඒ දානෙ පාත්‍රයේ තියෙන දානෙ සියල්ලම අනෙක් භික්ෂූන් වහන්සේලා ගත්තත්, මම චිත්ත ප්‍රසාදයෙන් ආහාර නැතිව අපවත් වුනත් කමක් නෑ, මම ඒ චිත්ත ප්‍රසාදයෙන් දිගටම ඉන්නවාමයි කියන සිතිවිල්ල අවංකවම තියෙන්න ඕන. ඒ කියන්නෙ පිණ්ඩපාතෙට ලැබුනෙ යමක්ද, ඒ ලැබිච්ච දේ අනික් භික්ෂූන් වහන්සේලාට අල්ල ගෙන යන කොට තමන්ට වළඳන්න යමක් ඉතිරි නොවුනත් කරන්න දෙයක් නෑ. අනේ මට නැනෙ කියල හිතන්නෙ නැතිව ඒ ගැන චිත්ත ප්‍රසාදයෙන්, මරණය වුනත් කමක් නෑ කියන බලාපොරොත්තුවෙන්මයි මේ වත පුරන්න ඕන. කොටින්ම ☞

කිව්වොත් ඒ දානෙ අනික් අය ගත්ත කියල තමන් අසතුටු වෙන්න බෑ.

හැබැයි ඉතින් සාමාන්‍යයෙන් අනෙක් භික්ෂූන් වහන්සේලා දානෙ ගන්න කොට උන් වහන්සේටත් ඉතිරි කරල තමයි ගන්නෙ. හිස් වෙන්නම ගන්නෙ නෑ. ඒක උන් වහන්සේලාගෙ ගුණයක්. මොකද ඒ ස්ථානයේ ඉන්න භික්ෂූන් වහන්සේලා, අහවල් භික්ෂුව මෙහෙම වතක් පුරනව කියල දන්නවා. එහෙම නැත්නම් ඒ පිණ්ඩපාතෙ දානෙ නැතිව උන් වහන්සේට වෙනත් අය පිරිනමන දානයකින් ජීවත් වෙන්නත් පුළුවන්. පිණ්ඩපාතෙ වතක් විදිහට පූර්ණ කරන ගමන්, මදි වුනොත් අනිත් අය දෙන දේකින් ජීවත් වෙන්න පුළුවන්. ඒත් ලැබුනොත් ගන්නව මිසක් බලාපොරොත්තු වෙන්න බෑ. තමන්ට මදි වුනයි කියල නැවත පිණ්ඩපාතෙ වඩින්නත් බෑ. බඩගින්නෙ ඉන්නත් බලාපොරොත්තුවෙන්ම තමයි ඒක පටන් ගන්න ඕන. අනෙක් කෙනෙක් ඒ බව දැකල ඒකට ප්‍රතිකර්මයක් කළාට ගැටළුවක් නෑ. එහෙම නැතිව ඉල්ලල ගත්තොත් වතට කැළලක් වෙනවා.

ඒ වගේම ඒ වත අඛණ්ඩව අවුරුදු 12 ක් යනකල් පුරන්නත් ඕන. හැබැයි එහෙම පුරා ගෙන යන අතරමග බැරි වෙලා හරි, අනේ මගේ දානෙ ඔක්කොම ගත්තනේ කියල චිත්ත ප්‍රසාදය කඩ වුනොත් බෑ. එතකොට නැවතත් මුල ඉඳලම පුරන්න වෙනවා. සියල්ල ගත්තත් තමන් සන්තෝසයෙන් ඉන්න ඕන. අර විදිහෙ සිතිවිල්ලක්වත් එන්න බෑ. චිත්ත ප්‍රසාදය තියෙන්න ඕන. එහෙම පිරුවම ඒ වත පූර්ණ වෙච්ච දවසෙ පටන් අර වගේ මදි නොවෙන්න ලැබීමක් එනවා. ඒක ඒ අත්බවයෙම ලැබෙන දිට්ඨ ධම්ම වේදනීය විපාකයක්.

ඉතින් මගේ අත්දැකීමක් නොවුනත්, මේ වගේ වතක් පුරපු එක්තරා භික්ෂූන් වහන්සේ නමක් ගැන අටුවා කතාවකත් සඳහන් වෙනවා. කෑගල්ල දිසාවෙ ලෙනගල රජමහා විහාරයට සම්බන්ධ තිස්ස කියල තෙර නමක් තමයි ඒ සිද්ධියට සම්බන්ධ. මේ කියන්නෙ බුදුන් වහන්සේ පිරිනිවන් පාලත් සෑහෙන කලකට පස්සෙ වෙච්ච සිද්ධියක්. දළ වශයෙන් අවුරුදු 1000 කට පමණ පෙර කාලයක වෙච්ච සිද්ධියක්. ඒ පන්සලේ සෙල් ලිපියක ''තිස්ස තෙර ලෙන'' කියල අදටත් සඳහන් වෙනවා. උන් වහන්සේටත් ඒ ශක්තිය තිබිල තියෙනවා. ඉතින් මේ හාමුදුරුවො දවසක් අනුරාධපුර ප්‍රදේශයේ පන්සලක වැඩ ඉන්න කොට පිට පළාතකින් විහාර චාරිකාවේ වැඩපු තවත් භික්ෂූන් වහන්සේලා 50 නමක් ඒ පළාතෙ පිණ්ඩපාතෙ චාරිකාවක වැඩියලු. හැබැයි ඒ කාලය මහා සාගතයක් තිබිච්ච ඉතා දුෂ්කර කාලයක්. මිනිස්සුන්ටවත් කන්න දෙයක් තිබිල



නෑ. ඉතින් අර භික්ෂූන් වහන්සේලා 50 නමම ඒ ප්‍රදේශය පුරාම පිණ්ඩපාතෙ වැඩියත් කොහෙන්වත් දානයක් ලැබිල නෑ. ඒ නිසා කර කියා ගන්න දෙයක් නැතිව වෙහෙස මහන්සි වෙලා, මේ තිස්ස හාමුදුරුවො වැඩ ඉන්න පන්සලටත් වැඩියලු. ඒ වෙලාවෙ තිස්ස හාමුදුරුවො පිණ්ඩපාතෙ වඩින්න සිවුර පොරවමින් ඉඳල තියෙන්නෙ. එතකොට අර පිටින් වැඩිය හාමුදුරුවරු කිව්වලු, ඔබ වහන්සේ වැඩියට වැඩක් නෑ අපි හැමතැනම ගියා, මේ තියෙන දැඩි සාගතය නිසා අපි එක නමකටවත් පිණ්ඩපාතෙ ලැබුනෙ නෑ කියල.

ඊට පස්සෙ තිස්ස හාමුදුරුවො, කමක් නෑ ඔබ වහන්සේලා විවේක ගන්න, මම ගිහින් එන්නම් කියල පාත්තරෙත් අරගෙන පිණ්ඩපාතෙ වැඩියලු. වඩින කොට එක ගෙදරක භාර්යාව කිරි බතක් හදල, වෙහෙස මහන්සි වෙලා එන තමන්ගෙ ස්වාමියා එනකල් කුස්සියේ දොරකඩට වෙලා රැකගෙන ඉන්නවා. මොකද ඒ කාලෙ ගෙදර උයපු බතක්වත් තියා ගන්න බෑ, දැඩි අහේනිය නිසා ගෙවල්වලට පැනල බත් මුට්ටියත් උස්ස ගෙන යනවා. නමුත් ඉතින් මුන් වහන්සේ දැකල පැහැදිලා, ඒ ගෘහණිය තමන්ගෙ ස්වාමියාට වෙන් කරල තිබිච්ච කිරි බත් දානයෙන් එක් නමකට ඇති වෙන ප්‍රමාණයට බෙදන කොට, උන් වහන්සේ පාත්තරය අතින් වහල ඒ දානෙත් අරගෙන පන්සලට වැඩියලු. වැඩල අර පනස් නමටම කිව්වලු, ඔබ වහන්සේලාට දානය ගෙනත් තියෙනවා, වළඳන්න සූදානම් වෙන්න කියල. එතකොට ඒ භික්ෂූන් වහන්සේලා කිව්වලු, අපි පනස් නමම මුළු ගම් පළාතෙම වැඩලත් එක භික්ෂූන් වහන්සේ නමකටවත් දානයක් නැති වුණා, ඔබ වහන්සේට විතරක් දානය ලැබෙන්න ක්‍රමයක් නෑ, ඔබ වහන්සේ දානය ගෙනාව නම් ඒක දැහැමි විදිහට ගත්ත එකක් වෙන්න බෑ කියල. එතකොට තිස්ස හාමුදුරුවො කිව්වලු, මේක අධාර්මික දානයක් නෙවෙයි, දැහැමින් පිණ්ඩපාතෙ කරල ගත්තු දානයක්, බය නැතිව වළඳන්න කියල.

නැවතත් ප්‍රතික්ෂේප කරන කොට තිස්ස හාමුදුරුවො නැවතත් කිව්වලු, මේක බොහොම දැහැමි දානයක්, ඔබ වහන්සේලා දානය වළඳන කොට දැහැමි නොදැහැමි බව දැන ගන්න ලැබෙයි, කැමති විදිහට ගන්න කියල. පුංචි කිරි බත් කෑල්ලක් දෙකක් විතරයිලු ඒ පාත්තරේ තිබුණේ. ඉතින් අර පනස් නමම එකින් එක දානෙ අර ගෙන බලන කොට කිසිම අඩුවක් නෑ, ඒ විදිහටම තියෙනවලු. සියලුම භික්ෂූන් වහන්සේලා දන් වැළඳුවත් නැවතත් තිබුණ වගේම තියෙනවලු. දැන් ඒ හාමුදුරුවරු, තිස්ස හාමුදුරුවන්ගෙන් ඇහුවලු, ඔබ වහන්සේ රහතන් වහන්සේ නමක්ද කියල. නෑ මම සාරාණීය වත පුරල ඉන්නෙ කියල උන් වහන්සේ උත්තර දුන්නලු. ඒක ඉතින් මහ පුදුම සිද්ධියක්. ඒවට තමයි පුණ්‍ය සෘද්ධි කියන්නෙ. ඒ අටුවා කතාවේ, ☞

''ලංකාදීපේ ලෙනගිරි වාසී තිස්සත් ථේරෝ විය'' කියල සඳහන් වෙනවා. ඒ කියන්නෙ සාරාණීය වත පුරනව නම් තිස්ස තෙරුණ් වහන්සේ වගේ පුරන්න කියන එකයි ඒකෙන් කියන්නෙ. ඒ වගේ වතක් පුරල පූර්ණ කරපු කෙනෙකුට මොනම කාලෙකවත් දානෙ වරදින්නෙ නෑ. දේවතාවුන් හරි තමන්ගෙ පුණ්‍ය සෘද්ධියෙන් දානය සපයනවා.

ඔය වගේ තවත් සිද්ධියක් දහම් කතාවක සඳහන් වෙනවා. එතනදි ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමක් ඒ සාරාණීය වත පුරාගෙන යන කොට 5 වෙනි අවුරුද්දෙදි සාමණේර හාමුදුරුවරු පිරිසක් ඒ ආරණ්‍යයට වැඩල තියෙනවා. උන් වහන්සේ අර පිණ්ඩපාතෙ කරගෙන ආපු දානෙ වටේටම අල්ල ගෙන යන කොට, අර සාමණේර භික්ෂූන් වහන්සේලා පැන්න ගමන් ඔක්කොම දානෙ ටික පොර කාල ගත්තලු. ඒත් එක්කම, මුං මහ නැහැදිච්ච එවුන් ටිකක්නෙ, කන බොන හැටි තේරෙන්නෙත් නෑනෙ කියල උන් වහන්සේට අදහසක් ආවලු. ඒ අදහස එනවත් එක්කම හිත පැරිලා අර වත කැඩුණලු. ඒ කියන්නෙ අවුරුදු 12 ක් නොකඩවා පුරන්න තිබ්බ වත අවුරුදු 5 න් කඩ වුණා. ඉතින් නැවතත් මුල ඉඳලම පුරා ගෙන ගියාලු. එහෙම ගිහින් මුල් අවුරුදු 5 ත් එක්ක අවුරුදු 17 ක් ගියාට පස්සෙ මේ හාමුදුරුවො දවසක් පිණ්ඩපාතෙ කර ගෙන ඇවිත් අනික් භික්ෂූන් වහන්සේලාට වටේටම කොච්චර අල්ල ගෙන ගියත් අඩුවක් වුනේ නැතිලු. ඊට පස්සෙ ඉතින් උන් වහන්සේට කොහේ වැඩියත් දානෙ හිග වුනේ නෑ කියනවා. කොහොම හරි ලැබෙනවලු. ඒ ලැබෙන එකත් බොහෝ කොටම අග්‍ර විදිහටමලු ලැබෙන්නෙ.

ඔහොම ඉන්න කොට දවසක් ඒ ආරණ්‍යයට ඈත පළාතකින් හාමුදුරුවරු 8 නමක් විතර වැඩියලු. ඒ කාලෙ ආහාර බොහොම හිඟ, පිණ්ඩපාතෙ කරගන්නත් අමාරු කාලයක්. ඉතින් මේ හාමුදුරුවරු පිණ්ඩපාතෙ ගිහින් ඇවිත් මුකුත් නොලැබිච්ච නිසා, මේ ගමේ පිණ්ඩපාතෙ වඩින හාමුදුරු නමක්වත් හොයාගන්න නෑනෙ කිව්වලු. එතකොටම අර වත පුරපු හාමුදුරුවො, පොඩ්ඩක් ඉන්නකො එහෙනම් මම ගිහින් එන්නම් කියල කොහාට හරි පාත්‍රයත් අරගෙන වැඩියලු. ඔහොම වඩින කොට කවුරු හරි තියා ගත්තු ආප්ප සහ කෙසෙල් ගෙඩි වගේ දෙයක් තිබිල පූජා කළාලු. ඊට පස්සෙ ඒක අරගෙන පන්සලට ඇවිත් අර භික්ෂූන් වහන්සේලාට ඇල්ලුවලු, ඔබ වහන්සේලාට ගන්න මම දානෙ ගෙනාව කියල. උන් වහන්සේලා ඉතින් පාත්‍රය දිහා බලන කොට ආප්පයක් දෙකක් කෙහෙල් ගෙඩියක් වගේ පොඩි දෙයක් තියෙන්නෙ. ඒක ඉතින් ඔක්කොටම මදි නිසා, අප්පච්චියේ ඉතින් අපිට දුන්නම උන් වහන්සේ මොනවද වළඳන්නෙ, සියල්ලටම නෑනෙ, ඔන්න ඕක උන් වහන්සේම වළඳපුවාවෙ අපි නිකං ඉමු කියල කිව්වම, නෑ නෑ අරගන්නකො කියල අර හාමුදුරුවො කිව්වලු. ඉතින් එකක් අර ගෙන බලන කොට කිසිම අඩුවක් නැතිලු. ඒ විදිහටම තියෙනවලු. අන්තිමට කීයක් ගත්තත් ඒ තිබ්බ ටික එහෙම්ම තියෙනවලු. ඉතින් සියලුම භික්ෂූන් වහන්සේලා දන් වැළඳුවත් නැවතත් අර තිබුණ වගේමලු.

දැන් මේ කතාව ඔප්පු වෙන තවත් සිද්ධියක් මගේ ජීවිත කාලෙදි මටම අත්දකින්න ලැබිල තියෙනවා. මේ වහරක පන්සල හදන්න ඉස්සෙල්ල මම ගිහිව ඉන්න කාලෙ මුලින්ම ඒ ස්ථානයේ හැදුවෙ ගෙයක්. ඒ ගෙදරම තමයි පසු කාලීනව මහණ වුනාට පස්සෙ අනෙක් අංගෝපාංගත් එකතු කරල පන්සලක් විදිහට හැදුවෙ. ඉතින් මුල් කාලීනව ඒ ගේ හදන්න ලෑස්ති වෙන කොට මම හිටියෙ කළගෙඩිහේන ප්‍රදේශයේ සෙත් ශාන්ති ආදී කටයුතු කර ගෙන. එහේ ඉන්න කාලෙ ලංකාවෙ විවිධ ප්‍රදේශවල පින්වතුන් මාත් එක්ක සම්බන්ධ වුණා. එතනදි අපිත් එක්ක හිටපු ප්‍රධාන මහත්වරු දෙන්නගෙන් එක්කෙනෙක් තමයි මේ ගේ හදන වැඩේට මූලික වුණේ. ඔහු තමයි ප්‍රධාන පෙදරේරුවා (බාස්) විදිහට හිටියෙ. ඉතින් ඒ මහත්තය තමයි අත් උදව්වට තවත් අයත් දාගෙන අත්තිවාරම දාල ගේ වැඩ කරන්න පටන් ගත්තෙ. ඒ අයට ඒ වැඩේ දිගටම කර ගෙන යන්න බාර දීල මම කළගෙඩිහේනට වෙලා හිටියා. මමත් ඉඳල හිටල ඒ පැත්තට යනවා. ඒ අය ඉතින් පොඩි පැළක් ගහල වාඩියක් එහෙම හදා ගෙන, ඒකෙ උයා පිහාගෙන කාල බීල තමයි ඒ වැඩ කටයුතු කළේ. ඉතින් අනික් අය සියල්ලම වැඩට යොදවල මේ මහත්තය ඒ වැඩ බලන ගමන්ම ඒ අයට කන්නත් උයල දෙනවා.

දවසක් ඔය විදිහට වැඩ කරන්න හය දෙනෙක් හිටියා. එදා ඒ හය දෙනාටම කන්න ඇති වෙන්න හාල් සේරුවක්, ලොකු හැළියක දාල ඉව්වා. පස්සෙ බලන කොට බත් හැළියෙ කට මට්ටමටම බත් පිරිල හිතා ගන්නත් බෑ. උදේට තමයි ඉව්වෙ, දවල්ටත් එක්ක ගන්න මදි වුනොත් කියල. ඉතින් මේ හැළියෙන් අර හිටපු සියලු දෙනාටම බත් බෙදල දුන්නා. බලන කොට හැළියෙ බත් අඩු වෙලත් නෑ. ඊට පස්සෙ මේ මහත්තය ඒ සිද්ධිය රහසක් විදිහට තියා ගෙන, මොකද වෙන්නෙ කියල බලන්න දවල්ටත් අර හැළියෙන්ම සියලු දෙනාටම බත් බෙදුවා. බලන කොට උදේ තිබුණ වගේමයි කිසිම අඩුවක් නෑ. ඊට පස්සෙ රෑටත් ඒ බත් හැළියෙන්ම බත් බෙදල දුන්නා. ඒත් පොඩ්ඩවක්වත් පිළුණු වෙලත් නෑ, බත් අඩු වෙලත් නෑ.

ඔතන හිටියා තවත් බාස් කෙනෙක්. දැන් ඊට පහුවදා උදේ අර බත් හැළිය අර ගෙන බලන කොට මේ බාස් උන්නැහෙත් එතන හිටියා. ඔහු මේ හැළිය දිහා බලල අර මහත්තයට කිව්වා, ඔයා පුදුම වැඩක්නෙ කරන්නෙ, අපේ සල්ලිනෙ මේවට යන්නෙ, මොකද මෙච්චර හාල් ලිපේ තියන්නෙ, දැන් බලන්න ඊයෙ ඉඳන් කාලත් ඉතුරු වුනානෙ, මෙච්චර ගොඩක් ඉව්වෙ මොකටද කියල. ඒත් ඉතින් අර මහත්තය මුකුත් කියන්නෙ නැතිව ඊළඟ දවසෙ හාල් සේරුවකින් තවත් අඩු කරල ඉව්වා. එදත් සියලු දෙනාම තුන් වේලටම කාල බත් ඉතිරි වුණා. එදත් අර අනික් බාස් උන්නැහේ අහනවා, ඔයා මොකටද මෙච්චර හාල් තියන්නෙ කියල. ඊට පස්සෙ මොකද කළේ තවත් අඩු කරල ඉව්වා. එදත් සියලු දෙනාම තුන් වේලම කාල බත්

ඉතිරි වුණා. එදත් අර අනික් බාස් උන්නැහේ අහනවා, ඔයා මොකටද මෙච්චර හාල් තියන්නෙ කියල. ඊට පස්සෙ මොකද කළේ, තවත් අඩු කරල හුංඩුවක් දැම්මා. එදා බලන කොටත් අර තිබුණ වගේම හය දෙනත් එක්කම තුන් වේලම කාල බතුත් ඉතුරුයි. දැන් අර මනුස්සයට පුදුම හිතිල මොකද මේ වෙන්නෙ කියල අහන කොට, කාටවත් කියන්න හඟවන්නවත් එපා, මෙන්න මේකයි කියල සිද්ධිය කිව්වා.

ඉතින් ඔය කාලෙ අපේ ගෙදර පුතයි, දුවයි (දැන් මහණ වෙලා) ඒ මහත්තය උයන බත් හරි රසයි කියල, ගෙදර උයන බත් කන්නෙ නැතිව අර බත් කන්නම වාඩියට යනවා. ළඟ පාත තිබිච්ච නිසා දෙන්නම පිඟානක් අර ගෙන ගිහින් බත් පුරව ගෙන එනවා. ඒ බත් නිකං කන්නත් පුළුවන්. ඒ තරම් රසයි. ඒ මහත්තය උයන එළවළු මාළුත් හරිම රසයි. ඕක ඉතින් පුරුද්දක් විදිහට ගිහින් දිගටම එතනින් බත් කන්න පටන් ගත්තා.

ඉතින් ඔය විදිහට මේ සිද්ධිය පටන් අර ගෙන දවස් 17 ක් යනකල් කාටවත්ම නොකිය, මේ අය ඒ උයන පිහන කටයුත්ත ඒ විදිහටම කර ගෙන ගියා. හාල් හුංඩුවක් උයල ඒ හය දෙනා තුන් වේලටම කනවා. ඔහොම ඉන්න කොට අත් උදව්වට තවත් කෙනෙක් ගෙන්න ගත්තා. හැබැයි ඒ කාලෙ මනුස්සය කතාවෙන් නිකං වාචාලයෙක්, එක්තරා ආකාරයක කාලකණ්ණියෙක් වගේ. ඒ බව දන්න නිසා මේ අය මොකද කළේ, එහෙනම් උඹ පිළිගන්න යමක් කරල පෙන්නුවොත් ඒක පිළිගන්නවද කියල ඇහුවම, හා පුළුවන් දෙයක් පෙන්නපන්කො කියල කයිවාරු ගැහුවා. පස්සෙ අර හාල් හුංඩුවක් මැනල මේ මනුස්සයටත් පෙන්නල මෙතන කීයක් තියෙනවද කියල ඇහුවා. එකයි. හා උඹ බලපන්කො ඉව්වට පස්සෙ මොකද වෙන්නෙ කියල, උඹ ඔතනම හිටපන් කිව්වා.

බත් ටික උයල බලන කොට අර විසාල බත් හැලියෙ කට මට්ටමටම පිරිලා. ඉතින් ඇහුවා හාල් හුංඩුවට කොච්චර බත් තියෙන්න ඕනද කියල. මේ මනුස්සයත් ඉතින් හුංඩුවකට නම් මෙච්චරයි තියෙන්න ඕන කියල කිව්වා. හොඳයි එහෙනම් ඇරල බලපන් කිව්වම, අර මනුස්සය හාල් හැළියෙ කට අරින කොට පුදුම වෙලා, යකෝ ගමටමත් දුන්න හැකිනෙ මෙහෙම හැදෙනව නම් කියල කිව්වා. දැන් ඉතින් වෙන කියන්න දෙයක් නෑ. මොකද මේ සිද්ධිය ඇස් දෙකෙන්ම දැක්කා. හැබැයි ඊට පස්සෙ උදේට සියලු දෙනාම කාල දවල්ට කන්න බලන කොට අර බත් ඔක්කොම පිළුණු වෙලා. ඒ සිද්ධිය එච්චරමයි. එතනින් පස්සෙ නතර වුණා. හැබැයි ඒ වෙලාවෙ මනසෙ ඇති වෙච්ච කුණක් නිසා ඒ පුණ්‍ය සෘද්ධිය නැති වුනාට නැවතත් අධිෂ්ඨාන ආදිය කරල ඒ ශක්තිය ගත්තා. හැබැයි ඒත් කලින් තරම් නෑ. ඉතින් ඒ අය සසරෙදි දන් දීපු පුණ්‍ය විපාකයක් නිසා, අපිත් එක්ක එකතු වෙලා පින් දහම් කරල තිබිච්ච නිසා එහෙම හේතු වාසනාවක් එන්න ඇති. ඒකත් ඉතින් මොනවහරි පෙර හේතුවක් නිසාම මතු වෙච්ච දෙයක්. ඒ වගේම ඒ වාචාලයෙක් වගේ හිටපු මනුස්සයත් පසු කාලෙක බණ අහල ගුණ වඩන කෙනෙක් බවට පත් වුණා.

ඉතින් මුලින්ම මට ඔය සිද්ධිය දැනුම් දුන්නම, මම කිව්වා ඕක ගැන කාටවත් නොකිය සද්ද නැතිව ඉන්න කියල. නමුත් ඒ වෙන කොටත් ඒ අය ඒක කියල ඉවරයි. මොකද මේ වගේ දේවල් කිය කියා කරන්න හොඳ නෑ. අන්තිම කෙළවරට යනකල් සෘද්ධි බලයක්වත් තමන්ට තියෙනව කියල කියන්න හොඳ නෑ. බුදුන් වහන්සේගෙ ඥාන ශක්තියට, සවණක් ගණ බුද්ධ රශ්මි මාලාවට, උන්වහන්සේගෙ දිවැසට දිව කනට පහර ගහන්න හෝ වහන්න කාටවත් බෑ. මොකද ඒ ශක්තිය උපරිමයි. පෙරුම් පුරන කාලයේ ඒ වගේ තිබිච්ච බාධක මැඩ පවත්වගෙන ගිහින් බල නගල තමයි උන්වහන්සේ ඒවා බිඳ හැරියෙ. එතකල් ඒ බාධක උන්වහන්සේටත් තිබුනා. බුදු වුනාට පස්සෙ, පිරිස් එකතු කරගෙන ආවත් උන් වහන්සේ මැඩ පවත්වන්න පුළුවන් සමතෙක් තුන් ලෝකයේම නෑ. නමුත් අනිත් අයට එහෙම නෑ. ඊට මෙහා මාර්ගය වඩා ගෙන යන අයගෙ බලය මැඩ පවත්වන්න පුළුවන් අයත් ඉන්නවා.

ඒකටත් හේතුවක් තියෙනවා. මේ වගේ දේවල්වලට විරුද්ධ සමහර වාචාල මිනිස්සු වගේම අමනුස්සයොත් ඉන්නවා. ඒ විරුද්ධ අමනුස්සයො අර මනුස්සයො හරහා සම්බන්ධ වෙලා බල ලබා ගන්නවා. උදාහරණයක් විදිහට කෙනෙක් කොළොප්පමක් කරන්න ලෑස්ති වෙලා ඉන්න කොට ඒකට පන්දම් කාරයොත් ඉන්නව නම්, ඒ පුද්ගලයගෙ බලයත් එතනදි වැඩි වෙලා ඒ සඳහා අමුතු ශක්තියක් ලැබෙනවා. ඒ වගේ දෙයක් තමයි මෙතනදි වෙන්නෙත්. හා එහෙනම් කරල බලපන්කො අපිත් දෙන්නම් අනික් පැත්තට කියල උන්ගෙ සැර විහිදවනවා. එතකොට අර පුණ්‍ය සෘද්ධි බලය නැති වෙනව නෙවෙයි, ඒ විරුද්ධ බලය නිසා, පුණ්‍ය සෘද්ධියෙන් ලැබෙන ඵලය උන් ඇද ගන්නවා. එහෙම නැත්නම් වෙනස් කරල දාල උන්ගෙ බලය පතුරවනවා. ගුප්ත ලෝකයේ ඉන්න විවිධාකාර අමනුස්සයො මටත් ඔය වැඩේ කරනවා. මම බලය නගන කොට ඒකට විරුද්ධ පිරිස් විරුද්ධ බලයක් දාල මැඩ පවත්වනවා. මම ඒකත් උස්ස ගෙන නැවතත් බල නගන කොට උනුත් නිකං ඉන්නෙ නෑ. තව තවත් පිරිස් එකතු කර ගෙන මැඩ පවත්වන්න බලනවා. හැබැයි කවද හරි උන්ගෙ බලය බිඳිච්ච දාට අර තිබිච්ච සියලු ශක්තිය නැගිල එනවා. ඒ නිසා ඒ හිර කිරීම හැමදාම කරන්නත් බෑ. හැබැයි එහෙම කොච්චර කල් හිර කරයිද කියල කියන්නත් බෑ. උන්ගෙ පරම්පරාවට සම්බන්ධ පිරිස ඉන්න කල්, ඒ බලය තියෙන කල් ඒ වගේ විරුද්ධකම් කරන්න පුළුවන්. ඒ බලය සම්පූර්ණයෙන්ම බිඳිච්ච දාට ඒ ගැටළුවත් ඉවරයි. ඊට පස්සෙ නැවතත් බලය දෙන්න කෙනෙක් නැතිව යනවා.

දැන් එතකොට මේ සිද්ධියෙනුත් පේනවා, බුදුන් වහන්සේ වැඩ හිටිය කාලෙ වුනයි කියන මේ වගේ සිද්ධි බොරු නෙවෙයි කියල. එහෙම ද්‍රව්‍ය පදාර්ථ මැවෙන ක්‍රමයක් තියෙනවා. ඉතින් ඕක මොන විජ්ජා කතාවක්ද කියල කවුරු කිව්වත්, අපිටත් අත් දකින්න ලැබිච්ච දෙයක්. ඒකට

සම්බන්ධ ඒ මහත්තයයි, ඒ සිද්ධිය දැකපු උදවියයි අදත් අපි අතර ඉන්න නිසා ඒක ඔප්පු කරන්න සාක්ෂි අදටත් තියෙනවා.

මේ වගේ කාරණා ත්‍රිපිටකයෙත් සඳහන් වෙනවා. උදාහරණ විදිහට විශාඛා මහා උපාසිකාව බත් පෙට්ටියක් බෙදල ගත්තම කොච්චර බත් බෙදුවත් ඉවර වෙන්නෙ නෑ, ඕන තරම් බෙදන්න පුළුවන් කියල සඳහන් වෙනවා. මොකද මහා දාන දෙන්න විශේෂයෙන් පාරමිතා පුරා ගෙන ආපු කෙනෙක් නිසා ඒ බලවත් පුණ්‍ය ශක්තියෙන් එහෙම වෙන්න පුළුවන්. ඒ වගේම අනේපිඬු සිටුතුමාට හතර මහ නිධන් පහළ වෙලා කොච්චර ගත්තත් ඉවර වුනේ නෑ කියනවා. ඔය වගේ තවත් කතාවක් ත්‍රිපිටකයේ සඳහන් වෙනවා, කොසොල් රජතුමාගෙ රටේ හිටපු එක සිටු පවුලක් ගැන. ඒ සිටුවරයයි, සිටු දේවියයි, පුතයි, දුවයි, සේවකයයි කියන පස් දෙනාටම පුණ්‍ය සෘද්ධි 5 ක් තිබුණා. ඒ අය ගොවිතැන් බත් තමයි කළේ. ඒ පුණ්‍ය සෘද්ධියට අනුව ගොයම් කපල පාගල කමතෙන් වී ගත්තම 1:100 ක විතර අස් වැන්නක් වැඩි වෙනවා. ඒ කියන්නෙ ඉස්සෙල්ලම ගොයම් කපල පාගන කොට ඒ සිටුතුමාගෙ පුණ්‍ය සෘද්ධිය ක්‍රියාත්මක වෙලා අස්වැන්න වැඩි වෙනවා.

ඊළඟට වී ටික ගෙනත් පෙට්ටියකට දාන කොට අහසින් වී ඇවිත් මුළු පෙට්ටියම ඒ ජාතියේම වීවලින් පිරෙනවා. හැබැයි එන විදිහක් හොයා ගන්න බෑ. ඒ අවස්ථාව සිද්ධ වෙන්නෙ සිටු දේවියගෙ පුණ්‍ය සෘද්ධියෙන්. ඊට පස්සෙ වී කොටන්න ගත්තම ඊළඟට අවශ්‍ය ප්‍රමාණය දුවගෙන් ලැබෙනවා. ඒකෙන් ටිකක් ඉව්වම තවත් ඇති තරම් එනවා. ඒ පුතාට පුළුවන් පොඩි පසුම්බියකින් ඕනෑම කෙනෙකුට ඇති වෙන්න මුදල් දෙන්න. කොච්චර දුන්නත් ඒකෙ මුදල් ඉවර වෙන්නෙ නෑ. ඊළඟට සේවකයා එක නඟුලක් පාගන කොට නගුල් පාරවල් 6 ක් යනවා. හැබැයි වෙන්නෙ කොහොමද කියල දන්නෙ නෑ. ඉතින් බොහොම පහසුවෙන් ඒ අය කුඹුරු කරනවා. ඔහොම කාලයක් යන කොට, මෙහෙම සිටු පවුලක් ඉන්නව කියල රජතුමාටත් ආරංචි වෙලා මේකෙ ඇත්ත නැත්ත බලන්න දූතයො යැව්වා. ගිහින් බලන කොට ඒ හැම එකක්ම ඇත්ත. ඒ සිද්ධි එහෙම්ම සිද්ධ වෙනවා. මේ විදිහට ඒ ගෙදර හතර දෙනාගෙම සිද්ධි බලල, එහෙනම් ඉතින් සේවකයා ගැන අමුතුවෙන් බලන්න දෙයක් නෑ කියල රජතුමාටත් ගිහින් කිව්වා කාරණය ඇත්ත කියල. පස්සෙ රජතුමා ඒකට හේතුව මොකක්ද කියල බුදුන් වහන්සේගෙන් ඇහුවම, උන් වහන්සේ ඒකට හේතු වෙච්ච අතීත කතාව මේ විදිහට ගෙනහැර දක්වල තියෙනවා.

බොහොම ඈත අතීත කාලයකදි (පෙර අත්බැවක) මේ පිරිසම ගොවිතැන් බත් කර ගෙන එකට ජීවත් වෙලා තියෙනවා. ඒ කාලෙ ඒ මුළු ප්‍රදේශයටම මහා දුර්භික්ෂයක් ඇති වෙලා ඒ ප්‍රදේශයේ ඔක්කොම භව භෝග සම්පත්, ආහාර පාන ආදිය ඉවර වුණා. මිනිස්සු ගම රට අත් හැරල ගියා. අන්තිමට මේ පිරිස හිටපු ගෙදර විතරයි පොඩ්ඩක් හරි කන්න යමක් ඉතුරු වුණේ. අන්තිමට ඒ ගෙදර තිබ්බ්චවත් අවසානයටම ඉවර වෙලා බඩගින්නෙ මැරෙන මට්ටමට ආවා. ඒ වෙන කොටත් ඒ ප්‍රදේශයේ අනික් සියලු දෙනාම ගම රට අතහැරල ගිහින්. මේ අය විතරක් කලින් හරි හම්බ කරගත්තු වී ටික උයාගෙන කකා හිටියා. අවසාන මොහොත වෙන කොට බඩගින්නෙ තවත් ජීවත් වෙන්න කාලයක් නෑ. බොහොම කෙටි කාලයයි ඉතිරි වෙලා තියෙන්නෙ. අන්තිමට එක සේවකයෙක්, මේ වී දාන පෙට්ටිවල මොකවත් නැත්ද කියල බලල, හැම තැනම එහෙන් මෙහෙන් ඇලිල තිබ්බ්ච වී ඇට ටික එකතු කරල සුද්ද කරගත්තම ඒකෙ හාල් මිටක් දෙකක් තිබුණා. අන්තිමට මොනව හරි කැඳක්වත් හදා ගමු කියල කට්ටියටම කැඳක් හැදුවා. දැන් ඉතින් අවසාන වතාවට බොන්න ඉතිරි වෙලා තියෙන්නෙ කැඳ ටික විතරයි. ඒකෙන් පස්සෙ මේ හැමෝටම මරණය ඒකාන්තයි.

ඒ ටික බොන්න ලෑස්ති වෙන කොටම පසේ බුදුන් වහන්සේ නමක් ඒ ගෙදරට පිණ්ඩපාතෙ වැඩියා. ඉතින් ඒ ගෙදර අයගෙ මොනව හරි හේතු වාසනාවක් දැකල වෙන්නත් ඇති. දැන් අර ගේ හිමිය කල්පනා කරනවා, මම මේ කැඳ එක බීල පොඩි වෙලාවකට ජීවිතය බේර ගත්තත් මට වෙන කරන්න දෙයක් නෑ, එතනින් එහාට කොහොමත් මැරෙන්නනෙ වෙන්නෙ කියල. ඉතින් පිනක් කර ගන්න ලැබිච්ච එක ලොකු දෙයක්, මම මේක පූජ කර ගන්නව කියල තමන්ගෙ කොටස උන් වහන්සේට පූජා කළා. ඊළඟට ඒක බලන් හිටපු භාර්යාව, ඇයි මටත් ඒ පින කරගන්න බැරි, මාත් මේක බිව්ව කියල තව දුරටත් ජීවත් වෙන්නෙ නැනෙ කියල තමන්ගෙ කොටසත් පූජ කළා. ඔය විදිහට ඒ ගෙදර හිටපු සියලු දෙනාම තමන්ගෙ කැඳ කොටස අර උත්තමයට පූජ කළා. පූජා කරල බලන කොට උන් වහන්සේ නිරෝධ සමාපත්තියට සම වැදිල ඉඳල එවෙලෙම වැඩපු කෙනෙක්. ඒ වගේ උත්තමයෙකුට කරපු දාන පූජාවක ප්‍රතිඵල දවස් 7 ක් යන්න පෙර ලැබෙනවා. ඒක ධර්මතාවයක්. උන් වහන්සේට අර දානෙ පිළිගන්වල, හිස් වී පෙට්ටිය ඇරල බලන කොට කලින් වගේම වී පිරිල තියෙනවා.

අන්න ඒ විදිහට පෙර අත්බැවක කර ගත්තු පුණ්‍ය ශක්තිය තමයි මේ අත්බැව් ගණනාවක් ගිහිල්ලත් මේ අයට පුණ්‍ය සෘද්ධියක් වශයෙන් ඇදිල ආවෙ. එච්චර අත්බැව් ගණනක් ගිහිල්ලත් ඒ ශක්තිය අඩු වුනේ නෑ. ඒ අය ඉතින් එදා ඒකෙන් තවත් කාලයක් අර දුර්භික්ෂය ඉවර වෙන කල්ම ජීවත් වුනා කියනවා. ඊට අමතරව අත්බැව් ගණනාවක් යන තුරු මහා පුණ්‍ය සම්පත්තියක් හිමිකර ගත්තා. ඉතින් එහෙම මහ පිනක් කර ගන්න පුළුවන් වෙන්නෙත් ඒ වගේ උත්තමයො ඉන්න කාලයක, එහෙම නැත්නම් බුද්ධ සාසනයක් පවතින කාලයක විතරයි. නමුත් ඉතින් අද ඉන්න මිනිස්සුන්ට ඒකෙ තියෙන වටිනාකම තේරෙන්නෙ නෑ. මොකද ඒ දහම වැහිල ගිහින්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# යළි පහළ වූ ස්වයංජාත ඇල්වල වටිනාකම පර්යේෂණයකින් හෙළි වේ.

දහම නැවතත් බබළන කෘත යුගයේ ආරම්භයත් සමග ස්වයංජාත ඇල් හාල් විශේෂයක පහළ වීම ගැන මීට වසර එක හමාරකට පමණ පෙර හෙළ බොදු පියුම 32 වන කලාපයෙන් දීර්ඝ විස්තරයක් ඉදිරිපත් කළා. මේ වෙන කොට රතු සහ සුදු කියන ප්‍රභේද 2 කින් පහළ වෙලා තියෙන මේ ඇල් සහල් විශේෂය ගැන ඊටත් වසර කිහිපයකට පෙර, වහරක අභයරතනාලංකාර හිමියන් සමාධියෙන් දැකල ප්‍රකාශ කළ බවත් ඒ ලිපියෙන් හෙළිදරව් කළා.

ඒ වගේම ඒ ඇල් සහල් විශේෂයේ වටිනාකම ගැන ඇතැම් අය සැක පහළ කරද්දි, උන් වහන්සේගෙ සමාධියට ගෝචර වෙච්ච සහ භෞතික කරුණු ඇසුරින් ඒ ස්වයංජාත ඇල් විශේෂයක්ම බව ප්‍රකාශ කර සිටියා. විශේෂයෙන් මේ සම්බන්ධයෙන් දැඩි උනන්දුවක් දැක්වූ සබරගමු විශ්ව විද්‍යාලයේ ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය පී. අයි. යාපා මහතා ඇතුළු පර්යේෂක කණ්ඩායමකට මේ ගැන කරුණු පැහැදිලි කරන්න උන් වහන්සේ මීට වසර 3 කට පමණ පෙර ඒ විශ්ව විද්‍යාලයටත් වැඩම කළා. ඒ වගේම මේ ඇල් විශේෂය ගැන තවත් ජනමාධ්‍යවලත් යම් යම් කරුණු කාරණා පළ වෙලා තිබුණා.

එතැන් පටන් මේ ඇල් ප්‍රභේදය දිවයිනේ හැකි පමණින් ව්‍යාප්ත කරන්න වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයට පැමිණෙන පින්වතුන් බොහෝ වෙහෙස මහන්සි වෙලා කටයුතු කළා. එහි ප්‍රතිඵලයක් විදිහට බොහොම දුර්ලභව පටන් ගත් මේ ඇල් විශේෂය මේ වෙන කොට දිවයිනේ හැම ප්‍රදේශයකම වගේ ගෙවල්වල පැළ කිහිපයක් හෝ වගා කර තිබීම දකින්න පුළුවන් දෙයක්. ඊට අමතරව ටිකක් විසාල පරිමාණයන්ගෙන් වගා කරපු ස්ථානත් තියෙනවා. මුලින් රත් ඇල් ප්‍රභේදයකින් මේ කටයුත්ත ආරම්භ වුනත්, පසුව සුදු ඇල් ප්‍රභේදයකුත් හමු වුණා. ඒ සුදු ඇල් විශේෂයත් මේ වෙන කොට සෑහෙන පමණකින් ව්‍යාප්ත කරන්න පින්වතුන් කටයුතු කරල තියෙනවා.

කොහොම නමුත් තවමත් රජයේ කෘෂි අංශයට සම්බන්ධ සමහර නිලධාරීන් වගේම මේ සම්බන්ධයෙන් උනන්දුවක් දක්වන පර්යේෂණ කණ්ඩායම් මේ ඇල් ප්‍රභේදයේ වටිනාකම ගැන සැක පහළ කරද්දි, එහි වටිනාකම ඔප්පු වෙන තවත් වැදගත්, ජාත්‍යන්තරව පිළිගත් විදෙස් පර්යේෂණාගාර වාර්තාවක් එළිදක්වල තියෙනවා. මේ සම්බන්ධව දැඩි උනන්දුවක් දැක්වූ නෙළුව හිටපු සෞඛ්‍ය වෛද්‍ය නිලධාරී කැළුම් ලංකේශ්වර මහතා මේ සුදු ස්වයංජාත ඇල් ප්‍රභේදයේ නියැදියක් පිළිගත් ජාත්‍යන්තර පර්යේෂණාගාරයක් වන SGS ආයතනය වෙත යවල, එහි අන්තර්ගතය සම්බන්ධයෙන් විමසන්නත්, ඒ ගැන විශේෂඥයන් දැනුවත් කරන්නත් කටයුතු කරල තියෙනවා. ළඟදි එළි දැක්වූ ඒ වාර්තාවට අනුව, දැනට භාවිතා කරන සියලු ස්වභාවික හාල් වර්ග අභිබවා මේ ස්වයංජාත ඇල් ප්‍රභේදයේ පෝෂ්‍ය පදාර්ථයන් ඉතා ඉහළ මට්ටමක පවතින බව තහවුරු වෙලා තියෙනවා.



මේ පර්යේෂණ වාර්තාවට අනුව අමු සුදු ඇල් සහල්වල විටමින් සහ ඛණිජ ලවණ 1.9% කුත්, කාබෝහයිඩ්‍රේට් 65.2% කුත්, මේදය 4.7% කුත්, ප්‍රෝටීන් 10.2% කුත් අඩංගු වෙනවා. ඒ අනුව වියළි ඇල් සහල්වල මේ ප්‍රතිශතයන් පිළිවෙලින් 2.3% ක්, 79.5% ක්, 5.7% ක් 12.4% ක් අඩංගු විය යුතුයි. ඒ වගේම මේ හාල් ග්‍රෑම් 100 ක විටමින් A මයික්‍රො ග්‍රෑම් 34.52 කුත්, විටමින් E මිලි ග්‍රෑම් 0.2 කුත්, විටමින් D2 මයික්‍රො ග්‍රෑම් 0.56 කුත් අන්තර්ගත වෙනවා. මේ අනුපාතයන් දැනට පාවිච්චි කරන සියලු හාල් වර්ගවලට වඩා වැඩියි. ඒ වගේම හුඟක් හාල් වර්ගවල විටමින් A දකින්නත් නැති බව පර්යේෂකයන් පවසනවා.

මේ වාර්තාව සම්බන්ධයෙන් ශ්‍රී ජයවර්ධනපුර විශ්ව විද්‍යාලයේ ආහාර හා විද්‍යා තාක්ෂණ අධ්‍යයන අංශයේ ජ්‍යෙෂ්ඨ කථිකාචාර්යවරයෙකු වන එස්. බී. නවරත්න මහතා දැක්වූයේ මේ වගේ අදහසක්. ''මේ වාර්තාවට අනුව දැනට ලංකාවේ භාවිතා වන හාල් වර්ගවලින් වැඩිම ප්‍රෝටීන් ප්‍රමාණයක් තියෙන්නෙ මේ හාල් වර්ගයේ. ඒ ප්‍රමාණය සාමාන්‍ය තත්ත්වය වගේ දෙගුණයක් හෝ ඊට වැඩියි. මේදය පිළිබඳව කතා කරනව නම් අනෙක් සහල් වර්ගවලට වඩා හතර ගුණයකින් වැඩියි. මේදය පිළිබඳව පරීක්ෂා කරල බලල තවත් කරුණු හොයා ගන්න පුළුවන් නම්, ඒ අතර කුඩා දරුවන්ගේ මොළය වැඩෙන්න අවශ්‍ය ඔමේගා III කියන මේද අම්ලය තිබුණොත් මේක මහ පුදුම සොයා ගැනීමක් වෙයි. ඒ වගේම දැනට තියෙන හාල්වල බොහෝ කොටම විටමින් A ස්වභාවිකව හොයා ගන්න නැති නිසා ජාන තාක්ෂණයෙන් කෘතීමව විටමින් A සහිත හාල් නිෂ්පාදනය කරන කාලයක, ස්වභාවිකවම විටමින් A සහිත හාල් වර්ගයක් හමුවීමත් බොහොම වැදගත්. ප්‍රෝටීන් සහ මේදය ගැන වෙන වෙනම තව දුරටත් පරීක්ෂා කරනව නම් හොඳයි කියලයි මගේ අදහස. ඉතින් මේ ඇල් ප්‍රභේදය පිළිබඳව ඉදිරි පරීක්ෂණවලට මගේ දැනුම ලබා දෙන්න සූදානම්.''

පාරම්පරික සහල් විශේෂ ගැන සොයමින් ඒ පිළිබඳ වෙහෙස මහන්සි වෙමින් ක්‍රියා කරන සබරගමුව විශ්ව විද්‍යාලයේ ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය පී.අයි. යාපා මහතාත් මේ හාල්වල තියෙන

වටිනාකම ගැන මේ වගේම අදහසක් පළ කළා.

ඒ වගේම රජ රට වෛද්‍ය පීඨයේ කථිකාචාර්ය සහ ළමා ස්නායු රෝග පිළිබඳ විශේෂඥ වෛද්‍ය අනුරුද්ධ පාදෙණිය මහතා දක්වූයේත් මේ හා සමාන අදහසක්.

''විශේෂයෙන් මේ ඇල් සහලේ තියෙන විටමින් A , දරුවන්ගේ අක්ෂිවල පෝෂණයටත්, හමේ වර්ධනයටත්, ස්නායු පෝෂණයටත් වැදගත්. මේද ප්‍රතිශතය වැඩි නිසා කුඩා දරුවන්ට ආහාරයක් වශයෙන් වැදගත් වේවි. මොකද මේදය ඒකකයකින් ලැබෙන ශක්තිය අනෙක් පෝෂ්‍ය පදාර්ථවලට වඩා වැඩියි. ඒ වගේම කෘෂි රසායනික ද්‍රව්‍යවලින් තොරව වගා කිරීමට හැකි භෝගයක් නිසා, දැනට ව්‍යසනයක්ව පවතින වකුගඩු, දියවැඩියාව සහ අධික රුධිර පීඩනය වගේ රෝග මැඩ පැවැත්වීමටත් අතිශයින් වැදගත් වේවි. ප්‍රෝටීන්, වැඩෙන දරුවන්ගේ පඨක හා අස්ථි වර්ධනයටත් ගැබිනි හා කිරි දෙන මවුවරුන්ටත් බොහෝ සෙයින් වැදගත් වෙනවා.''

මේ සම්බන්ධයෙන් උනන්දුවක් දක්වන නෙළුව හිටපු සෞඛ්‍ය වෛද්‍ය නිලධාරී කැළුම් ලංකේශ්වර මහතා තමන් මේ සඳහා යොමු වූ ආකාරය මේ විදිහට පැහැදිලි කළා. ''වහරක අභයරතනාලංකාර හිමියන් සමාධියෙන් මතු කර ගත් අති දුර්ලභ බෙහෙත් ක්‍රමයක් සම්බන්ධයෙන් මගේ වෛද්‍ය දැනුමත් එක්ක මම අධ්‍යයනයක් කළා. එතනදි මට වැටහුණා මිනිස්සු පීඩා විඳින ඉතා බරපතල රෝගී තත්ත්වයන්ට ඒ ප්‍රතිකාර ක්‍රම ඉතා යෝග්‍ය බව. ඒ බේත් හේත් කටයුතු පහසුවෙන් කර ගෙන යන්න උදව් ලබා ගන්න කියල සිංහල වෙද මහත්තයෙක් හොයා ගෙන මම අලුත්ගම ප්‍රදේශයට යන කොට චරිත් දේශාන් කියල තවත් මහත්මයෙක් මට මුණ ගැහුණා. ඔහු තමයි මේ සුදු ස්වයංජාත හාල් ඇට 3 ක් මට ලබා දුන්නෙ. මම ඒවා ඉතා ප්‍රවේසමෙන් එවකට මා සේවය කළ නෙළුව සෞඛ්‍ය වෛද්‍ය නිලධාරී කාර්යාල පරිශ්‍රයේ වගා කළා. මාස කිහිපයකින් ඉතා සශ්‍රීක අඩි 1 1/2 - 2 ක් විතර දිග වී කරලක් ඒකෙ හැදුණා. ඒ පළවෙනි කරල මම අභයරතනාලංකාර හිමියන්ට පූජා කළා. ඉන් පසුව හට ගත් ඉතිරි කරල් ටික නෙළුව ප්‍රදේශයේ ගොවිතැනට උනන්දුවක් දක්වන ප්‍රදේශවාසීන්ට බෙදල දුන්නා. ඒ ප්‍රදේශයේ ගොවිතැන් කරන සරත් නිශාන්ත, අජිත් ප්‍රියන්ත, විජේවර්ධන කියන ගොවි මහත්වරුත්, වෛද්‍ය නිලධාරී කාර්යාලයේ සේවය කළ මහත්ම මහත්මීනුත් මේ සඳහා විශේෂයෙන් සහයෝගය ලබා දුන්නා.''

''ඊට පස්සෙ මම මොණරාගල ප්‍රදේශයේ අක්කර 2 ක පමණ ප්‍රදේශයක මේ ඇල් වර්ගය තවත් අයගේ උදව් ඇතිව වගා කළා. මේ වෙන කොටත් ඒ වගාව ඉතාම සාර්ථකව කෙරී ගෙන යනවා. මේ සම්බන්ධයෙන් මම වහරක අභයරතනාලංකාර හිමියන්ට දැනුම් දුන්නම, මේ සුදු ඇල් විශේෂයත් අධිපෝෂණ ගුණයක් පවතින හාල් විශේෂයක් බවත්, කුඩා දරුවන්ට කිරි මෙන් පෝෂ්‍යදායී ආහාරයක් වශයෙන් දෙන්න පුළුවන් බවත්, එහි ශරීරයට අත්‍යවශ්‍ය සියලුම පෝෂණ පදාර්ථ අඩංගු බවත් උන් වහන්සේ පැවසුවා.

එතකොට උන් වහන්සේ මීට අවුරුදු 3 කට පමණ පෙර ස්වයංජාත රත් ඇල් වර්ගයක් සම්බන්ධයෙන් කරපු ප්‍රකාශය එක්ක මේ පර්යේෂණ ප්‍රතිඵලත් ගැලපෙනවා. එදා කරපු ඒ ප්‍රකාශය දැනටත් ''Swayanjatha El Hal'' යනුවෙන් අන්තර් ජාලයේ තියෙනවා. උන් වහන්සේ ප්‍රකාශ කළෙත් මේ සම්බන්ධයෙන් පරීක්ෂාවක් කරල බලනව නම් ඇත්ත දැන ගන්න පුළුවන් වෙයි කියල. ඒ අනුව තමයි මේ නියැදියක්, පිළිගත් ජාත්‍යන්තර පර්යේෂණාගාරයකට යවල පරීක්ෂණ කරන්න පෙළඹුණේ. මේ කටයුත්තට මගේ මිතුරෙක් වන රුමේෂ් ලියනගේ යන අයත් සම්බන්ධ කර ගත්තා. ඔහු පරමාණු බලශක්ති අධිකාරියේ අධ්‍යක්ෂ මණ්ඩල සාමාජිකයෙක් වගේම ශ්‍රී ජයවර්ධනපුර විශ්ව විද්‍යාලයේ ආහාර විද්‍යා හා තාක්ෂණ අධ්‍යයන අංශයේ පශ්චාත් උපාධිය සම්පූර්ණ කරමින් සිටින කෙනෙක්. ඒ වගේම මේ වාර්තාව, පිළිගත් විශ්ව විද්‍යාල ආචාර්යවරුන්ට වගේම වෛද්‍යවරුන්ටත් පෙන්වල ඒ අයගෙ අදහස් ලබාගන්නත් මම කටයුතු කළා. ඒ හැම කෙනෙක්ම මේ කටයුත්තට උපරිම සහයෝගය ලබා දෙන්න සූදානම්.''

ඒ වගේම රතු ඇල් විශේෂය ගැනත් මේ වගේ පරීක්ෂණයක් කරනව නම් සුදු ඇල් සහල්වලටත් වඩා පෝෂ්‍ය ගුණය වැඩිවිය යුතු බව වහරක අභය රතනාලංකාර හිමියන් පවසනවා. උන්වහන්සේ වැඩිදුරටත් මේ වගේ අදහසක් පළ කළා. ''හරියට නම්වලින් කියන්න බැරි වුනත්, අනෙක් ධාන්‍යවල නැති අති දුර්ලභ පෝෂ්‍ය කොටස් 3 ක් මේ ස්වයංජාත ඇල්වල තියෙන බව සමාධියට වැටහෙනවා. ඒ වගේම සුදු ඇල් සහලේ අස්වැන්න රතු ඇල් සහලට වඩා වැඩියි. ඒ වගේම රතු ඇල් සහල්වල කරල් පුංචියි. සුදු ඇල් සහල ආහාරයට ගන්න පහසුයි. නමුත් මේ වර්ග දෙකම පෝෂ්‍ය ගුණය අතින් දැනට තියෙන අනෙක් සියලු හාල් වර්ගවලට වඩා ඉහළයි''.

ඉතින් මේ දුර්ලභ ඇල් හාල සම්බන්ධයෙන් රටේ ජනතාව දැනුවත් වෙන්න ඕන. මොකද විශේෂයෙන් අද වෙන කොට මේ වගේ වටිනා පාරම්පරික සහල්, භව භෝග විනාස කරන්න බලාගෙන ඉන්න පිරිසකුත් ඉන්නවා. පසුගිය කාලයේ අපේ තිබ්බ්ච පාරම්පරික සහල් වර්ගවලට, ඖෂධ ශාක වර්ගවලට සිද්ධ වෙච්ච දේ බැලුවමත් ඒ කාරණය පැහැදිලි වෙනවා. මොකද කිසිම පොහොරක්, කෘෂි රසායනයක් හෝ වල් නාශකයක් යොදන්නෙ නැතිව හැදෙන මේ වගේ සහල් වර්ගයක් හොයා ගන්න නෑ. ඒ වගේම මේ ඇල් සහල් වගා කරන්න කුඹුරු සීසාන්න ඕන නෑ. ජලය කියල විශේෂයෙන් ඕනත් නෑ. පොහොර, කෘමි නාශක, වල් නාශක මේ එකක්වත් ඕන නෑ. වෙනත් වී වර්ග වගේ වගා කරන්න කියල විශේෂ කාල සීමාවකුත් නෑ. ඕනෑම කාලයක ඕනෑම ප්‍රදේශයක වගා කරන්නත් පුළුවන්. වෙනත් වී වර්ගවල කරල් පැහුනම විශේෂයෙන් වැස්සටත් ඇට හැලෙන ගැටළුව මේ ඇල් වර්ගයේ නෑ. ඒ කරල් බොහොම ශක්තිමත්. ඒ වගේම වෙනත් වී වර්ගවල වගේ හාල් ඇට පොතුවලින් සම්පූර්ණයෙන්ම ආවරණය නොවී කරලට සම්බන්ධ වී තිබීමත් වැදගත්. මේ හැම අතින්ම ස්වයං ජාත ඇල් අනෙක් වී වර්ගවලට වඩා විශේෂයි. ඒ නිසා ඒ හේතුවෙන් සමහර පිරිස් මේක යටපත් කරන්න, විනාස කරන්න කටයුතු කරන්න පුළුවන්.

ඒ නිසා පුළුවන් තරම් ඉක්මනින් තමන්ගෙ ගෙවත්තෙ මේ පැළ කිහිපයක් පොඩියට හෝ වගා කරන්න පටන් ගත්ත නම්, තමන්ට විතරක් නෙවෙයි රටට ලෝකයාටත් ඉදිරියේදි යහපතක්ම සිද්ධ වේවි. මේ ඇල් හාල් සුළුවෙන් හෝ වගා කරන්න උනන්දුවක් දක්වන අය ඉන්නව නම්, 077-2975044 දුරකතන අංකයට කතා කරල ඒ හාල් ඇට කිහිපයක් ලබාගන්න පුළුවන්. ඉතින් මේ කරන උත්සාහය ලාභ, කීර්ති, ප්‍රසංසා ලබල ලෝකයේ වැජඹෙන්න නෙවෙයි. මේ තියෙන භෞතික ලෝකයේ පීඩිත තත්ත්වයෙන් යම් තරමකට හරි මිදිල, බරපතල ලෙඩක් රෝගයක් නැතිව නිදහසේ සුගතිය, නිවන් මාර්ගය පූර්ණ කර ගන්නම උපනිශ්‍රය සම්පත්තියක් වේවා කියන අදහසින්මයි මේ හෙළිදරව් කිරීම කළේ. ඒ සඳහා හැම දෙනාටම සහ සම්බන්ධ වෙන්න දැන් අවස්ථාව උදා වෙලා තියෙනවා.

සටහන:

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සාසනික පැවිද්ද... ③

**පැවිද්දාගේ කතා**

''සන්නිපතිතානං වෝ භික්ඛවේ ද්වයං කරණීයං ධම්මී වා කථා අරියෝ වා තුණ්හී භාවෝ - මහණෙනි, ඔබලා එක් රැස් වූ විට දෙකක් කළ යුතුය. ඒ කුමක්ද? ධර්ම සාකච්ඡා කිරීම හෝ ආර්ය තුෂ්නීම්භූත බාවයෙන් සිටීමයි.'' (උදාන - නන්ද වග්ග) මෙතනදි ආර්ය තුෂ්නීම්භූත බාවය කියන්නෙ ද්විතීය ධ්‍යානයට සමවැදී සිටීම.

මේ කාරණා දෙක උඩ තමයි භික්ෂූන් වහන්සේලා නිතර ගැවසෙන්න ඕන. ධර්ම ශ්‍රවණය හෝ ධර්ම සාකච්ඡා මුල් කර ගෙන, එහෙම නැත්නම් ආර්ය තුෂ්නිම්භූත භාවයෙන් යුක්තව වාසය කරන්න ඕන. ආර්ය තුෂ්නිම්භූත භාවය කිව්වම චිත්ත ප්‍රසාදය තියෙන්න ඕන. ඒ කියන්නෙ දහම් අවබෝධය ලබල ඉන්න පැවිද්ද පිළිබඳව හෝ දහම් අරමුණක් මුල් කර ගෙන ඒකෙ පිහිටල ඒ ප්‍රසාදය තුළ අරමුණ ආවර්ජනය නොකර ඉන්න ඕන.

උදාහරණ විදිහට බුදු ගුණ ආවර්ජනය කරන්නෙ නෑ, නමුත් බුද්ධ ප්‍රසාදය තියෙනවා. දහම් ගුණ සිහි කරන්නෙ නෑ, නමුත් ධර්මය තුළ තමන්ට ඉන්න ලැබීමේ ප්‍රසාදය නිතර එනවා. ඒ වගේම සඟ ගුණ සිහි නොකර සංඝයා වහන්සේ නමක් වගේ තමන්ට ඉන්න ලැබීමේ ප්‍රසාදය නැගිල එනවා. එහෙම නැත්නම් තමන්ගෙ තියෙන ත්‍යාගශීලී භාවය, සිල් ගුණය ගැන ප්‍රසාදය නැගිල එන්න පුළුවන්. ඒ ගැන වෙනම සිහි කරන්න දෙයක් නෑ. නමුත් ඒක මුල් කර ගෙන චිත්ත ප්‍රසාදයක් ඇති වෙනවා. අන්න ඒ ප්‍රසාදයේ ඉන්න පුළුවන්. ඒක මුල් කරගෙන දහැනට එන්න පුළුවන්.

නිවන් අවබෝධ කර ගැනීම සඳහා ශ්‍රද්ධාවෙන් පැවිදි වෙච්ච අය රාජ කථා... ආදී තිරස්චාන කතාවලින් කාලය ගෙවා දැමීම නොකළ යුතුයි. ඒ වගේ කතාවලින් තමන්ගෙ වටිනා කාලය අපතෙ යන අතරම, රාගාදී කෙළෙස් ධර්ම වැඩෙන්නත් හේතු වෙනවා. පැවිද්දන් විසින් නොකළ යුතු එබඳු කතාවන් 32 ක් පිළිබඳ අංගුත්තර නිකායේ දසක නිපාතයේ සඳහන් වෙනවා.

1. රාජ කතා -
   රජවරුන් පිළිබඳ කතා
2. චෝර කතා -
   සොරුන් පිළිබඳ කතා
3. මහාමච්ච කතා -
   මහ ඇමතිවරුන් පිළිබඳ කතා
4. සේනා කතා -
   සේනාවන් පිළිබඳ කතා
5. භය කතා -
   බිය ඇති වෙන දේවල් පිළිබඳ කතා - මේ කියන්නෙ වැඩකට නැති අස්ථාන බිය ඇති කරන කතා ගැන මිසක් සසර බිය හෝ පාපයට බිය ඇති කිරීම ගැන නෙවෙයි.
6. යුද්ධ කතා -
   යුද්ධ පිළිබඳ කතා
7. ආහාර කතා -
   ආහාර පිළිබඳ කතා
8. පාන කතා -
   බොන ජාති පිළිබඳ කතා
9. අච්ඡාදන කතා -
   අඳින රෙදි පිළිබඳ කතා
10. සයන කතා -
   සැතපෙන ආසන පිළිබඳ කතා
11. මාලා කතා -
   පළඳින මල් මාලා පිළිබඳ කතා
12. ගන්ධ කතා -
   සුවඳ විලවුන් පිළිබඳ කතා
13. ඤාති කතා -
   නෑයන් පිළිබඳ කතා
14. යාන කතා -
   යාන වාහන පිළිබඳ කතා
15. ගාම කතා -
   ගම් පිළිබඳ කතා - ගමේ ගොඩේ කතා බහ වෙන වැඩකට නැති ප්‍රලාප ගැන තමයි මේ කියන්නෙ. ගම්වල පෙර සිද්ධි ආදිය වර්ණනා කරමින් කාලය කා දැමීමක් තමයි ඒකෙන් වෙන්නෙ.
16. නිගම කතා -
   නියම් ගම් පිළිබඳ කතා - නියම් ගමක් කියන්නෙ ගම් රාශියක් එකතු වෙලා හැදිච්ච විසාල ගමක්. මේ ගම් හදල තියෙන්නෙ මෙහෙමයි, අපි ඕව කෙරුවෙ මෙහෙමයි ... ආදී වශයෙන් නිවන් දකින්න හේතු නොවන පුරසාරම් කතා මේකට අයිති වෙනවා.
17. නගර කතා -
   නගර පිළිබඳ කතා - නගරවල සුන්දරත්වය වර්ණනා කිරීම්, යන එන හැටි කියන කතා ආදිය මේකෙන් අදහස් වෙනවා.
18. ඉත්ථි කතා -
   ස්ත්‍රීන් පිළිබඳ කතා
19. සුරා කතා -
   සුරාව පිළිබඳ කතා
20. වීථි කතා -
   පාරවල් පිළිබඳ කතා
21. කුම්භට්ඨාන කතා -
   ළිං, පොකුණු, තොටුපොළවල් පිළිබඳ කතා
22. පුබ්බ පේත කතා -
   පෙර කළුරිය කළ අය පිළිබඳ කතා
23. නානත්ථ කතා -
   නොයෙක් දේ ගැන කතා
24. ලෝකක්ඛායි කතා -
   ලෝකය පිළිබඳ කතා
25. සමුද්දක්ඛායි කතා -
   මුහුද පිළිබඳ කතා
26. සස්සත කතා -
   සත්ත්වයා සදාකාලිකයි කියන කතා
27. උච්ඡේද කතා -
   මේ ජීවිතයෙන් සියල්ල අවසන් කියන කතා
28. වුද්ධි කතා -
   ලෞකික වැඩි දියුණුව ගැන කතා
29. හානි කතා -
   නැතිවීම් ගැන කතා
30. කාම සුඛ කතා -
   කම් සැප පිළිබඳ කතා
31. අත්තකිලමතානුයෝගී කතා -
   අත්බැව ක්ලාන්ත වන වැඩ පිළිවෙලවල් ගැන කතා, ශරීරයට දුක් දීල නිවන් දකින්න පුළුවන් කියල පෙන්වන වැරදි ආකල්ප.
32. සමූහ කතා -
   සමූහයා පිළිබඳ කතා

මේ දෙතිස් කතාවලට අනුලෝම වන තවත් නොයෙක් කතාවලින් භික්ෂුව වළකින්න ඕන. නමුත් පිං පච්චලට ☞

විපාක දුක්වීම, පිං දහම් කිරීමට සැදැහැවතුන් උනන්දු කරවීම්... ආදියට ප්‍රයෝජනවත් කරුණු සඳහා, අනිච්චතාවය දුක්වීම් ආදියට, රජවරුන් ගැන කතා කළාට වරදක් නෑ.

ඒ වගේම දෙතිස් කතා අතුරෙන් අතීත ඥාතීන් පිළිබඳ කතා කරන කොට, අපේ අහවල් ඥාතියා ඉතා දැහැමි කෙනෙක්, තෙරුවන් සරණ ගිය කෙනෙක්, යහපත් කටයුතු පිං දහම් කළ කෙනෙක්... ආදී වශයෙන් කතා කළාට වරදක් නෑ. මේ දෙතිස් කතාවලින් වැළකිලා පැවිද්දන් විසින් කළ යුතු කථා දහයක් ගැනත් ධර්මයේ මේ විදිහට සඳහන් වෙනවා.

1. අප්පිච්ඡ කතා
2. සන්තුට්ඨි කතා
3. පවිවේක කතා
4. අසංසග්ග කතා
5. විරියාරම්බ කතා
6. සීල කතා
7. සමාධි කතා
8. පඤ්ඤා කතා
9. විමුක්ති කතා
10. විමුක්ති ඤාණ දස්සන කතා

1. <u>අප්පිච්ඡ කතා</u>

අල්ප දෙයකින් සතුටුවීම පිළිබඳ කතාව වගේම ඉච්ඡතාවයන් අඩු කර ගැනීම පිළිබඳ කතා කිරීම. අල්ප දෙයකින් සතුටු වෙන්න බැරි කෙනාට තියෙන්නෙ මහිච්ඡතාවය. ඒ කියන්නෙ මහා බලාපොරොත්තු තියාගෙන ඉඳීම.

2. <u>සන්තුට්ඨි කතා</u>

ලද දෙයින් සතුටුවීම පිළිබඳ කතාව. ''සන්තුට්ඨී පරමං ධනං'' කියන ධම්ම පද දේශනාවට අනුව පරම ධනය කියන්නෙ සන්තුට්ඨිතාවය.

3. <u>පවිවේක කතා</u>

කාය විවේකය, චිත්ත විවේකය, උපධි විවේකය කියන ත්‍රිවිධ ධර්මතා පිළිබඳ කතා කිරීම. භික්ෂුව අනවශ්‍ය කටයුතුවලින් නිදහස්ව කාය විවේකය ඇති කර ගැනීම පළමුව සිදු කර ගන්න ඕන. මේ විදිහට කාය විවේකය ඇති කර ගෙන සමාධිය වඩා ගෙන ධ්‍යාන සමාපත්තීන් ලබල චිත්ත විවේකයත්, කෙලෙස්වලින් සිත මුදවා ගැනීමෙන් උපධි විවේකයත් ඇති කර ගන්න ඕන. (උපධි කියන්නෙ උපාදානයෙන් බැඳී සිටීම. උපධි විවේකය කියන්නෙ බැඳීමෙන් වෙන්වීමේ නිදහස් බව. කාමූපධි විවේකය - කාම උපාදානයන්ගෙන් වෙන්වීමෙන් ලබන නිදහස, ඛන්ධූපධි විවේකය - ස්කන්ධයන්ගේ වෙන්වීමෙන් හෙවත් පංච උපාදානස්කන්ධයෙන් වෙන්වීමෙන් ලබන නිදහස, කිලේසූපධි විවේකය - කෙලෙස් උපාදානයන්ගෙන් වෙන්වීමෙන් ලබන නිදහස) මේවා පිළිබඳ සාකච්ඡා කිරීම තමයි පවිවේක කතා කියන්නෙ.

යථා බ්‍රහ්මා තථා ඒකෝ
යථා දේවෝ තථා දුවේ
යථා ගාමෝ තථා තයෝ
කෝලාහලං චතුඋත්තරිං

තනියෙන් වාසය කිරීම බ්‍රහ්මයා හා සමානය. දෙදෙනෙක් එකතු වූ විට දෙවියන් වැනිය, තිදෙනෙක් සිටින තැන ගමක් වන අතර, එයට වඩා වැඩි වීමෙන් කලකෝලාහල අසමගිතා ඇති වේ. මේ කාරණය පැවිද්දා සිහි කළ යුතු ඉතා වැදගත් උපදේසයක්.



ඒකස්ස චරිතං සෙය්‍යෝ
නත්ථි බාලේ සහායතා
ඒකෝ චරේ නච පාපානි කයිරා
අප්පොස්සුක්කෝ
මාතංග රඤ්ඤේව නාගෝ
(ධම්ම පදය)

බාලයන් සමග එක්වීමට වඩා තනියෙන් වාසය කිරීම ඉතා උතුම්ය. හුදකලා වූ විට පාපයන් සිදු වීමට ඇති ඉඩ කඩ අඩුය. රැලේ සිට නොහික්මුණු අලි ඇතුන් නිසා වෙන් වුන පාරිලෙය්‍ය හස්ථියා මෙන් තනිව වාසය ඉතා ශ්‍රේෂ්ඨය.

භික්ෂූන් වහන්සේලාට තථාගතයන් වහන්සේ නිතර අනුසාසනා කළ දේශනයක් තමයි මේ. ''මහණෙනි, අරණ්‍ය රුක් මුල් සුන්‍යාගාර වැනි නිදහස් තැන් කරා ගොස් අප්‍රමාදීව කෙලෙස් තවන වීර්යෙන් කටයුතු කරන්න. මට ධර්ම මාර්ගයේ හැසිරීමට නොහැකි වූයේ යැයි සිතා පසුව සිත වික්ෂිප්ත කර නොගන්න. මේ මාගේ අනුසාසනයයි.'' විවේකයේ තියෙන වටිනාකම කොච්චරද කියන්න නොයෙක් දේශනාවලින් තථාගතයන් වහන්සේ කරුණු පැහැදිලි කරල තියෙනවා.

රමණීයානි අරඤ්ඤානි
යත්‍ථ න රමතී ජනෝ
වීතරාගා රමෙස්සන්ති
නතේ කාම ගවේසිනෝ

ලෝකයේ සිත්කළු ආරණ්‍ය, විවේකස්ථාන ඇතත් සාමාන්‍ය කාමභෝගී ජනයා එයට කැමති නොවේ. මේ පාළු අභිමාන තැන්වල (පාළු තැන්වල) තනියෙන් පාළුවේ ඉන්නේ කෙසේද කියා සාමාන්‍ය අය සිතුවත්, කාමයන් නොසොයන වීතරාගී උතුමෝ එවැනි නිදහස් තැන්වල වැඩ සිටීමට ඉතා කැමතිය.

හැබැයි මෙතනදි ආරණ්‍ය, රුක් මුල්, සුන්‍යාගාර... ආදී වශයෙන් කිව්වම සම්මුති අර්ථයට අමතරව පරමාර්ථ අර්ථයකුත් තියෙන බව තේරුම් ගන්න ඕන. පරමාර්ථ අර්ථයෙන් ගත්තම මේ කියන්නෙ උපමාවක්. රණ කියන්නෙ යුධ පිටිය. අරණ කියන්නෙ යුද්ධෙ නැති තැන. හිත කෙලෙස්වලින් බර වුනාම යුද පිටියක් වගේ. ඒ තත්වය නැති කර ගන්න හිත අරණක් වගේ කර ගන්න ඕන. ඒ වගේම රුක් මූලක තියෙන හෙලවෙන්නෙ නැති ස්වභාවයට හිත පත් කර ගන්න ඕන. තමන්ගෙ හිත / හදවත සුන්‍යාගාරයක් කර ගන්න කියන්නෙ කෙලෙස්වලින් නිදහස් කර ගැනීම. ඒ කාලයේ මේ කාරණය සම්මත අර්ථයෙන් වගේම පරමාර්ථ අර්ථයෙනුත් ගත්තා. ආරණ්‍ය, රුක් මුල්, සුන්‍යාගාර කියන ඒවා ගත්තම බුදුන් වහන්සේ ඒවා විශේෂයෙන් පැනෙව්වෙ රහතන් වහන්සේලාට ඵල සමාපත්තියෙන් / නිරෝධ සමාපත්තියෙන් වැඩ ඉන්න. අනිත් අයට විශේෂයෙන්ම කිව්වෙ, සංඝයා අතර ඉඳගෙන තමන්ගෙ කටයුතු කර ගන්න කියල.

හැබැයි මේ කියන කාරණය, ඉහත විස්තර කළ ''පාරිලෙය්‍ය ඇතා වගේ තනිව වාසය කිරීම ශ්‍රේෂ්ඨයි'' කියන කාරණයත් එක්ක පරස්පර වෙන්නෙ නෑ. මොකද එතැනදි භික්ෂූන් වහන්සේලාගේ භේදබින්න වීම නිසයි උන් වහන්සේ පාරිලෙය්‍ය වනයට හුදකලාවම වැඩියේ. ඒ වඩින්න පෙර තමයි ඔය විදිහට ගාථා කිහිපයක් දේශනා කළේ. අවසානයේ කවුරුවත් තමන්ගෙ අත වැසියෙක් හෝ උපස්ථායකයෙක් විදිහට නොගෙන තනියම පාත්තරෙත් අරගෙන එළියට වැඩල, නැවතත් ජේතවනාරාමය

දෙසට හැරිල භික්ෂූන් වහන්සේලාට අවවාදයක් කළා. මේ වගේ අසත්පුරුෂයොත් එක්ක ඉන්නවට වඩා කඟවේණෙක් වගේ තනිව වාසය කිරීම වටිනවා කියල නිග්‍රහ කරල තමයි උන් වහන්සේ පාරිලෙය්‍ය වනයට වැඩියෙ. භේද වන භික්ෂූන් වහන්සේලා අතර ඉන්නවට වැඩිය හොඳයි තනිව කඟවේණෙක් වගේ හැසිරීම කියල වර්ණනා කළේ ඒ වගේ අවස්ථාවකදි. එහෙම නැත්නම් සාමාන්‍යයෙන් භික්ෂූන් වහන්සේලා අතර ඉඳගෙන තමයි මාර්ගය වඩන්න ඕන.

මොකද එතකොට තමයි තමන්ගෙ අඩුපාඩු පේන්නෙ. හුදකලාව හැංගිලා ඉන්න කොට කෙනෙක්ගෙ අඩුපාඩු පේන්නෙ නෑ. තමන්ගෙ කතාවයි, ක්‍රියාවයි දෙකෙන් තමයි තමන්ගෙ චර්යාව එළිබහින්නෙ. හිතේ තියෙන දේවල් එළි බහින්න කතාවයි, ක්‍රියාවයි දෙක තියෙන්න ඕන. භික්ෂූන් වහන්සේලා අතර නිතර ගැවසෙන කොට ඒ දෙකෙන් ඒ පුද්ගලයගෙ චරිතය දකින්න පුළුවන්. එතකොට මාර්ගය පූර්ණ කර ගන්න පහසු වෙනවා.

4. <u>අසංසග්ග කතා</u>

සංසර්ගයන්ගෙන් වෙන්වීම පිළිබඳ සාකච්ඡාව. සංසර්ගය කියන්නෙ රාග, ද්වේශ, මෝහ සමග එක්වීම. කෙළෙස් ඇති වන කතාවලින් වෙන් වෙලා කෙළෙස් ප්‍රහාණයට උපකාර වන සාකච්ඡා කරන්න බුද්ධ ශ්‍රාවකයන් නිතර උත්සාහ කරන්න ඕන. ලෝකයේ බහුතරයක් හුදකලා විවේක ජීවිතවලට අකමැතියි. පිරිස් සමග එකතු වෙලා නොයෙක් දෙතිස් කතාවන්, ලෞකික දේවල් පිළිබඳ කතා කරමින් සංගනිකාරාමතාවේ (එකට රංචු ගැසී සිටීම) යෙදීමට තමයි වැඩි කැමැත්තක් තියෙන්නෙ. එතකොට සංඝනිකාරාම දෝස එනවා. ඒකෙන් විහිළු කොළොප්පම් කරන්න හිතෙනවා. අනවශ්‍ය දේවල් කතා කරන්න පෙළඹෙනවා. අනවශ්‍ය බැඳීම් ඇති කර ගන්න පෙළඹෙනවා. ඒක මාර්ගය වඩන්න බාධාවක්.

සංසර්ගය කියන කොට ශ්‍රවණ සංසර්ගය, දර්ශන සංසර්ගය, සමුල්ලපන සංසර්ගය, සම්භෝග සංසර්ගය, කාය සංසර්ගය වශයෙන් ප්‍රභේද තියෙනවා. ඇහැට පෙනෙන රූප නිසා එහි බැඳීමෙන් දර්ශන සංසර්ගය ඇති වෙනවා. කනට ඇහෙන ශබ්ද හේතුකොට ගෙන ඒවාට ආසාව ඇති වීමෙන් ශ්‍රවණ සංසර්ගය ඇති වෙනවා. ස්ත්‍රීන් පුරුෂයන් සමග, පුරුෂයන් ස්ත්‍රීන් සමග කතා බහ කිරීමෙන් ඇති වන බැඳීම සමුල්ලපන (උලක් වගේ වේදනා දෙන) සංසර්ගය වෙනවා.

තව කෙනෙක්ගෙ වස්තු පරිහරණය නිසා හට ගන්න රාගයෙන් සම්භෝග සංසර්ගය හට ගන්නවා. අත් ඇල්ලීම් ... ආදී වශයෙන් ඇති වන බැඳීම කාය සංසර්ගය වෙනවා. මේ සියළු සංසර්ගයන්ගෙන් වෙන්වීම පිළිබඳ කතා කිරීම අසංසග්ග කතාවට අයත් වෙනවා.

5. <u>විරියාරම්බ කතා</u>

සසර දුක් නිවා ගෙන නිවන් අවබෝධ කර ගැනීම පිණිස වීර්ය වඩන හැටි, සතර සම්‍යක් ප්‍රධාන වීර්ය පිළිබඳ කතා කිරීම තමයි විරියාරම්බ කතාව කියන්නෙ. ඊළඟට සඳහන් වෙන්නෙ සීලය, සමාධිය, ප්‍රඥාව, විමුක්තිය, විමුක්තියෙන් ලැබෙන ඥාන දර්ශනය පිළිබඳ කතාව. භික්ෂුව දෙතිස් කතාවලින් වැළකිලා දස කතාවල යෙදීම තමන්ටත් අන්‍යයන්ටත් ඉතා වැඩදායකයි. රැස් වුනාම කළ යුතු ක්‍රම දෙකෙන් ''ධම්මී වා කතා'' කියල සඳහන් කරල තියෙන්නෙ මේ දස කතා පිළිබඳ සාකච්ඡා කිරීම.

<u>එක් විසි අනේසන ධර්ම</u>

''න ඒකවීසතිවිධං අනේසනං නිස්සාය ජීවිතං කප්පේති'' කියන මේ දේශනාව අනුව භික්ෂූන් වහන්සේලා විසින් නොකළ යුතු කාරණා 21 ක් පිළිබඳ ධර්මයේ සඳහන් වෙනවා. ඒවා හඳුන්වන්නෙ එක් විසි අනේසන ධර්ම කියල. විහාරස්ථානවල තියෙන සඟ සතු දේවල් දායකයන් සතුටු කිරීමට, ප්‍රත්‍ය ලබාගැනීමට අන්‍යයන්ට දීම භික්ෂුවට අකැපයි. ඒ විදිහට නොදිය යුතු, නොකළ යුතු කාරණා 21 මේ විදිහට සඳහන් වෙනවා.

1. උණ ගස් දීම
2. මල් වර්ග දීම
3. තල්පත් ආදී කොළ වර්ග දීම
4. කොස්, පොල් ආදී ගෙඩි වර්ග දීම
5. දැහැටි දඬු දීම
6. මුව දෝනා පැන් දීම
7. නෑමට පැන් දීම
8. මැටි දීම
9. සුනු වර්ග දීම -
   අද සබන් වෙනුවට ඉස්සර තිබුනෙ හුණු වර්ග මිශ්‍ර කරල ඇඟ ගල්වල කුණු ඉවත් කරන ක්‍රමයක්. ඒ නිසා අද ගිහියන්ට සබන් වර්ග දීමක් වගේ තමයි එදා හුණු වර්ග දීම.
10. තමා පහත් කොට දායකයා උසස් කොට කතා කිරීම
11. මුං ඇට පිසූ විට, තැම්බූ ඇට අමු ඇට මිශ්‍රව තිබෙනවා මෙන් සැබෑ, බොරු මිශ්‍ර කොට කතා කිරීම
12. දායකයන්ගේ දරුවන් සුරතල් කිරීම
13. ගිහියන්ගේ හසුන් ගෙන යාම
14. වෙදකම් කිරීම - මේ කියන්නෙ භේසජ්ජ ඛණ්ඩයේ පෙන්වා තියෙන විදිහට බෙත් හේත් හෙළිදරව් කිරීමක් ගැන නෙවෙයි. පින්වතුන් විසින් සැහැදැවෙන් දුන් බොජුන් වළඳල ඒ වගේ වෙදකම් කිරීම් ජීවනෝපාය සඳහා කරනව නම් ඒක ගැලපෙන්නෙ නෑ, තිරස්චානයි. එහෙම නැතිව තමන් දන්න වෙද හෙදකම් ලෝකයා කෙරෙහි අනුකම්පාවෙන් අනෙක් අයට කියල දීල පවරල උපදෙස් දීම මේ කාරණයට අයිති වෙන්නෙ නෑ.

මෙතනදි දහමේ පෙන්වන හොඳ උපමා කතාවක් තියෙනවා. සූචි මුඛී (උල් වූ මුඛයක් ඇති) කියල එක්තරා පරිබ්‍රාජිකාවක් හිටියා. ඇය සැරියුත් මහ රහතන් වහන්සේගෙන් අහනවා, ඔබ වහන්සේ උඩ බලාගෙනද දන් වළඳන්නෙ කියල. නැත නැගණියනි කිව්වම, එහෙනම් බිම බලාගෙන වළඳනවද කියල අහනවා. ඒත් නෑ කිව්වම, වට පිට බලාගෙන වළඳනවද කියල අහනවා. ඒත් නෑ කියල උත්තර දෙනවා. එහෙනම් ඔබ වහන්සේ කොහේ බලාගෙනද දන් වළඳන්නෙ කියල ඇහුවම, උන් වහන්සේ මේ විදිහට උත්තර දෙනවා. යම් කිසි භික්ෂුවක් නැකැත් සාස්ත්‍ර තරු බලාගෙන ජීවනෝපාය ගෙනියයි නම් ඒක තමයි උඩ බලාගෙන වැළඳීම කියන්නෙ. ඒ කියන්නෙ නිකං ඔළුව උස්සල උඩ බැලීමක් නෙවෙයි. ඊළඟට ගේ බිම් සාස්ත්‍රය, වර්ග සාස්ත්‍රය ආදිය අරගෙන කරන කටයුතුවලින් ජීවත් වෙනව නම් ඒක තමයි බිම බලාගෙන වැළඳීම. යම් භික්ෂුවක් දූතයන් අතේ පණිවිඩ අණපනත් ගෙනියන ජාතියේ කටයුතු කරල ජීවත් වෙනව නම් ඒක වටපිට බලාගෙන වැළඳීමක්. මම ඒවා කරන්නෙ නෑ, ඒකයි මම උඩ බලාගෙනවත්, බිම බලාගෙනවත්, වට පිට බලාගෙනවත් දන් වළඳන්නෙ නෑ කිව්වෙ කියල උන් වහන්සේ උත්තර දෙනවා. අන්න ඒ වගේ මේ කියන කාරණය තේරුම් ගන්න ඕන.

15. ගෙන් ගෙට ගිහියන්ගේ පණිවිඩ ගෙන යාම
16. ගිහියන්ගේ කෙත් වතු ආදියේ මෙහෙවරට යාම
17. තමාට ලැබෙන ප්‍රත්‍ය ගෙවල්වලට දී ඒ අයගෙන් ලැබෙන දේවල් ගැනීම
18. ලාභ බලාපොරොත්තුවෙන් අල්ලස් දීම

19. වාස්තු විද්‍යානුකූලව ගෙවල් ළිං ආදියට බිම් දක්වීම

20. නැකැත් කීම

21. අංග විද්‍යාව අනුව ශරීරාංග ගැන පලාඵල කීම

<u>වත් පිළිවෙත්</u>

වත් පිළිවෙත් කිරීමත් පැවිද්දාගේ අනිවාර්ය අංගයක්. ආචාර්ය, උපාධ්‍යාය, අන්තේවාසික කියන හැම දෙනා විසින්ම පිරිය යුතු වත් පිළිවෙත් තියෙනවා. මහ තෙරුන්ගේ පටන් එදිනම පැවිදි වෙච්ච සාමණේර නම දක්වා ඉන්න හැම දෙනා විසින්ම තම තමන්ට අයිති වත් පිළිවෙත් සම්පූර්ණ කරන්න ඕන.

වත්තං න පරිපූරෙන්තෝ
න සීලං පරි පූරතී
අසුද්ධ සීලෝ දුප්පඤ්ඤෝ
චිත්තේකග්ගං න වින්දති
(විනය විනිශ්චය වත්තක්ඛන්ධය)

වත් සම්පූර්ණ නොකරන කෙනාගේ සීලයද සම්පූර්ණ නැත. සීල සුද්ධිය නැති නුවණැති කෙනාට සිතේ එකඟ බව ලැබීමටද අපහසුය.

වික්ඛිත්ත චිත්තෝ නේකග්ගෝ
සද්ධම්මං නව පස්සති
අපස්සමානෝ සද්ධම්මෝ
දුක්ඛා න පරි මුඤ්චතී
(විනය විනිශ්චය වත්තක්ඛන්ධය)

සිත වික්ෂිප්ත නම්, සිතේ එකඟ බව නැත්නම් ධර්මය දකීමටද අපහසුය. ධර්මය නොදකින කෙනාට දුකෙන් මිදීමක්ද නැත්තේය.

වත් පිළිවෙත් නොකිරීම සාමණේරයන්ට දඬුවම් ලැබිය හැකි වරදක්. උපසපන් භික්ෂූන්ට දුකුලා (කටයුතු දුෂ්කර) ඇවතක්. චුල්ල වග්ග පාළියේ වත්තක්ඛන්ධකයේ වත් 14 ක් දේශනා කරල තියෙනවා.

1. ආගන්තුක වත
2. ආවාසික වත
3. පිණ්ඩචාරික වත
4. සේනාසන වත
5. අරඤ්ඤක වත
6. අනුමෝදනා වත
7. භත්තග්ග වත
8. ගමික වත
9. ජන්තාඝර වත
10. වච්ච කුටි වත
11. ආචරිය වත
12. උපාධ්‍යාය වත
13. සද්ධි විහාරික වත
14. අන්තේවාසික වත

1. <u>ආගන්තුක වත</u>

තමන් ආගන්තුකයෙක් විදිහට වෙනත් ආරාමයකට ගියාම පිළිපදින ආකාරය තමයි මේකෙන් කියන්නෙ. වෙනත් සෙනසුනකට යන ආගන්තුක භික්ෂුව ආරාමයට පිවිසීමට පෙර පාවහන් ගලව ගෙන, කුඩ ඉහල ගෙන ඇත්නම් ඒවා හකුල ගෙන, හිස වසා පොරව ගෙන ඇත්නම් ඒවා හිසෙන් ඉවත් කර ගෙන සංවරව ආරාමයට ඇතුල් වෙන්න ඕන.

ආරාමයේ ආවාසික භික්ෂූන් රැස් වෙන තැනට ගිහින් සුදුසු තැන්වල පාත්‍ර සිවුරු තියන්න ඕන. බොන පැන්, පරිභෝග පැන් ඇති තැන්, පිඬු සිඟා යා යුතු, නොයා යුතු තැන් අහල දැන ගන්න ඕන. වැඩිමහළු ආවාසික භික්ෂූන්ට වන්දනා කරන්න ඕන.



වාසයට සෙනසුනක් ලැබුනම ඒක කලින් වෙනත් කෙනෙක් හිටපු තැනක්ද නැත්ද යන වග සොයා බලල ඇතුල් වෙන්න ඕන. ඒ ආවාසය අපවිත්‍ර වෙලා තියේ නම් පිරිසිදු කරල වැසිකිළි ආදිය පිරිසිදු කරල ජලය නැත්නම් ඒවා ගෙනත් තියන්න ඕන. මේ තමයි ආගන්තුකයෙකුට අයිති වත.

2. <u>ආවාසික වත</u>

ආගන්තුක භික්ෂුවක් ආරාමයකට පැමිණුනාම ආවාසික භික්ෂූන් විසින් කළ යුතු වත් තමයි මේකෙන් කියන්නෙ. ආගන්තුකයින්ට කරන නිසා ආගන්තුක වත් කියලත් හඳුන්වනවා. ආගන්තුක වැඩි මහළු භික්ෂුවක් ආරාමයට වඩින කොට ආසනයක වාඩි වෙලා ඉන්නව නම්, හුනස්නෙන් නැගිටල පෙර ගමන් කරල පාත්‍ර සිවුරු පිළිගෙන සුදුසු තැන්වල තැබීම, ආසන පැනවීම, පා සේදීමට මුහුණ කට සේදීමට පැන් තැබීම, වැඩි මහළු ආගන්තුක භික්ෂුවට වැඳීම, පවන් සැලීම, දහැත් ගිලන් පස ආදිය පිළිගැන්වීම, වාසය කිරීමට සෙනසුනක් සපයා දීම, වැසිකිළි කැසිකිළි ආදිය තියෙන තැන් පෙන්වීම, පිඬු සිඟා යා යුතු, නොයා යුතු තැන් කියා දීම ආදී දේවල් ආවාසිකයා විසින් කරන්න ඕන.

ආගන්තුක භික්ෂුව නවකයෙක් නම් ඒ භික්ෂුවගේ වැඳීම පිළිගන්න ඕන. පාත්‍ර සිවුරු තැබිය යුතු තැන්, පැන් ඇති තැන් ආදිය පෙන්වා දෙන්න ඕන. ආවාසික භික්ෂුව වෙනත් වැඩක යෙදී හිටියත් ඒක නවත්වල ආගන්තුක සත්කාර කරන්න ඕන.

3. <u>පිණ්ඩචාරික වත</u>

භික්ෂූන්ට පිඬු සිඟා වැඩීමත් ඉතා උතුම් කටයුත්තක්. ''පිණ්ඩියාලෝපන භෝජනං නිස්සාය පබ්බජ්ජා තත්‍ථ තේ යාවජීවං උස්සාහෝ කරණියෝ'' පිඬු සිඟා වැඩීමට දිවි ඇති තෙක් උත්සාහ කළ යුතු බව නිශ්‍රය හතර (චීවර, පිණ්ඩපාත, සේනාසන, ගිලාන ප්‍රත්‍ය කියන සිවු පසය) දේශනා කරත්දි තථාගතයන් වහන්සේ විසින් වදාරළ තියෙනවා. භික්ෂූන් පිඬු සිඟා වඩින කොට නොයා යුතු අගෝචර ස්ථාන හයක් පිළිබඳවත් දේශනාවේ සඳහන් වෙනවා.

1. වෙසඟනන් වසන තැන්
2. වැන්දඹු ස්ත්‍රීන් සිටින තැන්
3. වයසට ගිය, නමුත් තරුණ කාන්තාවන් වගේ පෙනී සිටින්න උත්සාහ කරන නාකි ළමිස්සියන් සිටින තැන්
4. නපුංසකයන් සිටින තැන්
5. මෙහෙණින් වහන්සේලා වාසය කරන තැන්
6. සුරා සැල් තියෙන ස්ථාන

ගෙදරකට පිඬු සිඟා වඩින කොට, යන එන සිත තියා ගන්න ඕන. ඒ කියන්නෙ සතිපට්ඨානයෙන් ඉන්න ඕන. ගෙදරට හෝ මිනිස්සුන්ට වැඩිපුර ආසන්න නොවී ඉන්න ඕන. හුගක් දුරින් ඉන්නත් හොඳ නෑ. ගෙදරට ගියාට පස්සෙ ඉතා ඉක්මනින් ආපසු යන්නත් සුදුසු නෑ. බොහෝ වේලාවක් බලා ගෙන ඉන්නත් හොඳ නෑ.

මිනිස්සු අසුන්වලින් නැගිටල භාජන, හැඳි ගන්න බව තේරෙනව නම් ඒ බව සලකල නිවස අසල ටික

වෙලාවක් රැඳී සිටින්න ඕන. දායකයන් ආහාර පිළිගන්වන කොට වමතින් සිවුර ඉවත් කරල අත් දෙකෙන් පාත්‍රය අල්ලගෙන ගෙන, දානය පිළිගන්වන අයගෙ මුහුණ බැලීම් ආදිය නොකර, දන් පූජා කිරීමෙන් අනතුරුව ඉතා කෙටියෙන් පිං අනුමෝදන් කරල ආශිර්වාද කරල, සිවුරෙන් පාත්‍රය වහ ගෙන සංවරව ආරාමයට හෝ දන් වැළඳීමට සුදුසු තැනකට පිටත් වෙන්න ඕන.

බොහෝ භික්ෂූන් ඇති තැන්වල පිණ්ඩපාතෙ ගිහින් ආපසු පැමිණුනාට පස්සෙ පළමුවෙන් ආ භික්ෂුව දාන ශාලාවේ ආසන පැනවීම, පැන් තැබීම, වැඩි ආහාර දමන භාජන සෝදා තැබීම කරන්න ඕන. පසුව පිඩු සිගා පැමිණෙන භික්ෂූන්ට කැමති නම් ඉතිරි වෙලා තියෙන දානය වළඳන්න පුළුවන්. අකමැති නම් ඒවා ඉවත් කරල භාජන හෝදල, වාඩි වෙන ආසන අකුලල තියල පැන් බඳුන් තැන්පත් කරල දාන ශාලාව පිරිසිදු කරල යන්න ඕන.

4. <u>සේනාසන වත</u>

යම් කිසි විහාරයක වාසය කරන භික්ෂුව ඒ විහාරයේ තියෙන බඩු භාණ්ඩ පිරිසිදු කර තැබීම, ආවාස මිදුල් ඇමදීම, භෝජන ශාලා, වැසිකිළි, කැසිකිළි පිරිසිදු කිරීම, සෑ මළු, බෝ මළු, ප්‍රතිමා ගෙවල් පිරිසිදු කිරීම අනිවාර්යෙන් කරන්න ඕන.

බොන පැන්, පරිභෝග පැන් තැබීම, දූවිලි සහිත වාතය එන දිසාවල දොර ජනෙල් වැසීම කරන්න ඕන. විහාරය විනාස වෙන විදිහට නිතරම කවුළු ඇරල තැබීමත් නොකළ යුතුයි.

වැඩිමහළු භික්ෂූන් සමග එක විහාරයක වාසය කරන නවකයන් විසින්, අවසර නොගෙන ශබ්ද නගා බණ පිරිත් කීම, පොත් පාඩම් කිරීම නොකළ යුතුයි. වැඩි මහල් භික්ෂූන්ට කරදරයක් නොවන විදිහට කටයුතු කරන්න ඕන.

5. <u>අරඤ්ඤක වත</u>

ආරණ්‍යයේ වැඩ වසන භික්ෂුව පිණ්ඩපාතෙ යන්න සුදුසු වෙලාව ආවම සේනාසනයේ බඩු මුට්ටු තැන්පත් කරල දොර ජනෙල් වහල පාත්‍ර සිවුරු අරගෙන පාවහන් තියේ නම් ඒවා දමාගෙන ගමට යන්න ඕන. ගම ආසන්නයට පැමිණුනාම පාවහන් ගලවල පාත්‍ර තවිකයට දමල පිඩු සිඟා වඩින්න ඕන. තමන් වාසය කරන සේනාසනය තුල බොන පැන්, පරිභෝග පැන් නිතර තියා ගන්න ඕන. පැන් තියා ගන්න භාජන දෙකක් නැත්නම් එකක් හෝ තියා ගන්න ඕන. එහෙම නැත්නම් උණ පුරුක්වල හෝ වලක් හදල ඒවායේ පැන් තියා ගන්න ඕන.

වර්තමානයේ බොහෝ පහසුකම් සකස් වෙලා තියෙන නිසා මේ ක්‍රම අවශ්‍ය වෙන්නෙ නැති වුනත්, බුද්ධ කාලයේ තිබ්ච්ච සමාජ රටාව සහ පහසුකම් අනුව තමයි මේ වගේ ක්‍රම එදා පනවල තිබුණෙ. ආරණ්‍යයේ වාසය කරන භික්ෂුවට ගිණි අවුලා තබන්නත්, ගිණි දල්වා ගැනීමට අවශ්‍ය උපකරණ තියේ නම් ගිණි අවුලා තබන්න අවශ්‍ය නැති බවත් සඳහන් වෙනවා. සැරයටියක් තබා ගැනීම, දින, මාස, සෘතු දැන ගැනීම ආරණ්‍ය භික්ෂුවට අවශ්‍ය බව සඳහන් වෙනවා.

6. <u>අනුමෝදනා වත</u>

දායක පින්වතුන් පිරිනැමූ දානය වළඳල නිකම්ම නැගිටල නොයා යුතුයි. ''අනුජානාමි භික්ඛවේ භත්තග්ගේ අනුමෝදිතු'' කියන බුද්ධ දේශනාව පරිදි දායකයන්ගේ සිත සතුටුවීම පිණිස අනුමෝදනා දේශනාවක් කරන්න ඕන. ''අනුජානාමි භික්ඛවේ ථේරේන භික්ඛුණා භත්තග්ගේ අනුමෝදිතුං'' කියන දේශනාව අනුව, සංඝ ස්ථවිරයන් වහන්සේ විසින් අනුමෝදනා බණ කියන්න ඕන. සංඝ ස්ථවිරයන් වහන්සේ නවක භික්ෂුවක් ලවා අනුමෝදනාව කරවන්න කැමති නම් ඒ විදිහට කරන්නත් පුළුවන්. අනුමෝදනා වෙලාවෙදි සංඝ ස්ථවිරයන් වහන්සේ ඉදෙද්දි අනික් භික්ෂූන් එතනින් නොයා කීප නමක් හෝ වැඩ සිටිය යුතු බවත් සඳහන් වෙනවා.

7. <u>භත්තග්ග වත</u>

දායකයන් දන් දෙන ස්ථානවලදී භික්ෂූන් පිළිපැදිය යුතු ආකාරය භත්තග්ග වත කියල හඳුන්වනවා. දානය පූජා කරන තැනට යන්න කාලය දැන්වුවාම සිවුරු පෙරව ගෙන සේඛියා සික පද අනුව වැඩිමහල් පිළිවෙලින් සංවරව වඩින්න ඕන. දාන ශාලාවේ අසුන් ගන්න කොට ස්ථවිර භික්ෂූන්ට වඩා ළං නොවී නවක භික්ෂූන්ට බාධා නොවන විදිහට වාඩි වෙන්න ඕන. වාඩි වෙන කොට ස්ථවිරයන් වහන්සේට සහ අන්‍යයන්ට තියෙන ආසන සමාන නම්, මහ තෙරුන් ළඟින් අසුනක් දෙකක් ඉඩ හැරල සෙසු අය වාඩි වෙන්න ඕන. ඒ විදිහට ආසන හරින්න ඉඩ මදි නම් සංඝ ස්ථවිරයන් වහන්සේගෙන් අවසර අරගෙන වාඩි වෙන්න ඕන. සියළු දෙනා වහන්සේට දන් පිළිගන්වල අවසන් වෙන කල් සංඝ ස්ථවිරයන් වහන්සේ නොවළඳා සියළු දෙනාටම දානය බෙදල අවසන් වුනාම වළඳන්න පටන් ගන්න ඕන. වළඳල අවසානයේදි වැඩිමහල් පිළිවෙලින් ආපසු වඩින්න ඕන.

8. <u>ගමික වත</u>

යම් සේනාසනයක වාසය කරල එයින් පිටව යන භික්ෂුව විසින් පිළිපැදිය යුතු ආකාරය මේ නමින් හඳුන්වනවා.

සේනාසනයෙන් පිට වෙලා යන කොට ඒ ස්ථානයේ තියෙන බඩු බාහිරාදිය විනාස නොවන ආකාරයට තැන්පත් කරල, අතු පතු ගාල දොර ජනෙල් වහල භික්ෂූන්ට හෝ ගිහි දායකයෙකුට හෝ සේනාසනය බාර දීල යන්න ඕන.

ආවාසය වැස්සෙන් තෙමෙනව නම්, පුළුවන් නම් සකස් කරල නොතෙමෙන තැනක බඩු භාණ්ඩ තැන්පත් කරල යන්න ඕන. මේ ආකාරයට කටයුතු කිරීමට හේතුව තමයි බුදුන් වහන්සේ භික්ෂූන්ට විනය සික්ෂාවක් විදිහට ''න භික්ඛවේ සද්ධාදෙය්‍යං විනිපාතේ තබ්බං, යෝ විනිපාතෙය්‍ය ආපත්ති දුක්කටස්ස'' මහණෙනි, ගිහි පිංවතුන් ශ්‍රද්ධාවෙන් පූජා කළ දේවල් විනාස වෙන්න ඉඩ නොතැබිය යුතු බව වදාරළ තිබීම. ඒ නිසා සෙනසුනෙන් බැහැර වෙන කොට බඩු මුට්ටු ආදිය සුරක්ෂිත වෙන ආකාරයට කටයුතු සිදු කරල, සෙනසුනෙන් පිටත් වෙන්න ඕන.

ඒ කාලෙ ගිහි පින්වතුන් භික්ෂූන් වහන්සේලාට නොයෙක් දේවල් පූජා කරන කොට, උන් වහන්සේලාගේ පරිහරණයට අයිති නැති (අකැප) කවිච්චි, උස් ආසන, මහා ආසන ආදියත් තිබුණා. එහෙම නැත්නම් පරිහරණය කරන්න අවශ්‍ය නැති භාණ්ඩ තිබුණා. ඒ වගේ දේවල් තැන්පත් කරල තියන්න වෙනම කුටියක් හදල තිබුණා. ඒ පූජා කරන භාණ්ඩ පරිහරණය නොකළත් ඒවා කඩල බිඳල දාන්නෙ නෑ. අර වගේ කුටියක් හදල ඒකෙ තැන්පත් කරනවා. පොත් ගුල කියල හැදුවෙත් ඒ වගේ දෙයක් තමයි. පොත් ගුලේ එක පැත්තක් ලොකුවට හදල ඒ පැත්තෙ පූජා කරපු බඩු මුට්ටු තැන්පත් කරනවා. එහෙම නැත්නම් ධර්ම ශාලාවෙ පැත්තකට දාල තියෙනවා.

ඊළඟට ජන්තාඝර කියල වතක් විනයේ තිබුණත් අද ජන්තාඝර නැති නිසා ඒ පිළිබඳ විස්තර කරන්න අවශ්‍ය නෑ. ජන්තාඝර කියන්නෙ ගිනි තපින්න හදපු ගෙයක්. ගිනිහල් ගෙටත් ජන්තාඝරය කියල කියනවා.

10. වච්ඡ කුටි වත

වච්ඡ කුටිය කියන්නෙ වැසිකිලිය. බොහෝ කටයුතුවලදි වැඩිමහල් භික්ෂූන්ට මුල් තැන දීම බුද්ධ සාසනයේ සිරිතක්. නමුත් වැසිකිළියට පිවිසෙන්න ඕන වැඩිමහල් පිළිවෙලට නෙවෙයි, පැමිණි පිළිවෙලට. කැසි කිළියට, නාන ස්ථානයට එන්නෙත් පැමිණි පිලිවෙලට මිසක් වැඩිමහල් පිළිවෙලට නෙවෙයි. වැසිකිලියට යන කොට ඇතුලෙ තව කෙනෙක් ඉන්නවද නැත්ද කියල දැන ගන්න, එළියේ සිට කැරීම හෝ දොරට තට්ටු කිරීම කරන්න ඕන. ඇතුලෙ කෙනෙක් සිටින බව දන්වන්න, වැසිකිළියෙ සිටින කෙනාත් උගුර පාදන්න ඕන.

වැසිකිළිය ළඟ සිවුර දාන්න තියෙන වැලේ හෝ දණ්ඩෙහි සිවුර දමල වැසිකිළියට යන්න ඕන. වැසිකිළි පාදුකාව (පෝච්චිය) උඩට පැමිණෙන්න පෙර අඳනය ඉස්සීම නොකළ යුතුයි. ශබ්ද නැගෙන විදිහට වැසිකිළි කෘත්‍ය කිරීම, දැහැටි හැපීම (දත් මැදීම) වගේ දේවල් නොකළ යුතුයි. වැසිකිළි පෝච්චිය උඩ ඉඳගෙනම අඳනය පහත දමල මිසක් එළියට නොපැමිණිය යුතුයි. ඒ වගේම පෝච්චියට ගත් වතුර ඉතිරි නොකළ යුතුයි.

මේ වගේ ජලය පිළිබඳ ගැටළුවක් මුල් කර ගෙන බුද්ධ කාලයේ ධර්මධර විනයධර භික්ෂූන් දෙනමක් නිසා සංඝයාත් දෙකට බෙදිල වාද විවාද කර ගත්තා. බුදු රජාණන් වහන්සේ මේ භික්ෂූන්ට සමගි වෙන්න අවවාද කළත්, ඒකටත් ඇහුම්කන් දුන්නෙ නැති නිසා උන් වහන්සේ හුදකලාවම පාරිලෙය්‍ය වනයට වැඩියා.

වැසිකිළියට ජලය අවශ්‍ය වෙලා තියේ නම් ගෙනත් තැබීම, වැසිකිළිය අපවිත්‍ර වෙලා තියේ නම් පිරිසිදු කිරීම කරන්න ඕන. තමන් නිසා අපවිත්‍ර වුනොත් ඒක තව කෙනෙකුට සුද්ධ කරන්න ඉඩ තියන්නෙ නැතිව, තමන් විසින්ම පිරිසිදු කරන්න පැවිද්දා වග බලා ගන්න ඕන. ඒ වගේම වැසිකිළිය අවට කුණු කසල තියෙනව නම් ඒවා ඇමදල පිරිසිදු කරන්නත් අමතක නොකළ යුතුයි.

11. ආචාර්ය වත

නිශ්‍රයාචාර්ය, ප්‍රවෘජ්‍යාචාර්ය, උපසම්පදාචාර්ය, ධර්මාචාර්ය කියල ආචාර්යවරු හතර දෙනෙක් ඉන්නවා. උපාධ්‍යායන් වහන්සේගෙන් වෙන්ව වාසය කරන අය යම් භික්ෂුවක් ආචාර්ය තනතුරේ තියාගන්න ඕන. නිස්සයාචාර්ය කියන්නෙ ඒ විදිහට තියා ගන්න ගුරුවරයට.

පැවිදි වෙන කොට සරණ සමාදානය කරවන, අනිකුත් අවශ්‍ය දේ කියා දෙන කෙනා ප්‍රවෘජ්‍යාචාර්ය කියල හැඳින්වෙනවා. උපසම්පදා කරන කොට අනුසාසනා කරන, කර්ම වාක්‍ය කියන ආචාර්යවරයා උපසම්පදාචාර්ය කියල හඳුන්වනවා. ධර්ම විනය දෙක උගන්වන ගුරුවරයා ධර්මාචාර්ය කියල හඳුන්වනවා. මේ සියළු ආචාර්යවරුන්ට වත් කිරීම අන්තේවාසිකයන්ගෙ වගකීමක්. ඒ ගුරුවරයා ඇසුරේ වෙසෙන කාලයේ පමණක් නිස්සයාචාර්ය වත් කිරීම ප්‍රමාණවත්. ඊළඟට පැහැදිලි කරන්න බලාපොරොත්තු වෙන උපාධ්‍යායන් වහන්සේට කරන වත් පිළිවෙත් ආචාර්යවරුන්ටත් කරන්න ඕන.



12. උපාධ්‍යාය වත

වත්වල ප්‍රධාන වත තමයි මේ. ශිෂ්‍යයාගේ කුඩා, මහත් වරද සොයා බලල අවවාද අනුසාසනයෙන් ගෝලයන් හික්මවන ආචාර්යවරයා තමයි උපාධ්‍යායන් වහන්සේ කියන්නෙ. උපජ්ඣායො මේ භන්තේ හෝහි - මේ මගේ උපාධ්‍යායන් වහන්සේ කියල, උපාධ්‍යාය ග්‍රහණය කර ගෙන උන්වහන්සේ ඇසුරේ අවවාද අනුසාසනා ලබමින් සද්ධි විහාරිකයා කටයුතු කරන්න ඕන. සද්ධි විහාරිකයා කියන්නෙ අවවාද ලබමින් හික්මෙන කෙනා. ඔහු විසින් කළ යුතු වත් පිළිවෙත් තමයි මේ.

සද්ධි විහාරිකයා විසින් කලින් අවදි වෙලා උපාධ්‍යායන් වහන්සේගෙ කැමැත්ත පරිදි දැහැටි, මුව දෝනා පැන් පිළිගන්වන්න ඕන. උපාධ්‍යායන් වහන්සේ වෙසෙන ආවාසය, මිදුල, වැසිකිළි, කැසිකිළි ආදිය අතු ගාල පිරිසිදු කරන්න ඕන. කැඳ, බත් ආදිය තියේ නම් ඒවා පිළිගන්වල, වළඳල අවසන් වුනාම ඒ භාජන සෝදල තැන්පත් කරල වළඳපු තැන සුද්ධ පවිත්‍ර කරන්න ඕන.

උපාධ්‍යායන් වහන්සේ ගමට පිඬු සිඟා වඩිනව නම් පාත්‍ර සිවුරු පිළිගන්වල, උන් වහන්සේ කැමති නම් ඒ සමග තමාත් පිණ්ඩපාතෙ යන්න ඕන. පිඬු සිඟා ගත්තට පස්සෙ තමන් පළමුව විහාරයට ඇවිත් පා සිවුරු තියල උපාධ්‍යායන් වහන්සේ වඩින පෙර මගට ගිහින් පාත්‍ර සිවුරු පිළිගන්න ඕන. පා සේදීමට පැන් තැබීම, අසුන් පැනවීම, පැන් පිළිගැන්වීම සිදු කරල උපාධ්‍යායන් වහන්සේගෙ වත් සිද්ධ කරල තමන්ට වැළඳීමට කාලය තියෙනව නම්, ගුරුවරයා දානය වළඳන කල් ඉඳල පාත්‍රාදිය සෝදල තැන්පත් කරල තමන් දානය වළඳන්න ඕන. කාලය ඉක්ම යාමට ළං වෙලා තියේ නම් තමනුත් දානෙ වළඳල අවසන් වෙලා ඉතිරි වත් සිදු කරන්න ඕන.

සිවුරු නමල තැන්පත් කිරීම, සිවුරු තෙත නම් වේලල නවල තැන්පත් කිරීම ආදිය සිද්ධ කරන්න ඕන. ගුරුවරයා ආරාමයෙන් බැහැරව ගිහින් ආපසු එන කොට පාත්‍ර සිවුරු පිළිගැන්වීම, පැන් ගිලන් පස සකස් කරල දීම.... ආදිය සිද්ධ කරන්න ඕන. ගුරුවරයා කතා කරන කොට කතාව අවසන් කරන්න පෙර, අතරට කතා කරන්න යාම සුදුසු නෑ.

ස්නානය කිරීමට කැමති අවස්ථාවල උණු පැන්, සිසිල් පැන් සකස් කරල නාන කඩය, තුවාය ආදී උපකරණ නාන තැනට ගෙන යාම, ගුරුවරයා කැමති නම් නැවීම, ඇඟ ඇතිල්ලීම කරන්න ඕන. ස්නානය කළාට පස්සෙ ජල සාටක (නාන කඩය) ආදිය විහාරයට ගෙන ගිහින් වේලල තැන්පත් කරල තියන්න ඕන.

ගුරුවරයා සිවුරු හෝදන්න කියල දන්වුවොත් ඒවා හෝදල වේලල තැන්පත් කරන්න ඕන. සිවුරු පඬු පොවන්න තියේ නම් ඒක කරන්නත්, ගුරුවරයා කරනව නම් ඒවාට උදව් කිරීමත් සද්ධි විහාරිකයාට අයිති වගකීමක්.

උපාධ්‍යායන් වහන්සේගෙන් අවසරයක් නැතිව අහිතවත් වෙනත් අයට පාත්‍ර සිවුරු ආදිය දීම, ඔවුන් දෙන ☞

දේවල් ගැනීම, ඔවුන්ට වත් කිරීම, ඔවුන් ලවා වත් කරවා ගැනීම, ඔවුන් හා ගමන් බිමන් යාම ආදිය නොකිරීමට මතක තියා ගන්න ඕන.

උපාධ්‍යායන් වහන්සේගෙන් අවසර නොගෙන ගමන් බිමන් යාම නොකළ යුතුයි. ගුරුවරයා රෝගාතුර වුනොත් දිවි හිමියෙන් ඇප උපස්ථානාදිය කරන්න ඕන. එක් උපාධ්‍යායන් වහන්සේ නමකට බොහෝ ගෝලයන් ඉන්නව නම් වත් බෙදා ගෙන කරන්න ඕන. යම් සද්ධි විහාරිකයෙක් හෝ කීප දෙනෙක්, වත් බාර ගෙන කරනව නම් සෙසු අය, වත් නොකිරීමෙන් වරදක් සිද්ධ වෙන්නෙ නෑ.

13, 14 සද්ධි විහාරික අන්තේවාසික වත්

යම් කිසි ස්ථවිර කෙනෙක්ගෙන් උපාධ්‍යාය ග්‍රහණය කර ගෙන වාසය කරන සාමණේර, උපසම්පන්න ශිෂ්‍යයා සද්ධි විහාරික කියල හඳුන්වනවා. යම් ස්ථවිර කෙනෙකුගෙන් නිස ගෙන සිටින කෙනාත්, අවවාද අනුසාසනා ලබල පැවිදි වෙච්ච කෙනාත්, යම් කිසි භික්ෂුවක් විසින් කර්ම වාක්‍ය කියල උපසම්පදා කරපු කෙනාත්, යම් භික්ෂුවකගෙන් ධර්මය ඉගෙන ගත් කෙනාත් අන්තේවාසික (අත වැසි) කියල හඳුන්වනවා. මේ අයගෙන් පළමු කෙනා නිස්සයාන්තේවාසික කියලත්, දෙවැන්නා ප්‍රව්‍රජ්‍යාන්තේවාසික කියලත්, තුන් වැන්නා උපසම්පදාන්තේවාසික කියලත්, අවසාන කෙනා ධර්මාන්තේවාසික කියලත් හඳුන්වනවා.

නිස ගන්නව කියන්නෙ, කුමක් සඳහා ද ඔබ මා ළඟ නැවතිලා ඉන්නෙ, මා ළඟට ආවෙ... ආදී වශයෙන් ඇහුවම, අහවල් කාරණය නිසා කියල උත්තර දුන්නම, ඒ කාරණය පිළිගැනීම. ඒ කියන්නෙ නිකං හේතුවක් නැතිව ඉන්න අයිතියක් නෑ. මොකක් නිසාද කියල ඇහුවම, ඔබ වහන්සේගෙන් ධර්මය ඉගෙන ගන්න ආවෙ, සංවර වෙන්න ඔබ වහන්සේගෙන් උපදෙස් ගන්න ආවෙ ... ආදී වශයෙන් උත්තර දුන්නම ඒක පිළි අරගෙන, ආ එහෙනම් ඉන්න කියල කිව්වොත් නිස ගත්ත වෙනවා. එතකොට තමයි අන්තේවාසික වෙන්නෙ.

සද්ධි විහාරික කියන වචනය කිව්වට හරි වචනය තමයි සෘද්ධි විහාරික. සෘද්ධි කියන්නෙ ළඟ වාසයේ තියා ගෙන කටයුතු කාර්යක්ෂමව ක්‍රියාත්මක කරනවා, ප්‍රගුණ කරනවා කියන අර්ථය. විහාරික කිව්වම උන් වහන්සේ තමයි ඒක කරවන්නෙ. එතකොට සද්ධි විහාරික භික්ෂුව කියන්නෙ නායක හාමුදුරුවො. අන්තේවාසික කියන්නෙ ගෝලයා. ගෝල හාමුදුරුවො හදන හැටි තමයි මේ කියන්නෙ. තිස්ස / දත්ත කියන්නෙත් එදා ඒ වගෙ තිබිච්ච නම් දෙකක්. තිස්ස කියන්නෙ ගෝල හාමුදුරුවන්ට. දත්ත කියන්නෙ දූනුමැති ගුරු හාමුදුරුවන්ට. විශේෂයෙන් පෝය කරන කොට පෝය සීමාවෙදි තමයි ඒ නම් දෙක ගන්නෙ. ඒ වෙලාවට පුද්ගලික නම් නොකියා මේ නම් දෙකෙන් හඳුන්වනවා.

ආචාර්ය උපාධ්‍යායන්ට වත් කළා වගේ ගුරුවරයා විසින් ගෝලයාටත් යුතුකම් ඉටු කරන්න ඕන. ඕනෑම සමාජයක යුතුකම් වගකීම් තියෙනව වගේම සාසනයෙත් අන්‍යෝන්‍ය වශයෙන් වගකීම් තියෙනවා.

ආචාර්ය උපාධ්‍යායන් වහන්සේලා තමන්ගෙ ගෝලයන්ට ධර්ම විනය දෙක කියා දීමත්, වරදක් වුනාම අවවාද කිරීමත්, නැවත ඒ වරදට නොපැමිණෙන ලෙස අනුග්‍රහ කිරීමත් කරන්න ඕන. ශිෂ්‍යයාට පාත්‍ර චීවරාදී පරිෂ්කාරවලින් යමක් නැත්නම් සහ ආචාර්යවරයා ළඟ තියේ නම් ඒවා ශිෂ්‍යයාට දෙන්න ඕන. තමන් ළඟ නැත්නම් සොයා දීමට හෝ උනන්දු වෙන්න ඕන. ගෝලයාට බුද්ධ සාසනය කෙරෙහි හෝ පැවිදි ජීවිතය ගැන හෝ කලකිරීමක් ඇති වුනොත්, කරුණු පැහැදිලි කරල දීල ඒක දුරු කරන්න කටයුතු කරන්න ඕන.

තමන්ට ඒක කරන්න දක්ෂතාවයක් නැත්නම් වෙන කෙනෙක් ලවා හෝ ඒක කරවන්න ඕන. යම් කිසි කරුණක් ගැන සැකයක්, දෘෂ්ටියක් ඇති වුනොත් ඒක දුරු කර ගන්න අනුසාසනා කරන්න ඕන. සිවුරු කැපීම, මැසීම, පඬු පෙවීම, සේදීම ආදිය කරන හැටි උගන්වන්න ඕන. ගෝලයා රෝගාබාධවලින් ගිලන් වුනොත් අවශ්‍ය කටයුතු කරන්න ඕන.

වර්තමානයේ මේ ගුරු ගෝල සම්බන්ධතා බොහෝ දුරස්ව ඇති බව පෙනී යනවා. සමහර අය පැවිදි වෙලා නොබෝ දිනකින්ම ගුරු ඇසුරෙන් තොරව නොයෙක් තැන්වලට ගිහින් තමන්ගෙ අභිමතය පරිදි කටයුතු කරන්න පෙළඹෙනවා. පැවිදි ජීවිතයේ කිසි අත්දැකීමක් නැතිව කටයුතු කරන්න ගිහින් සමහරු අමාරුවේ වැටිච්ච අවස්ථාත් තියෙනවා. උපසම්පදා භික්ෂුව පවා වසර 5 ක් ගුරු ඇසුරේ ඉන්න ඕන කියල විනයේ පෙන්වා තියෙනවා. නමුත් සමහර අය සාමණේර භූමියේ ඉඳගෙනම පැවිදි වෙලා මාසෙන් දෙකෙන් ගුරුවරයා අතහැර ගිහින් සිවුරු අත් හැරපු අවස්ථාත් තියෙන බව අපේ අත්දැකීම් අනුව කියන්න පුළුවන්. ඒ නිසා පැවිදි බවට පත්වන නවකයන් ගුරු ඇසුරේ ඉඳගෙන අවශ්‍ය වත් පිළිවෙත්, ධර්ම විනය මැනවින් දැන ගෙන පරිණත භාවයට පත් වුනාම ගුරුවරයගෙන් වෙන් වෙලා කටයුතු කරන්න මතක තියාගන්න ඕන.

දැන් මේ වගේ වත් පිළිවෙත් ගැන කිව්වම කෙනෙකුට හිතෙන්න පුළුවන්, අනේ මහණ වෙලා ඔය කියන විදිහට ඉන්න ගියාම මොන තරම් හිරිහැරයක්ද, හිරවීමක්ද කියල. හරියට නිකං නවක වදයක් වගේ හිතෙන්න පුළුවන්. නමුත් ඒ විස්තර අහල මහ ලොකු අමාරු දෙයක් වගේ පෙනුනට කාය, වචී, මනෝ සංවරත්වය ඇති වෙන කොට ඒ සියලු වත් පිළිවෙත් ආයාසයකින් තොරව ඉබේම සිද්ධ වෙනවා. උදාහරණ විදිහට එහෙම සංවරත්වයක් ඇති වුනොත්, වට පිට නොබල බිම බලාගෙන යන්න කියල අමුතුවෙන් කියන්න අවශ්‍ය නෑ. මොකද වට පිට බලල මේ ලෝකයෙන් ගන්න හරයක් නැත්නම් බිම බලාගෙන යනව මිසක් කොහොමත් වට පිට බැලෙන්නෙ නෑ. ඒ වගේම ලෝකය ගැන හොයන දෙතිස් කතාවල හරයක් නැති බව දැන ගත්තම ඒවායින් ඉබේම වළකිනවා. ඒ නිසා මහ ලොකු විස්තරයක් තිබුනට ඒවා දහම් අවබෝධයත් එක්ක ඉබේම සිද්ධ වෙනවා. ඒ සඳහා අමුතු උත්සාහයක් ගන්න අවශ්‍ය නෑ. සංවර වෙච්ච භික්ෂූන් වහන්සේගෙ ස්වභාවයත් ඒකයි. ධර්මතාවයෙන්ම ඒකට හැඩ ගැහෙන කොට ඒක තමයි පහසුම ක්‍රමය. නමුත් අද ඉන්න හුඟ දෙනෙකුට දහම් අවබෝධයක් නැති නිසා තමයි මේ වත් පිළිවෙත් මහ වදයක් විදිහට පේන්නෙ.

මේකට හොඳ උපමාවක් තමයි අජානීය අශ්වයා සහ කොටළුවා. අජානීය අශ්වයයි, කොටළුවයි එක තැන බැඳල තියන්න බෑ. මොකද කොටළුවට අජානීය අශ්වයගෙ හික්මීම නෑ. නිකං හතර අතේ දඟලනවා. අජානීය අශ්වයා යම් කිසි පුරුදු පුහුණු කරපු ක්‍රමයකට අත පය ගෙනියමින් සරඹ කරන කොට ඒ ක්‍රමය කොටළුවාට නෑ. අජානීය අශ්වයා නිතරම ඉන්නෙ හුරු වෙච්ච ක්‍රමානුකූල ක්‍රමයකට. ඌට ඒක වෙහෙසක් නෙවෙයි, පහසුවක්. ඒ වගේ භික්ෂූන් වහන්සේ නමක් වුනත් කොටළුවෙක් වගේ හිටියොත් කිසිම චාරයක් නෑ, හැම තැනම කෑ ගහ ගහ විකාර කරනවා. අජානීය අශ්වයා වගේ හිටියොත් සංවරත්වය ඇති වෙලා නිවන් මාර්ගය පූර්ණ වෙනවා.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නීග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**

# පිළිස්සුම් තුවාලවලට ප්‍රත්‍යක්ෂ තෙලක්...

එහරක අභයරතනාලංකාර හිමියන් බේත් සමාධියෙන් හසු කර ගත්, පිළිස්සුම් තුවාල සමනය කරන ප්‍රත්‍යක්ෂ තෙලක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ. විශේෂයෙන් මේ කාලය වෙන කොට නොයෙක් ගිනි උපද්‍රවයන් නිසා, ඒ වගේම රත් වෙච්ච ද්‍රව්‍යයන් නිසා දරුණු පිළිස්සුම් තුවාල ලබල රෝහල් ගත කරන අය බහුල වෙලා තියෙනවා. ඒ වගේ අවස්ථාවකදි වැඩි වියදමක් මහන්සියක් නැතිව, කිසිම අතුරු ආබාධයක් නැතිව සකස් කර ගෙන පාවිච්චි කරන්න පුළුවන්, ඒ වගේම ඉතා ඉක්මනින් ප්‍රතිඵල ලබන්නත් පුළුවන් තෙලක් තමයි මේ.

මේ සඳහා අමුද්‍රව්‍ය විදිහට අවශ්‍ය වෙන්නෙ පොතු ඇර ගත් කෝමාරිකා මද කිලෝ ග්‍රෑම් 2 යි, පිරිසිදු එළඟි තෙල් බෝතල් 1 යි, සූදුරු කුඩු ග්‍රෑම් 100 යි, කළුදුරු කුඩු ග්‍රෑම් 100 යි. හැබැයි මේ කිව්වෙ අනුපාතයක්. ඒ නිසා මේ ප්‍රමාණයන්ගෙන් සමහර අමුද්‍රව්‍ය හොයා ගන්න අපහසු නම්, මේ අනුපාතයම එන විදිහට අවශ්‍ය ප්‍රමාණයක් ගන්න පුළුවන්. උදාහරණ විදිහට කෝමාරිකා මද කිලෝ 2 ක් හොයා ගන්න අපහසු නම් ග්‍රෑම් 500 ක් ගන්න පුළුවන්. එතකොට අර අනුපාතය එන විදිහට එළඟි තෙල් බෝතල් 1/4 යි, සූදුරු කුඩු ග්‍රෑම් 25 යි, කළුදුරු කුඩු ග්‍රෑම් 25 යි ගන්න ඕන.

දැන් මේ විදිහට ගත්තු අමුද්‍රව්‍ය සියල්ලම එකට අඹරල හොඳට මිශ්‍ර කර ගෙන සෙල්සියස් අංශක 60 පමණ උෂ්ණත්වයේ, තෙත හිඳෙන කල් හිඳවන්න ඕන. දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන් මේ සෙල්සියස් අංශක 60 ක උෂ්ණත්වයක් හරියටම ගන්නෙ කොහොමද කියල. නමුත් මෙතනදි හරියටම උෂ්ණත්වය 60 ක් වෙන්න ඕනම නෑ. ඒ ආසන්න උෂ්ණත්වයක් ගත්තට ගැටළුවක් නෑ. 60 ක් කියන්නෙ සමාධියට ආපු ගණන. ඒක කෙස් ගහටම එන එකක් නෙවෙයි.












සාමාන්‍යයෙන් අතර මැදි ගණනක් තමයි එන්නෙ. මෙතනදි විශේෂයෙන් කියන්නෙ සෙල්සියස් අංශක 100 ක් වගේ නටන උෂ්ණත්වයක් සුදුසු නෑ කියල. ඒ වගේම සෙල්සියස් අංශක 60 ක උෂ්ණත්වය හරියටම ගන්න පුළුවන් උපකරණත් අද තියෙනවා. ඒ කියන්නෙ විදුලි උදුනක් ගත්තම හරියටම සෙල්සියස් අංශක 60 ක උෂ්ණත්වයට පාලනය කර ගන්න පුළුවන්. එහෙම නැත්නම් ඒ වගේ උෂ්ණත්වය පාලනය කරන උදුනක් හදා ගන්නත් පුළුවන්. සාමාන්‍ය ලිපක වුනත් ගින්දර අඩු වැඩි කරල ඒ ආසන්න උෂ්ණත්වයක් හදා ගන්න පුළුවන්.

ඊළඟට තෙත හිඳුනම දැන ගන්නෙ කොහොමද කියලත් ගැටළුවක් එන්න පුළුවන්. එතකොට වේලිච්ච පොල් කොළ කෑල්ලක් අරගෙන ඒ තෙල් භාජනයට දමල ඒක ගින්දරට අල්ලල පුච්චන කොට, තෙතමනය තවදුරටත් තියේ නම් චිරි චිරි හඬක් එනවා. හරියට තෙත හිඳිල නම් පොල් කොළ කෑල්ල නිකම්ම පිච්චිලා යනවා. ඒ ක්‍රමයට තෙල හරියට හිඳිලද නැද්ද කියල දැන ගන්න පුළුවන්.

එහෙම හින්දෙව්වට පස්සෙ එන තෙල සාමාන්‍යයෙන් ලාටුවක් වගේ. ඒක පෙරන්න දෙයක් නෑ. ඒ කාරමත් එක්කමයි ගන්නෙ. ඒ තෙල උදේ හවස දින කිහිපයක් හෝ අවශ්‍ය තරම් කාලයක් පිළිස්සුම් තුවාලවල ආලේප කිරීමෙන් ඒවා සමනය වෙනවා. පිළිස්සුනු විගස දිය පට්ට එන්න පෙර මේ තෙල ආලේප කිරීමෙන් දිය පට්ට ඒමත් වළකිනවා.

මේ තෙලේ තියෙන ප්‍රත්‍යක්ෂ බව සම්බන්ධයෙන් අභයරතනාලංකාර හිමියන්ම අත්දැකීමක් ලබල තියෙනවා. මීට අවුරුද්දකට පමණ පෙර උන් වහන්සේ උණු ගිලන් පස එකක් පානය කරමින් ඉන්න කොට, ඒක ඇඟ පුරාම විසිරිලා අත පය හැම තැනම පිළිස්සුණා. ඒ වෙන කොටත් හදල තිබ්ච්ච මේ තෙල ආලේප කිරීමෙන් දින 2 - 3 ක් ඇතුලත ඒ පිළිස්සුම් තුවාල සම්පූර්ණයෙන්ම සනීප වුන බවත් උන් වහන්සේ ප්‍රකාශ කරනවා.

**සටහන:**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# වාස්තු විද්‍යාවේ හේතු ඵල සම්බන්ධය දහම් ඇසින් ....

11 වන කොටස

වාස්තු විද්‍යානුකූල නිවසක තවත් ප්‍රධාන අංගයක් තමයි වහළ, එහෙම නැත්නම් පියස්ස. නිරුක්ති අර්ථය ගත්තොත් වහගෙන ආලය කරන්න හදා ගත්තු එක තමයි වහළ කියන්නෙ. ප්‍රිය කරන්න අස්සකට යෑම තමයි පියස්ස කියන්නෙ. වචන දෙකෙන්ම කියවෙන්නෙ එකම අර්ථයක්. ඒ කියන්නෙ ආදී බ්‍රහ්ම කල්පික මනුස්සයින් කාමයේ යෙදුනෙ නෑ. සිත කාමයන්ගෙන් බරිත වෙලා තිබුණෙ නෑ. බොහොම නිදහස් මානසිකත්වයක් තිබුනෙ. සිත, කය දෙකම සැහැල්ලුයි. ඒ නිසා ස්වයං ප්‍රභා ආලෝකයත් සමග පාවෙන ශරීර තිබුනෙ. ඒ හේතුවෙන් නිවසක අවශ්‍යතාවයක් තිබුනෙත් නෑ. නමුත් පසුකාලීනව ක්‍රමයෙන් රස පොළොවට ගිජු වෙලා කාමයන්ගෙන් බරිත වීම නිසා, අර තිබ්බ්ච සැහැල්ලු ශරීර ඝනීභවන වෙලා ගැහැණු පිරිමි වශයෙන් ලිංග ලක්ෂණ පහළ වෙලා එකිනෙකා කාමයේ යෙදෙන්න පටන් ගත්තා. ඉතින් ප්‍රසිද්ධියේ ඒ කාම සම්භෝගයේ යෙදෙන කොට ඒකට අකමැති පිරිස් හූ කියන්න, ලැජ්ජා කරන්න, ගරහන්න පටන් ගත්තු නිසා ඒකෙන් වළකින්න තමයි වහළක් / පියස්සක් සහිත ගෙවල් හදාගත්තෙ.







දැන් ඉතින් කොහොම හරි මේ වෙනකොට මහ විසාල පරිවර්තනයක් සිද්ධ වෙලා තියෙන නිසා හැම මනුස්සයෙකුටම ජීවත් වෙන්න නිවසක් අවශ්‍යයි. ඒ නිවසට වහළක් අවශ්‍යයි. වහළ හරහා තමයි එදා තිබ්බ්ච බ්‍රහ්ම කායික මනුස්සයින්ගෙන් පිටවෙච්ච සුද්ධ ශක්තිය නැවත ඇදල දෙන්නෙ. ඒකෙන් කාම ලෝකයේ ගිහි ගෙදරට ගැළපෙන ශක්තිය තමයි ගෘහයකට ඇදෙන්නෙ. විශ්වයේ තියෙන ඒ ශක්තිය ලැබුනෙ නැත්නම්, පෙර පින් තිබුණත් මේ ලෞකික ලෝකයේ මිල මුදල් සම්පත් අතින් දියුණුවක් ලබන්න බෑ. විශේෂයෙන් ඒ කාරණය ගෘහ මූලිකයාට බලපානවා. ඒ නිසා ගෙදරක වහළ වාස්තු විද්‍යානුකූලව නිර්මාණය කරල තිබීම අත්‍යාවශ්‍ය කාරණයක්.

මෙතනදි අද දකින්න තියෙන කාරණයක් තමයි, සමහර ගෙවල්වල වහළ තනි එලයකට නිර්මාණය කර තිබීම. එල දෙකකට හෝ එල හතරකට තියෙන්න ඕන වහළ තනි එලයකට හැදුවම විශ්වයෙන් එන ශක්තිය නිවස ඇතුළට ඇදල ගන්න බැරිව පරාවර්තනය වෙනවා. මොකද ඒ ශක්තිය එති එති රවුමට ඇද ගන්න නම්, වහළ දෙපැත්තෙන්ම යම් කිසි ආනතියකට එල දෙකක් තියෙන්න ඕන. එතකොට එන ශක්තිය දෙපැත්තෙන්ම එතෙනවා. එල හතරක් තිබුණොත් හතර පැත්තෙන්ම ඒ ශක්තිය ඇද ඇදා ඔතල දෙන නිසා තවත් බලවත්. (හැබැයි මේ හැම අවස්ථාවකදිම කුරුපා දෝසය නොඑන්න කුරුපා ඉරට්ටේ සංඛ්‍යාවක් එන විදිහට දාන්න ඕන.) නමුත් තනි එලයකට වහළ හැදුවම ඒ එන ශක්තිය එතෙන්න විදියක් නෑ.

දැන් මේ වගේ අඩුපාඩු සහිතව වහළ හැදුවම විශේෂයෙන් ඒ ගෙදරට එන ලැබීම් අඩු වෙනවා. තනි එලයේ වහළ ගහපු ගෙවල් හොඳින් සෝදිසි කරල බැලුවොත් මේ කාරණය දැන ගන්න පුළුවන්. වහළ ගහල ඉවර වුනාට පස්සෙ ඒ වෙනකල් තිබ්බ්ච මුදල් ටිකත් ඉවරයි. ඊට පස්සෙ නිකං යන්තම් කාල බීල ඉන්න විතරයි මුදල් ලැබෙන්නෙ. හරියට නිකන් අභිකුණ්ඨිකයො වගේ. ඒ වගේ නිවසක් පිටින් බැලුවමත් එච්චර ප්‍රියමනාප ස්වභාවයක් නෑ. ලැබීම් තමයි එතනදි ප්‍රධාන වශයෙන් අඩු වෙන්නෙ. ඒක හැම තැනම අත්දකින්න තියෙන දෙයක්. ඒවත් ඉතින් කර්ම විපාක අනුවම තමයි ප්‍රධාන වශයෙන් සකස් වෙන්නෙ. මෙතනදි ''එල දීම'' තමයි ''එලය'' කියන්නෙ. හේතුවේ එලය කියන එකම තමයි මේ කියන්නෙ. ඒ කියන්නෙ අපි ගොඩ නගපු හේතුවට අනුව ලැබෙන එලය. එලය පිහිටන්නෙත් ඒ අනුවම තමයි.

විශේෂයෙන් හුඟක් ඈත අතීත කාලයේ මේ තනි එලයේ වහළ තිබිල තියෙන්නෙ ලෝක සම්මතයේ අඩු කුලයේ උදවියට. ඒ අයට එදා හිටපු වංශක්කාර පාලකයො සම එලයක් ගන්න දුන්නෙ නෑ. තහනම් කරල තිබුනෙ. මොකද සම වෙන්න හදනව කියල. ඒ නිසා එල භාගයයි හදන්න අවසර තිබුනෙ. උසස් ගැළපෙන අයට තමයි එල දෙක සම්පූර්ණ කරන්න ඉඩ දුන්නෙ. ඒ කියන්නෙ ඒ අයත් මොනවහරි ක්‍රමයකට දැනගෙන ඉඳල තියෙනවා, එල දෙකට වහළ ගැහුවම ලැබීම් එන බව. ඉතින් ලෝක ☞

සම්මතයේ අඩු කුලයේ අයට ලැබීම් ආවම තමන්ට තියෙන තත්ත්වය නැතිවෙයි කියන බියට වෙන්න ඇති එහෙම තහනමක් පනවන්න ඇත්තෙ. එතකොට අද වුනත් මුදල් හදල් තියෙන කෙනෙක් තනි ඵලයට වහළ ගැහුවොත් වස්තු හංග වෙන්න ඒ කාරණය බලපානවා. මොකද පෙර පින හෙවත් අනන්තරය විතරක් තිබුනට මදි. ඒක ඇදල ඇවිත් ඵල දෙන්න නම්, දූන් බාහිර පරිසරය හෙවත් සමනන්තරයත් ගැලපිලා තියෙන්න ඕන. තනි ඵලයට වහළ ගැහුවම ඒ පුණ්‍ය ශක්තිය ඇදිල එන්න විදියක් නැතිව යනවා. ඊට අදාළ කිරණ ශක්තිය පරාවර්තනය වෙනවා.

විශේෂයෙන් පැරණි කාලයේ ඉඳන් එන කතාවක් තමයි, තනි ඵලයට වහළ හදපු නිවසක දවල්ට හිටියත් රෑට නිදා ගන්න එපා කියල. මොකද මනුස්සයෙක් දවස පුරා වැඩ කරල වෙහෙස මහන්සි වෙලා ක්‍ෂය වෙච්ච ශක්තිය නැවත ඇදල ගන්නෙ නින්දෙදි. එතකොට නින්දෙදි ගන්නෙත් විශ්වයෙන් එන කොස්මික් කිරණ... ආදී හොඳ ශක්තිය. ඒ ශක්තිය එන්න නම් වහළ අර කියපු විදිහට වාස්තු විද්‍යානුකූලව තියෙන්න ඕන. තනි ඵලයේ වහළකින් ඒ ශක්තිය අදින්නෙ නැති නිසා, ඒවායේ නිදා ගත්තොත් නිකං ඇලි මැලි ගතිත් එක්ක උදාසීන ස්වභාවයක් තමයි පෙන්නුම් කරන්නෙ. ව්‍යාපාරයක් කරන කෙනෙක් නම් ඒ ව්‍යාපාරය බිඳ වැටෙන්නත් ඒක හේතු වෙන්න පුළුවන්.

දූන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, අද තියෙන ඉඩකඩ තදබදය නිසා, අධික වියදම නිසා වහළ වෙනුවට ඝන කොන්ක්‍රීට් තහඩුවක් (ස්ලැබ් එකක්) දාපු ගෙවල්වල ඔය කියන විදියට වහළක් නැති කාරණය බලපාන්නෙ නැත්ද කියල. නමුත් එතනදි එන මූල ධර්මය ගත්තොත් වාස්තු





විද්‍යාව අනුව නිවසක තියෙන වාස්තු සිද්ධාන්තවලින් බාහිරයි. බොහෝ විට වහළ වෙනුවට, උඩින් කොන්ක්‍රීට් එකක් දාගෙන බාගෙට හදා ගෙන ඉන්න ගෙවල් එතනින් එහාට හැදෙන්නෙ නෑ. නිකං එක තැන පල්වෙන ස්වභාවයක් තමයි තියෙන්නෙ. ඒ විදියට ගෙදර බාගෙට හදාගෙන අවුරුදු ගණන් ඔහේ නිකං තියෙනවා. මොකද වහළ නැති නිසා එතනින් එහාට ශක්තිය එන්නෙ නෑ. වහළක් නොගහ පදිංචි වෙලා හිටියට වාස්තු විද්‍යාව අනුව සඵලතාවය බොහොම අඩුයි. නිකං පැතලියට තියෙන නිසා අර ශක්තිය ඇදල ගන්න විදියක් නෑ, ඒ විශ්ව කිරණ අවශ්‍ය ප්‍රමාණයට ඇතුළට ඇදල ගන්නෙ නෑ, වහළකින් ඇදල එකතු කරල දෙන මට්ටමේ කිරණ ශක්තියක් එතන නෑ. නමුත් බොහෝ කොටම මේ වගේ ගෙවල්වල මතුවට වහළ ගහන්න බලාපොරොත්තුවෙන් තමයි ඉන්නෙ. තවම හදල ඉවර නෑ. නමුත් ඒ හේතුවෙන්ම ලැබීම් අඩු වෙලා වැඩේ දිග්ගැස්සෙනවා. ඒ නිසා කොන්ක්‍රීට් තහඩුවක් දාල තියේ නම් පුළුවන් තරම් ඉක්මනට තාවකාලිකව හෝ වහළක් හදා ගැනීම තමයි කරන්න ඕන.

මොකද කොහේ තිබුණත් උඩම තියෙන වහළෙන් තමයි ප්‍රධාන ශක්තිය ඇදල ගන්නෙ. ඒ නිසා ගෙදර හදල ඉවර කරන්න කල් යනව නම් තාවකාලික වහළක් හදා ගැනීම තමයි නියම ක්‍රමය. ඉස්සර මිනිස්සු බොරු වහළක් ගහනව කිව්වෙත් ඒකට. ඒ බොරු වහල ඉස්සෙල්ලම ගහල ඒක ඇතුළෙ ඉඳගෙන තමයි ඉතිරි වැඩ ටික කර ගෙන ගියේ. නමුත් දූන් ඒ ක්‍රම ගණන් ගන්නෙ නෑ.

සටහන:
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 51 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය -**

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ කැළුම් ලංකේශ්වර මහතා - ගාල්ල ♦ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය -**

♦ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ♦ සාරංග දර්ශන මහතා, සුරේඛා නිල්මිණි මහත්මිය, සනුග තිසර අනුහස් පුතා, සේලා මෙත්සුකි දුව - සේදවත්ත - රු.10,500/- ♦ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 10,000/- ♦ එස්.එම්.පී. ජයලත් මහතා ඇතුළු පවුලේ සැම - අලපලාදෙනිය - රු.10,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/-♦ තුසිත නාකන්දල මහතා, සරුපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ♦ රුවන්තිනී වීරතුංග මහත්මිය ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 10,000/- ♦ වසන්ත කොළඹආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - කොට්ටාව - රු. 5,000/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/-♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ♦ සුභාෂ් රණසිංහ මහතා, මධුභාෂිනී ශාලිකා මහත්මිය - මගලෙගොඩ - රු. 5,000/- ♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 5,000/- ♦ වෛද්‍ය තාරක රත්නායක මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු.5,000/- ♦ උදාරා මෙන්ඩිස් මෙනවිය - මොරටුව - රු.5,000/- ♦ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.5,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 4,000/- ♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ♦ කේ.කේ. ජයමණි චන්ද්‍රිකා මහත්මිය - ගාල්ල - රු. 3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ ඩබ්. ප්‍රේමවතී මහත්මිය සහ ඩබ්.ජී. නලින සේකර මහතා - වළල්ලාවිට - රු.2,500/- ♦ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු.2,500/- ♦ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා මහතා - මාරවිල - රු.2,000/- ♦ ෂෙහානි බස්නායක මහත්මිය - මත්තෙගොඩ - රු. 2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000/- ♦ ජයනාත් සුභසිංහ මහතා - හෝමාගම - රු.2,000/- ♦ හර්ෂ ලාල් සමරනායක මහතා සහ ශ්‍රීමතී කල්‍යාණි මිය - හබරක - රු.2,000/-♦ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම- හෝමාගම - රු. 2,000/- ♦ වයි. ගලගෙදර මහතා ඇතුළු පවුලේ සැම - කොට්ටාව - රු.2,000/- ♦ සචින්ත පෙරේරා පුතා - බත්තරමුල්ල - රු. 2,000/- ♦ අසංග සෙනරත් අඹගල මහතා - රදාවාන - රු. 2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු.1,500/- ♦ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ♦ තිලක් විජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මහනුවර - රු. 1,500/- ♦ ජනිඳු බිම්සර පුතා - හඟවත්ත ක.වි. බාඳුරාගොඩ - රු. 1,500/- ♦ එස්.ඩබ්.කේ. ජයතිලක මහතා සහ සුනීතා මහත්මිය - යටත්තාවල - රු. 1,200/- ♦ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු.1,000/- ♦ ඕෂිනී පෙරේරා මහත්මිය සහ නමින්ද ලියනගේ මහතා - නුගේගොඩ - රු.1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ♦ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ග්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/-♦ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/-♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/-♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ♦ අමිල බාලසූරිය මහතා - ඉහළ උඩුගම්පල - රු.1,000/- ♦ ඩබ්. පී. විකුම් පතිරණ මහතා - ගම්පහ - රු.1,000/- ♦ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ♦ සුජාන් කරස්නාගොඩ මහතා - ගම්පහ - රු.1,000/- ♦ ඒ.ඒ.ගීතානි මහත්මිය - මහරගම - රු.1,000/- ♦ චන්ද්‍රලතා සිරිමාන්න මහත්මිය - මීරිගම - රු.1,000/- ♦ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු.1,000/- ♦ ජගත් පෙරේරා මහතා - ඇහැලියගොඩ - රු.1,000/- ♦ ඩබ්.ස්වර්ණලතා මහත්මිය - කඳුබොඩ - රු.1,000/- ♦ ඉන්ද්‍රානි හෙට්ටිආරච්චි මහත්මිය - වෙළගෙදර - රු.1,000/- ♦ අනුරා ජයකොඩි මහත්මිය - වේබඩගල්ල - රු.1,000/- ♦ චන්ද්‍රා පතිරණ මහත්මිය - රු.1,000/- ♦ සමන් දසනායක මහතා, අස්විනි දසනායක දුව සහ සුජාතා සමරකෝන් මහත්මිය - පිළියන්දල - රු.1,000/- ♦ ජී.ඩී.ඩබ්ලිව්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ♦ ගිහාන් චතුරංග මහතා - නිකපෙ - රු.1,000/- ♦ පත්මා ජයනෙත්ති මහත්මිය - නුගේගොඩ - රු.1,000/- ♦ කුසුමා පියසේන මහත්මිය - නුගේගොඩ - රු.1,000/- ♦ ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා - එල්ලක්කල, ප්‍රියන්ත ගුණතිලක මහතා - පිළියන්දල, අසංක ශ්‍රී ලාල් ජයවර්ධන මහතා, පී.ඩී. නයනි නිරෝෂිකා මහත්මිය- මීගොඩ, සජිත් චාමර මහතා - ඇඹිලිපිටිය, කරුණා මහවත්ත මහත්මිය - බෝපෙ, සසිනි ☞

සුරංගිකා එදිරිසිංහ මහත්මිය, ඉනෝකා චිත්‍රාංගනී එදිරිසිංහ මහත්මිය - වහරක, එම්.ජී. දුමින්ද බණ්ඩාර මහතා - යක්කල, මහේෂ් සුරංග සිරිමාන්න මහතා, සුමිත්‍රා හපුආරච්චි මහත්මිය, ගාමිණී සිරිමාන්න මහතා - රදාවාන, හේමා කැකුළාවල මහත්මිය - වැබඩ, එන්.ඩබ්.පී. සුමනරත්න මහතා - වතුපිටිවල, එන්.ජී. ශ්‍යාමා සංජීවනී ගම්ලත් මහත්මිය - කිරිඳිවැල, කොල්ලුපිටිය හේමාස් ආයතනයේ ගයාන් අගලවත්ත මහතා සහ මැණික් කුරුප්පු මහත්මිය, තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, කුසුමාවතී ගුණතිලක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, - කුරුණෑගල, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, චතුර මල්වාන මහතා - කෑගල්ල, බන්දුල සේනාරත්න මහතා - රඹුක්කන, ලලිතා කුමාරි මහත්මිය - මීරිගම, ගුණතුංග මහතා - බොලගම - එකතුව - රු. 12,037/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 234,737/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦ අනෙකුත් වියදම් - 19,790/- ♦ සම්පූර්ණ වියදම - රු. 252,290/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිර පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net
www.aaryadharma.org විද්‍යුත් ලිපිනයඃ webmaster@helabodhupiyuma.net දූ.අංඃ- 071 3046895

**දම් සහා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සැම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

ගමන් මාර්ගයඃ නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථානඃ

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 / 0112744308)
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
5. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
6. පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369
7. සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081
8. ලසන් ට්‍රේඩ්සෙන්ටර් - 8, අලුත්ගොඩ පාර, තිස්සමහාරාමය - 0718523556
9. පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714
10. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023)
11. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098
12. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
13. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
14. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
15. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
16. සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776
17. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# පෙර ගී තලද

## අනිසය
## දුක
## අනත්තය













මනු සත් ලොව ඉපිද මගකදී මුලා වෙලා
මෙහෙමත් කීව අය අසරණ කමක පෙලා
දහමත් සසැඳ දිවියෙහි තුන් කලම බලා
මෙම අත් බවය නිවනෙහි මග මෙනෙහි කළා

තණ්හා ආසාව ලා ඔලොගුවද කරේ
යන්නේ කොයිබටද නොම දැන දැමුව හුරේ
සන්තක පිණිස කුසලය පිරී සියළු වරේ
යන්තම් ගොඩය රැකි තිදොරට වැසුන නිරේ

ඉපදී මැරී යළි ඉපදෙන භවේ දුකා
සැපදී ගෙවෙයි නොසිතූ ලෙස සුවේ තකා
පෙරදී වුවද කළ කම් දෙයි රියේ සකා
වෙරදී නවතලමු අවදානමේ දැකා

දැකුමෙන් නෙත ලැබුව ඉහළම සතුට එදා
අකුරට තිබෙනවද මායා ලොවක සදා
වකුටුව නිදන කල දැනුනිද කයෙහි රුදා
හකු බැස ගියේ ලෝ දහමට නතුව මෙදා

මේ නොනිමෙන ගමන නිවනම පෙනෙන තුරා
ඒ අම්මා පුතුම නොම වෙයි සසර පුරා
මෝහය මතුව එන එම කඩතුරද ඉරා
යා වෙමු නොවිඳි සුව දෙන අම නිවන කරා

ඇම කෑ ලෙස වෙලී වැනසුනි බැඳී පෙම
නොම තේරුන දනා බුදුනගෙ අමා දම
එම උරුමය උපත ලද හැම දෙනාටම
පමණට වඩා හැම දෙයකම නොවේ ඉම

සැරයටියෙන් යනෙන තුරු හිඳ සංසාරේ
සමුගන්නා දාක කර ඇති සංකාරේ
භව මාරුවෙන් අමතක මුත් පිංතූරේ
අමතක නොවේවා බුදු ගුණ ලංකාරේ

ඔබ රාගීව මන කැළඹී යාද හෙට
පිවිතුරු හදවතද පෑරී සසල විට
එම විට පවසමින් මුනි දම් පෙරටු කොට
බුද්ධං සරණමය වෙන කිම ඔබට මට

පබැඳුම - නැදිමාලේ ස්වර්ණා සමරසිංහ

# අනත භව සැරූ

# මම...













අනත භව සැරූ මම
තැනක නතර වී
සිහි කළේ ලොවේ තතු
පෙර නොඇසූ දම් හඬින්
කෙසේ කුමට සැරිසැරුවද නිසරු වූ සසර
වැටහුණි මට හිමියනේ ලෝ සැප දුක දෙන බව...

කඳුළු ගංගා පරදයි සත් සමුදුරු දියට
දිවැස් නැති වුනත් මට නුවණ ඇත හිතන්නට
අනේ වාසනාවන් කොතරම්ද ලොවින් මා
ලොව්තුරු අම සැප අතරේ
මා විඳි සැප කුමක්දෝ...

සියලු සිහින බිඳී ගියා නිසරු වූ ලොවේ
සුසුම් හෙළුව තවත් වරක් නෑ මිතුරන් මතක් වී
කියම්ද උන් හට කෙසේ විඳිනා සුව මා හදේ
වඩිනු මැනවි හිමියනේ
දෙසුමට දම් උන් කෙරේ...

ගායනය/තනු නිර්මාණය/සංගීතය - ඉසුරු ගාල්ලගේ
ගී පද රචනය - නීතිඥ චන්දන සිරිවර්ධන
වීඩියෝ දර්ශන සැකසුම - කමින්ද රාජපක්ෂ
අන්තර්ජාල යොමුව - https://youtu.be/7tsn1ByTCG0

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල විනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.